සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ ඇසළ මස (ව්‍යවහාරික වර්ෂ 2014 ජූලි)

33 වෙනි කලාපය

## දියවැඩියාව නිට්ටාවට සුව කරන ඔසුවක්




රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# වටිනා කාලය ගෙවනා ලෝ දන...

නලා හඬින් දෙවනත් කර හදිස්සියට යන්න හදන
පෙලා දොසින් හෙළන වදන් ලෝකය අල්ලන්න බදන
පලා ගිහින් කල් පිරිමහ ගෙන කිම කරවන්න මෙ දන
බලා ඉතින් අහස් ගව්ව කල් මර මර ඉන්න නොදැන

තත්පර ගණනින් කල් පිරිමහ ගන්නට වෙර දැරුවද
අත් කර ගෙන එම කෙටි කල පැය කීයක් වනසනවද
අත් බැවකට හිමි කෙටි කල මේ විදියට නිකරුණෙ ඉඳ
පත් වෙති සත මරණයටම හරයක් නැති ලෙස නිදි වැද

නැති නම් වැඩ සුරා සුදු දුරාචාර කමට යොදා
ඇති නම් තව කල් ඉතිරිව වැඩකට නැති තරඟ හදා
මැදියම් රැය ගෙවෙනා කල් මධු විත දුම් වැටිය බදා
හති නම් යළි විවේකයක් යහනට වැද ගනිති නිදා

දිනක මෙලෙස නිකරුණෙ වනසන කල් හැම එකතු කළොත්
පණක තියෙන වටිනාකම ගඟට කැපුව ඉනි ලෙස වෙත්
පිනක දමක යෙදවිය යුතු කලෙක අගය නොම දැන මුත්
සැණක මරුව පැමිණෙන විට එල්ලෙයි සත පිදුරු ගහෙත්

බොල් වැඩටම දිවෙනා පුහු දන සිතකට නොඑන අගේ
කල් මරවයි ලොව මනරම් කියමින් එය ලෙසට මගේ
මල් පරවෙන කල් වත් පණ තිර නැති බව නොදැන වගේ
සිල් ගුණ නොපුරා වැනසී කල් යයි භව කතර දිගේ

යනෙන කියන කන බොන නෙක කටයුතු හැම කරන වෙලේ
ගෙවෙන වටින කාලය නිකරුණෙ ඉඳගෙන මොකද කළේ
දැනෙන විටදි සිහියට එය කල් නැත තව වැටිල වලේ
මියෙන මොහොතෙ පසු තැවුනට ගිය නුවණින් නොමැත එලේ

හිස ගිනි ගත්තෙකු පළමුව එ ගිනි නිවන්නට පෙර කල
නිසරුව ලොව සිහි කළ යුතුමය අර ගෙන මුනි දෙසු පෙළ
ඇස නැති උන් මොනවා කීවත් ඒ ගැන හිඳ ලොව තුළ
අසම සමයි හිස ගිනි ගෙන මැරුණත් ගෙන දෙන මහ ඵල

අසුරු සැණක් ගසන විටත් සිහි කළ හොත් ලොව තිලකුණ
නිසරු නොවේ සදහටමත් ගෙන දෙයි මහ ඵල එසැණින
ඇසුරු කළොත් ලැබෙන සැණක් නැණ නුවණින් ගෙන මුනි බණ
ඉසුරු ගෙනේ මතු කලකදි මහ ඵල දෙයි ඉපදෙන තැන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුළින්...

**13 වන කොටස**

දැන් මේ කියන්න යන්නෙ ගෞතම බුදු පියාණන් වහන්සේගෙ ධර්ම භාණ්ඩාගාරික වූ, අග්‍ර උපස්ථායක වූ ආනන්ද මහ රහතන් වහන්සේ ගැන. උන්වහන්සේ ඒ තනතුරුවලට අමතරව තවත් තනතුරු හතරක්ම දරපු උත්තමයෙක්. බහුශ්‍රැත භික්ෂූන් අතරින් අග්‍ර, මනා සිහි ඇති භික්ෂූන් අතරින් අග්‍ර, ස්මෘති ගති ඇති (බොහෝ සේ මතක තබා ගත හැකි) භික්ෂූන් අතරින් අග්‍ර, ධෛර්ය සම්පන්න භික්ෂූන් අතරින් අග්‍ර කියන්නෙ ඒ අමතර තනතුරු 4. (අංගුත්තර නිකාය 1 - ඒතදග්ගපාළි - 49 පිටුව).

ගෞතම බුද්ධ සාසනයේ සියලුම අග්‍ර ශ්‍රාවකයන් වහන්සේලා වගේම උන්වහන්සේත් පෙරුම් පුරන්න පටන් ගත්තෙ දැනට කල්ප ලක්ෂයකට පෙර ලොව පහළ වූ පදුමුත්තර නම් බුදු පියාණන් වහන්සේ වැඩ හිටපු කාලයේ. ඒ කාලෙ රජ කෙනෙක් වෙලා හිටපු ආනන්ද හාමුදුරුවෝ, ඇතු පිටින් බැහැල තමන්ගෙ අතේ තිබිච්ච රත්තරන් ඡත්‍රය පදුමුත්තර බුදු පියාණන් වහන්සේට පූජා කළා. පදුමුත්තර බුදු පියාණන් වහන්සේ ඒ පිංකමේ වටිනාකම සහ ලැබෙන ආනිසංස පෙන්වා දුන්නා. අවසාන අත් බැවේ තොරතුරුත් එක්ක, ඒ කියන්නෙ කල්ප ලක්ෂයකට පසු ගෞතම නමින් ලොව පහළවන සම්මා සම්බුදුවරයන් වහන්සේගෙ සාසනයෙදි ආනන්ද මහ රහතන් වහන්සේ නමින් අරිහත් ඵලයට පත් වෙන බවත් සැළකර සිටියා.

ඉතින් උන්වහන්සේ බුද්ධ ශ්‍රාවකයන් වහන්සේලා අතරින් විශේෂ කෙනෙක්. කලින් සඳහන් කළා වගේ තනතුරු හයක්ම දරපු උත්තමයෙක්. නමුත් විශේෂයෙන් බොහෝ පින්වතුන්ගෙ මතකයට එන්නෙ තනතුරු දෙකයි. එකක් තමයි උන්වහන්සේගෙ ධර්ම ඥානය හෙවත් ධර්ම භාණ්ඩාගාරික කියන තනතුර. අනෙක් තනතුර තමයි අග්‍ර උපස්ථායක තනතුර. ඒ කියන්නෙ බුදු පියාණන් වහන්සේ ළඟ උන්වහන්සේගෙ සෙවනැල්ල වගේ ඉඳගෙන උන්වහන්සේට උපස්ථාන කරපු තනතුර. ඒ තනතුර උන්වහන්සේට ලැබීමත් විශේෂ සිද්ධියක්. බුදු පියාණන් වහන්සේ බුද්ධත්වයට පත් වෙලා වසර විස්සක් යන කල්ම ස්ථිර උපස්ථායකයෙක් හිටියෙ නෑ. එහෙම අවශ්‍යතාවයක් පැන නැඟුන මොහොතෙ සැරියුත් මහ රහතන් වහන්සේ නැගී ඉඳල, ස්වාමීනි මම ඔබ වහන්සේගෙ අග්‍ර ශ්‍රාවක තනතුර පතා ඒකා සංඛ්‍ය කල්ප ලක්ෂයක් පාරමිතා පිරුවා, මම වගේ ප්‍රඥාවන්ත උපස්ථායකයෙක් තමයි ඔබ වහන්සේට සුදුසු වෙන්නෙ කියල චිත්ත ප්‍රසාදයෙන් කියා සිටියා. එතකොට බුදු පියාණන් වහන්සේ සාරිපුත්‍රය, තොපගේ උපස්ථානය සුදුසු නැතැයි කියල ඒ ඉල්ලීම ප්‍රතික්ෂේප කළා. ඒ වගේම අනෙකුත් අරිහතුන් වහන්සේලාත් ඒ සඳහා ඉදිරිපත් වුණා. ඒ තනතුරට ඒ එක් කෙනෙක්වත් සුදුසු අය නෙවෙයි කියල බුදුන් වහන්සේ ඒ සියලුම ශ්‍රාවකයන් වහන්සේලාගේ ඉල්ලීම් ප්‍රතික්ෂේප කළා.



උන්වහන්සේලාව ඇයි එහෙම ප්‍රතික්ෂේප කළේ කියල දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. මෙතනදි ආනන්ද හාමුදුරුවන් ඒ කාරණය සඳහාම පුරාගෙන ආපු පාරමිතාව එක පැත්තක්. අනෙක් පැත්ත තමයි අරිහතුන් වහන්සේ නමක් සියලුම බැඳීම්වලින් මිදිල ඉන්නෙ. උන් වහන්සේලාට ලෝකය ගැන සෙවිල්ලෙන් විමසිල්ලෙන් ඉන්න උවමනාවක් නෑ. ඒ නිසා උපස්ථාන කරන කොට අතපසු වීම් වෙන්න පුළුවන්. ඉතින් ඒ නිසා ඉදිරිපත් වෙච්ච අනෙක් රහතන් වහන්සේලා උපස්ථායක වගේ තනතුරකට සුදුසු නෑ. ලෝකයේ අසාරත්වය හරියටම තේරුම් ගත්ත, නමුත් අනෙක් සංයෝජන ධර්ම නොබිඳුන කෙනෙක් තමයි ඊට සුදුසු. ඇයි ඒ? සෝවන් උතුමෙක් කියන්නෙ බුදුන්, දහම්, සඟුන් කෙරෙහි අචල නොකැඩෙන ශ්‍රද්ධාවක් තියෙන කෙනෙක්. ඒ කියන්නෙ තමන් අත්දැකපු දහම තුළින් ගොඩනැගිච්ච විශ්වාසයක්. **නමුත් රහතන් වහන්සේලා අස්සද්ධයි, ශ්‍රද්ධාවක් නෑ. ඒ කියන්නෙ ශ්‍රද්ධාව ඉක්මවා ප්‍රඥාවට පත් වුණා කියන එක. ඒ නිසා රහතන් වහන්සේ නමක් බුදුන්, දහම්, සඟුන් කියල විශ්වාස කරන්නෙ ශ්‍රද්ධාව නිසා නෙවෙයි, අත්දැකීමෙන්.** මොකද අත් දැකපු නිසා ශ්‍රද්ධාවෙන් අදහන්න ඕන නෑ. ඒ නිසා බුදුන් සම්මා සම්බුද්ධයි, දහම ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියල පූර්ණව අත්දැකීමෙන්ම දකින්නෙ අරිහතුන් වහන්සේලා විතරයි. අත්දැකීමෙන් පූර්ණ නොවෙච්ච අය විශ්වාසයෙන් හෙවත් ශ්‍රද්ධාවෙන් තමයි ඒ කාරණය දන ගන්නෙ. එතකොට පළවෙනි නොකැඩෙන විශ්වාසය හෙවත් ශ්‍රද්ධාව සෝවාන් ඵලයෙන් තමයි පටන් ගන්නෙ. ඒ නිසා තමයි සෝවාන් වෙච්ච කෙනා ශ්‍රද්ධාව මුල් කරගෙන ඉදිරි ගමන යනවයි කියන්නෙ.

ඉතින් මේ අවස්ථාවෙදි ආනන්ද හාමුදුරුවන් සෝවාන් ඵලයෙන් එහාට ගිහින් හිටියෙ නැති නිසා ලෝකය ගැන හොයල බලල වැඩ කරන මානසිකත්වය නැතිවෙලා තිබුනෙත් නෑ. ඒ නිසා ඒ වගේ කෙනෙක්ගෙ අතින් ඇප උපස්ථාන කරන කොට දැන දැන අතපසු වීමක්, වැරැද්දක් වෙන්නෙ නෑ. මොකද අචල ශ්‍රද්ධාව නිසා බොහොම පරිස්සමින් තමයි වැඩ කරන්නෙ. ඒ නිසා ජීවමාන බුදුන් වහන්සේට උපස්ථාන කරන්න සුදුසුම අවස්ථාව තමයි ඒ.

ඉතින් අනිත් භික්ෂූන් වහන්සේලා ඒ තනතුර ඉල්ලා හිටියත්, ආනන්ද හාමුදුරුවෝ නිහඬව හිටියා. එතකොට අනෙක් භික්ෂූන් වහන්සේලා උන් වහන්සේගෙන් ඇහුවා, ඇයි ඒ තනතුර ඉල්ලන්නෙ නැත්තෙ කියල. එතකොට ආනන්ද හාමුදුරුවෝ කියා සිටියා, ඉල්ලල ගන්න තනතුරුවලින් වැඩක් නෑ, මම සුදුසු නම් උන්වහන්සේම මාව පත් කරයි කියල. ඉතින් තුන් කල් නුවණින් දැකල බුදුන් වහන්සේ ආනන්ද හාමුදුරුවන්ව මේ තනතුරට තෝර ගත්තා. නමුත් ආනන්ද හාමුදුරුවෝ මේ තනතුර බාර ගන්න කලින් බුදුන් වහන්සේගෙන් පිළිගත යුතු කාරණා හතරක් සහ ප්‍රතික්ෂේප කළ යුතු කාරණා හතරක් ඉල්ලා සිටියා.

1. මා විසින් පිළිගන්නා දායක පින්වතුන්ගේ ආරාධනාවන්ට බුදු රජාණන් වහන්සේ වැඩම කළ යුතුය.
2. නොයෙක් ප්‍රදේශවලින් බුදු රජාණන් වහන්සේ දැකීමට එන පිරිස්, සුදුසු නම් බුදුරදුන් හමුවට කැඳවා ගෙන ඒමට අවසර තිබිය යුතුය.
3. යම් ගැටළුවක් ඇති වූ කල්හි එය විමසා දැන ගැනීමට බුදුරදුන් මුණ ගැසීමට අවසර දිය යුතුය.
4. මා නොමැති තැන දේශනා කළ ධර්මය නැවත මා හට දේශනා කළ යුතුය.

මේ ඉල්ලීම් හතරෙන් පැහැදිලි වෙන්නෙ, උන්වහන්සේ ළඟට පිහිට පතා ගෙන කවුරු හරි කෙනෙක් දානයක් දෙන්න හෝ දහම් ගැටළුවක් විමසන්න හෝ ආවොත්, කෙලින්ම බුදුන් වහන්සේ හමු වෙන්න හෝ ඒ ආරාධනාව පිළිගන්න අවසර දෙන්න කියල ඉල්ලා සිටි බව. ඇයි එහෙම ඉල්ලීමක් කරන්න ඇත්තෙ? බුදුන් වහන්සේ හමුවෙන්න නොයෙක් දෙනා නොයෙක් තැන්වලින් එනවා. ඒ අතර නොයෙක් තනතුරු දරන කොටස්, ඒ කියන්නෙ රජවරු සිටුවරු ආදී උසස් තැන්වල ඉන්න අයත් එනවා. එතකොට සාමාන්‍ය කෙනෙකුට බුදුන් වහන්සේ හමුවෙන්න නොහැකි තත්වයක් තියෙන්න පුළුවන්, කෙලින්ම හමු වෙලා දානයකට ආරාධනා කරන්න බැරි වෙන්න පුළුවන්. නමුත් ඒ අයට ආනන්ද හාමුදුරුවො හමු වෙන්න බාධාවක් නෑ. ආනන්ද හාමුදුරුවන්ගෙන් ඉල්ලීමක් කරන්න පුළුවන්, අනේ බුදුන් වහන්සේව අපේ ගෙදරටත් දානය සඳහා වඩම්මන්න අවසර දෙන්න කියල. මේ හේතුවෙන් පළමු ඉල්ලීම කළා වෙන්න පුළුවන්. ඒ වගේම දෙවන කාරණයත් ඒ හා සමානයි.

මොකද මිනිස්සු හැම දේටම බුදුන් වහන්සේ මුණ ගැහෙන්න ආවොත්, ඒක උන් වහන්සේගෙ විවේකයට බාධාවක්, වෙහෙසක් වෙන්න පුළුවන්. සමහර විට බුදුන් වහන්සේම මේක මට වෙහෙසක්, විවේකයට බාධාවක් ආදී වශයෙන් පෙන්වපු තැන් තියෙනවා. ඉතින් සීමාව ඉක්මවා උන් වහන්සේ හමු වෙන්න ඒමත්, ඒ වගේම සුදුසු නැති, වැඩකට නැති ප්‍රශ්න අරගෙන ඒමත් බාධාවක් නිසා ආනන්ද හාමුදුරුවන් හරහා ඒ දේ සිද්ධ වීම වඩාත් සුදුසු බව හිතන්න පුළුවන්. නමුත් ආනන්ද හාමුදුරුවන් හිටපු මට්ටම අනුව උන් වහන්සේට ඒ වගේ පිරිස් පැමිණීම ගැටළුවක් නෙවෙයි. ආනන්ද හාමුදුරුවන්ට විසඳන්න පුළුවන් ප්‍රශ්න විසඳල, අවශ්‍ය දේට පමණක් බුදුන් වහන්සේ මුණ ගැසෙන්න යාම කරන්න පුළුවන්. හැබැයි කවදාවත් කවුරුවත් අතරමං කරල හිත් රිදවල යවන්නෙ නෑ. ඒ තමයි ආනන්ද හිමියන්ගෙ ස්වභාවය. මොකද නැත්නම්, ආනන්ද හාමුදුරුවො මෙච්චර බුදුන් වහන්සේ ළඟින් ඉඳලත් මේ කාරණය විසඳල දුන්නෙ නෑ කියල මිනිස්සුන්ගෙන් යම් යම් අපවාද එන්න පුළුවන්.

තුන්වන කාරණය ඉතා වැදගත්. ඒ වෙන කොටත් සෝවාන් ඵලයෙ හිටපු ආනන්ද හාමුදුරුවන්ට තනියෙන් තෝරා ගන්න බැරි දහම් ගැටළු තියෙන්න පුළුවන්. දූන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, සෝවාන් නම් ගුරුවරයෙක් අවශ්‍ය නෑනෙ, තනියම කරගන්න පුළුවන්නෙ කියල. ඒ කතාව හරි. නමුත් කෙනෙක් ධර්මය අවබෝධ කර ගන්නෙ තමන්ට වැඩුනු ඉන්ද්‍රිය අනුව. ඒ කියන්නෙ ශ්‍රද්ධා ඉන්ද්‍රිය, විරිය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය සහ ප්‍රඥා ඉන්ද්‍රිය කියන ඉන්ද්‍රියන් පහෙන්. ශ්‍රද්ධා ඉන්ද්‍රිය බලවත් කෙනා දහම් ගුරුවරයා කරගන්නෙ ඒ මාර්ගය. විරිය ඉන්ද්‍රිය බලවත් කෙනාගෙ ඒ දහම් මාර්ගය, එකම පාරෙ යන දෙන්නෙක් අඩිය තියෙන තැන් වගේ. මාර්ගය එක වුනාට අඩිය තියන තැන් වෙනස්. දෙන්නා සංසන්දනය කරන්න ගියොත් ප්‍රශ්නයක් ඇතිවෙන්න පුළුවන්. ආනන්ද හාමුදුරුවන්ට ඉන්ද්‍රිය පරෝපරියන්ත ඥානය නැති නිසා (සම්මා සම්බුදුවරයන් වහන්සේ නමකට පමණක් පහළ වෙන ඥානයක්) සමහර විට මිනිස්සු අහන ප්‍රශ්නවලදී ගැටළු සහගත තැන් ඇතිවෙන්න පුළුවන්. ඒ වගේ ගැටළුවක් ඇති වුන සැණින් විසඳ ගන්න තමයි ඒ තුන්වෙනි ඉල්ලීම කරන්න ඇත්තෙ.

හතර වෙනි ඉල්ලීම බුදුන් වහන්සේ අනුමත කරපු නිසා තමයි, අද අපට බුදුන් වහන්සේ දේසනා කරපු ධර්මය පොත්පත් ඇසුරෙන් හෝ මුඛ පරම්පරාවෙන් හෝ ලැබිල තියෙන්නෙ. 84,000 ක් ධර්මස්කන්ධය පිළිබඳ බොහෝ දහම් අහන්න ලැබෙන්නෙ මේ හේතුවෙන්. කුමන ස්ථානයක, කුමක් අරඹයා, කාටද දේශනාව කළේ කියන කාරණාත් දැන ගන්න හැකියාව ලැබිල තියෙනවා. මේ 84,000ක් ධර්මස්කන්ධය ආනන්ද හාමුදුරුවන් විසින්ම ත්‍රිපිටක පොත් පෙළේ එන ථේර ගාථාවල සඳහන් කරල තියෙනවා. ඒ කියන්නෙ 82,000 ක් ධර්මස්කන්ධය බුදුන් වහන්සේ මගිනුත්, ඉතිරි 2,000 අනෙකුත් මහා ශ්‍රාවකයන් වහන්සේලා මගිනුත් දැනගත් බවට සඳහන් වෙනවා.

ඒ වගේම නිවන් දකින්න අවශ්‍ය කාරණා විස්තර කරන කොට, එකම ගඟට බහින්න විවිධ තොටුපලවල් තියෙනව වගේ, ආර්යාෂ්ඨාංගික මාර්ගය නමැති ගඟට බහින්න ධර්මස්කන්ධ නමැති තොටුපලවල් 84,000 ක් තියෙනව කියල පෙන්වනවා. ඒ කියන්නෙ එකම ආර්යාෂ්ඨාංගික මග පූර්ණ කර ගන්න ක්‍රම 84,000 ක් තියෙනවා. ඒ තමයි 84,000 ක් ධර්මස්කන්ධය කියන්නෙ. හැබැයි කෙනෙකුට සෝවාන් වෙන්න ඒ 84,000 ම ඕන නෑ. එක් කෙනෙකුට එක ධර්මස්කන්ධයක් ගත්ත නම් සෝවාන් වෙන්න ප්‍රමාණවත්. ඊට පස්සෙ ඒ දකපු ධර්මස්කන්ධය ගැන ඒ පුද්ගලයට කිසිම සැකයක් නෑ. ඒක වැටහෙනවා. නමුත් අර 84,000 න් ඉතිරි ධර්මස්කන්ධ ගැන ඒ පුද්ගලය දන්නෙ නෑ. ඒව ගැන දූනගන්න නම් දහම් හදාරන්න ඕන. ඒ කියන්නෙ බුදුන් වහන්සේගෙන් අහල දූන ගන්න ඕන. එහෙම නැත්නම් මහ රහතන් වහන්සේලාගේ දේශනා තුළින් උන් වහන්සේලා අනුගමනය කරපු මාර්ග ගැන අහගන්න ඕන. එහෙම අහගෙන තමයි දරා ගන්නෙ. ඉතින් මේ විදියට අනික් ධර්මස්කන්ධ ගැන වෙනම අහල දූන ගන්නව මිසක්, තමන් දූන ගත්තු මාර්ගය ඇරෙන්න වෙනත් මගක් ඒ පුද්ගලයට දේශනා කරන්න බෑ. ඒ අනුසාරයෙන් ඒ අයට විවිධ දේවල් දේශනා කරන්න පුළුවන් වුනත්, 84,000 ක් ධර්මස්කන්ධය ඒ ආකාරයෙන්ම දේශනා කරන්නෙ ලොවුතුරා බුදුන් වහන්සේ නමක් විතරයි. රහතන් වහන්සේලා දේශනා කරන්නෙත් ඒ අනුසාරයෙන්.

එතකොට මේ විදියට 84,000 ක් ධර්මස්කන්ධය දරා ගෙන හිටියෙ ආනන්ද හාමුදුරුවො. උන් වහන්සේ ඒවා දූන ගත්තෙ අර විදියට අහගෙන. ඒ නිසා තමයි ඒවං මේ සුතං... කියල හැම වෙලේම, මා විසින් මෙසේ ශ්‍රවණය කළා, මම මේක අහල දූනගත්ත කියල සූත්‍ර දේශනාවල තියෙන්නෙ. එතකොට ඒ දූනගත්තයි කියන්නෙ උන් වහන්සේ ඒ සියල්ල අවබෝධ කරගත්තයි කියන එක නෙවෙයි, අහල දූනගත්තයි කියන එක. මේකට තමයි සෘත බුද්ධ (ඇසූ පිරූ දහම් ඇති) කියන්නෙත්. ඒ විදියට ශ්‍රවණය කරල දූන ගැනීමේ ක්‍රමයක් තියෙනවා. ඒකට අහන්නම ඕන. මොකද අහන්නෙ නැතිව දූන ගන්නෙ ලොවුතුරා බුදුන් වහන්සේලා සහ පසේ බුදුවරයන් වහන්සේලා පමණයි. අනිත් සියලු දෙනාම මුලින්ම අහල තමයි දූන ගන්න ඕන. එතකොට අහ ගන්නෙ නැතිව දේශනා කරන්න බෑ. යමක් අහල දූන ගත්තොත් ඊට අනුකූලව විග්‍රහ කරන්න පුළුවන්. ඉතින් එතකොට මූලිකවම අහගත යුතු නිසා තමයි ආනන්ද හාමුදුරුවො මේ වගේ ඉල්ලීමක් කළේ. ඒ වගේම ධර්ම භාණ්ඩාගාරික වෙන්න පෙරුම් පුරාගෙනම ආපු කෙනෙක් නිසා බුදුන් වහන්සේ දේශනා කරන සියලු ධර්ම දරාගන්න ශක්තියක් ලබන්න ඕන. ස්මෘති ශක්තියත්, ධාරණ ශක්තියත් ලබන්න හේතුව ඒකයි. නැත්නම් 84,000 ක් ධර්මස්කන්ධය මතක තියාගන්න බෑ. පාරමිතා බලයෙන් ඒ වගේ පැතුමක් පතාගෙන ඒම නිසා තමයි මේ 4 වන ඉල්ලීම කරන්නත් හේතු වුණේ.

ඊළඟට ප්‍රතික්ෂේප කළ යුතු කාරණා හතර ගැන බැලුවොත්,

1. බුදු රජාණන් වහන්සේට ලැබෙන වටිනා සිවුරු මා හට නොදිය යුතුය.
2. බුදු රජාණන් වහන්සේට ලැබෙන ප්‍රණීත ආහාර පාන මා හට නොදිය යුතුය.
3. බුදු රජාණන් වහන්සේ වැඩ වසන ගන්ධ කුටියේ විසීමට මා හට ඉඩ නොදිය යුතුය.
4. බුදු රජාණන් වහන්සේට දන් පිණිස ලැබෙන ආරාධනාවන් සඳහා මා සමග නොවැඩිය යුතුය.

මේ කාරණා හතර නම් බොහෝ විට, ලෝකෙන් එන අපවාදවලින් මිදෙන්න සහ බුදුන් වහන්සේට නිකරුනේ නින්දා එල්ල වෙනවට දුර දිග බලා කළ ඉල්ලීම් කියල හිතන්න පුළුවන්. ඒ කියන්නෙ බුදුන් වහන්සේට වටිනා සිවුරු පිරිකර, ප්‍රණීත ආහාර පාන ලැබෙනව නම්, ඒ වගේම එකම ගන්ධ කුටියේ බුදුන් වහන්සේ සමග වැඩ ඉන්න ලැබෙනව නම්, බුදුන් වහන්සේට ලැබෙන ආරාධනාවලට යන්න ලැබෙනව නම්, කවුද ඉතින් අකමැති උන්වහන්සේට උපස්ථාන කරන්න? ... ආදී වශයෙන් එන අපවාදවලින් ගැලවෙන්න තමයි ඒ ඉල්ලීම් කළේ.

මේ ඉල්ලීම්වලින් අපිටත් වටිනා ආදර්ශයක් ගන්න පුළුවන්. ඒ තමයි කල්‍යාණ මිත්‍රයන් වහන්සේ නමකට කෙසේ උපස්ථාන කළ යුතුද යන්න. ඒ වගේම සාසනය සම්බන්ධයෙන් වන කුමන හෝ කාරණයකදි හැසිරිය යුතු ආකාරය සහ පුද්ගලික ලාබ ප්‍රයෝජන නොතකා සාසන ගුණය දැකල වැඩක් කළ යුතු ආකාරය. මෙතනදි ආනන්ද හාමුදුරුවො සාසන ගුණයක් දැක්ක කියල කොහොමද අපි නිගමනය කරන්නෙ කියල කෙනෙකුට ගැටළුවක් ඇතිවෙන්න පුළුවන්. කෙනෙක් තර්ක කරන්න පුළුවන්, නෑ බුදුන් වහන්සේ කෙරෙහි ඇති වෙච්ච ශ්‍රද්ධාව නිසාම උපස්ථාන කළා කියල. නමුත් සාසන ගුණයක් දකින්නෙ කොහොමද ? මෙතනදි අමතක නොකළ යුතු කාරණයක් තියෙනවා. ඒ තමයි ආනන්ද හාමුදුරුවො ඒ වෙන කොටත් සෝවාන් වෙලා හිටියෙ. ඒ කියන්නෙ උන්වහන්සේට දහම් ඇස පහළ වෙලා තිබුනා. පටිච්ච සමුප්පාදය දැකල අනුලෝම - ප්‍රතිලෝම වශයෙන් ඒ මට්ටමෙන් අවබෝධ කරගෙන හිටපු මහ නුවණැත්තෙක්. උන්වහන්සේ බුදුන් වහන්සේව දැක්කෙ ධර්මය තුලින් මිසක් පුද්ගලයෙක් හැටියට නෙවෙයි. යමෙක් පටිච්ච සමුප්පාදය දකින්නේද හේ ධර්මය දකී, යමෙක් ධර්මය දකින්නේද හේ මා දකී කියන ශ්‍රේෂ්ඨ බුද්ධ දේශනාව අනුව ඒ කාරණය එසේම විය යුතුයි. ඉතින් අපි කොහොමද උන්වහන්සේ පටිච්ච සමුප්පාදය හරියට දැක්ක කියල කියන්නෙ? ඒකට ශ්‍රී මුඛ බුද්ධ දේශනාවකින්ම තමයි පිළිතුරු හොයා ගන්න වෙන්නෙ.

එක් පසෙක හුන් ආයුෂ්මත් ආනන්ද තෙරනුවෝ ''වහන්ස, මේ පටිච්ච සමුප්පාදය කොතරම් ගැඹුරු ද, කොතරම් ගැඹුරු පෙනුම් ඇත්තේද යනු ආශ්චර්ය ය, අද්භූත ය, එතෙකුදු වුවත් මට එය ප්‍රකට වූවක් මෙන්, ඉතා ප්‍රකට වූවක් මෙන් වැටහේ යැ''යි කීහ. (මහානිදාන සූත්‍රය - දීඝ නිකාය 2 - 80 පිටුව)

ආනන්ද හාමුදුරුවො මූලික වුන ඉතාම වැදගත් තවත් කාරණයක් තමයි, මහා ප්‍රජාපතී ගෝතමී තෙරණිය ඇතුලු බොහෝ කාන්තාවන්ට විමුක්තිය සොයා යෑම සඳහා බුද්ධ සාසනය තුල පැවිදි බිමට ඇතුල් වෙන්න ඉඩ සලසා දීම. එයින් බොහෝ කාන්තාවන්ට පැවිදි බිමට ඇතුලත් වෙලා සිවුපිළිසිඹියා සහිත අරිහත් ඵලය ලබා ගන්න හැකියාව ලැබුණා. ඒ නිසා බමුණු සමාජයේ කොන් වෙලා හිටපු කාන්තාවන්, දාසියන්, කුල දියණියන්, රජ බිසව්වරු ආදී බොහෝ දෙනා පැවිදි වෙලා නිවන් සාක්ෂාත් කර ගත්තා.

අනෙක් වැදගත් කාරණය තමයි උන්වහන්සේ සෝවාන් ඵලයෙ හිටියත් උන්වහන්සේ සතුව තිබිච්ච ප්‍රඥාව, ඒ වගේම ප්‍රශ්න විසඳන්න තිබිච්ච හැකියාව. උන්වහන්සේගෙ ප්‍රඥාව කොච්චර ඉහලද කියනව නම්, උන්වහන්සේට හැකියාව තිබුණා, අනෙක් අය කියන කාරණා අනුව අනුමාන කරල ඒ පුද්ගලයා මාර්ග ඵල ලාභියෙක්ද නැද්ද කියල කියන්න. උදාහරණයක් විදියට, සිරිවඩ්ඪන කියන උපාසක මහත්තයා ගිලන් වෙලා අවසානයට ළඟා වෙලා හිටපු මොහොතක, ආනන්ද හාමුදුරුවන්ව බැහැදකින්න උවමනාව ඇති වුනා. ඉතින් මේක ආනන්ද හාමුදුරුවන්ට සැළ කළාම, උන්වහන්සේ මේ උපාසක මහත්තයාව බලන්න වැඩම කරල දහම් කතාවක් කිව්වා. ඒ කිව්ව දේට උපාසක මහත්තයා දුන්න පිළිතුර තමයි මේ,

වහන්ස, යම් යම් සිවුසීවටන්හු (සතර සතිපට්ඨානය) භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද්දාහුද, ඒ දහම්හු මා කෙරෙහි ඇතියහ. මම ද ඒ දහම්හි මැනවින් දිස්වෙමි. වහන්ස, මම කයෙහි කය අනුව දක්නාසුලුව කෙලෙස් තවන වැර ඇත්තෙම් මනා දැනුම් ඇත්තෙම් සිහි ඇත්තෙම් කාලෙව්හි (කය නමැති ලෝකය) දැඩි ලොබ හා දොම්නස දුරු කොට වෙසෙමි. වේදනාහි... සිත්හි... දහම්හි දහම් අනුව දක්නා සුලුව කෙලෙස් තවන වැර ඇත්තෙම් මනා දැනුම් ඇත්තෙම් සිහි ඇත්තෙම් දහම් ලෙව්හි (ලෝකය) දැඩි ලොබ හා දොම්නස දුරු කොට වෙසෙමි. වහන්ස, යම් මේ පංච ඕරම්භාගිය සංයෝජන කෙනෙක් (සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බතපරාමාස, කාමරාග, ව්‍යාපාද) භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද්දාහු නම් ඔවුනතුරින් ප්‍රහීණ නොවූ කිසිවක් තමා කෙරෙහි මම නොම දකිමි.

එතකොට ආනන්ද හාමුදුරුවො මෙහෙම කියා සිටියා.

ගැහැවි, තොපට ලාභයකි. ගැහැවි, තොපට මනා ලැබීමෙකි. ගැහැවි, අනාගාමී ඵලය තොප විසින් පවසන ලදැයි. (සංයුක්ත නිකාය - 5-1 - 315 පිටුව - සිරිවඩ්ඩන සූත්‍රය)

ඉතින් මේ තමයි උන්වහන්සේගෙ ප්‍රඥාව. බුදුන් වහන්සේ අනාවරණ ඥානයෙන් දැකල කියන දේ අනුමාන කරල, පටිච්ච සමුප්පාද චක්‍රයට බහා අවසානයේ ආර්ය ජාතිය හොයා ගන්න ආනන්ද හාමුදුරුවන්ට පුළුවන්. පාරමිතා බලයත්, ධර්මාවබෝධයත් තියෙන නිසා වරදින්න හේතු නෑ.

ඒ වගේම තර්කයෙන් යමක් දැන ගැනීමේ හැකියාවත් උන් වහන්සේට උපරිමයෙන් තිබුණා. අනේපිඩු සිටුතුමා මිය පරලොව ගිහින් දෙවියෙක් වෙලා උපන්නට පස්සෙ, එක්තරා රාත්‍රියක දේවතාවෙක් ඇවිත් බුදුන් වහන්සේට සැරියුත් හිමියන්ගෙ ගුණ වර්ණනා කළා. මේ කාරණය ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් දැන ගෙන කියනවා, ස්වාමීනි ඒකාන්තයෙන්ම ඒ එන්න ඇත්තෙ අනේ පිඩුසිටු දේවතාවා කියල. එතකොට බුදුන් වහන්සේ කියනවා, ආනන්ද තර්කයෙන් දැන ගත යුත්තක් ඔබ හරියටම දැන ගත්තා, ඒ ආවෙ අනේපිඩු සිටු දේවතාවා තමයි කියල. ඒ කියන්නෙ බාහිර අදහස් අර ගෙන ඒ අදහස්වලින් නිගමනවලට බහින්න තරම් ඥානාන්විත තර්කානුකූල හැකියාවක් උන් වහන්සේට තිබුණයි කියල එතනින් පෙන්වනවා.

ඉතින් උන්වහන්සේ අතින් සාසනයට සිදු වෙච්ච සේවාව අති මහත්. බුද්ධ පරිනිර්වාණයට පසුව අරිහත් ඵලයට පත් වූ ආනන්ද මහ රහතන් වහන්සේ, පළමු ධර්ම සංගායනාවට සහභාගි වෙලා 84,000 ක් ධර්මස්කන්ධය අනාගත ලෝකයාට දායාද කළා.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 1 - ආනන්ද ස්ථවිරාවදානය දානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# දාන පාරමිතාව සහ මහත් ඵල මහානිසංසය

*(පසුගිය කලාපයෙන්: දානයේ ස්වභාවය අනුව ලැබෙන ආනිසංස .......)*

ලොවුතුරා බුදු බවට පත් වෙන්නත්, පසේ බුදු බවට පත්වෙන්නත්, අග්‍ර ශ්‍රාවක සහ මහ රහත් බවට පත්වෙන්නත් විශේෂයෙන් පාරමිතා පූර්ණ කරල තියෙන්න ඕන. ඒ වගේ විශේෂ තත්ත්වයකට පත් වෙන්න පාරමිතා පිරීම අවශ්‍යයි. පාරමිතා, උප පාරමිතා, පරමත්ථ පාරමිතා කියල සමතිස් පාරමිතා ක්‍රමයක් ධර්මයේ විග්‍රහ වෙනවා. නමුත් මූලික වශයෙන් තියෙන්නෙ පාරමිතා දහයයි. ඒ පාරමිතා වඩන ආකාරය අනුව දාන පාරමිතාව ගත්තොත් දාන පාරමිතා, දාන උප පාරමිතා, දාන පරමත්ථ පාරමිතා වශයෙන් තුන් ආකාරයකින් විග්‍රහ වෙනවා. දානය මුල් කරගෙනයි මේ පාරමිතා පිරීම ආරම්භ වෙන්නෙ. ආමිස දානය, අභය දානය, ධර්ම දානය කියල දානයත් කොටස් තුනකට බෙදෙනවා. මෙයින් **දාන පාරමිතාවට අයිති වෙන්නෙ ආමිස දානය. දාන උප පාරමිතාවට අයිති වෙන්නෙ අභය දානය. දාන පරමත්ථ පාරමිතාවට අයිති වෙන්නෙ ධර්ම දානය.** නමුත් පසු කාලෙක මේ කාරණය පිළිබඳව ලියල තියෙන අටුවාවල, පුත්‍ර දාරාදීන් සහ බාහිර වස්තු පරිත්‍යාග කිරීම දාන පාරමිතාව ලෙසත්, තම ශරීරයේ කොටස් හෙවත් ඇස්, ඉස්, මස්, ලේ ආදිය දන් දීම දාන උප පාරමිතාව ලෙසත්, තම ජීවිතය පරිත්‍යාග කිරීම පරමත්ථ පාරමිතාව ලෙසත් පෙන්වල තියෙනවා.

පාරමිතා කියන කොට මේ වචනයේ අර්ථය මුලින්ම දැනගන්න ඕන. පෙරාගෙන පෙරාගෙන ගියාම ලැබෙන මිහිරිම දේ කියන අදහසින් පාරමී කියනවා. ඒ ආකාරයට කෙලෙස් පෙරාගෙන පෙරාගෙන ගියාම අන්තිමට ලැබෙන මිහිරිම දේ තමයි ශාන්ත වූ ප්‍රණීත වූ නිවන් සුවය. ''නිබ්බානං පරමං සුඛං'' කිව්වෙ ඒකයි. පරම සුඛය වූ නිවන් අවබෝධ කරගත්තම සියලු පාරමිතා සම්පූර්ණයි.

පාරමිතා පුරන මහ බෝසතුන් වහන්සේලා මේ ආකාරයට අඟ පසඟ විතරක් නෙවෙයි ඇස්, ඉස්, මස්, ලේ සහ අඹු දරුවන් පවා දන් දුන්නයි කියන කාරණයෙත් සැඟවුණු ලෝකෝත්තර අර්ථයක් තියෙනවා. මේ පාරමිතාවන්ගෙ ගැඹුරු වූ ලෝකෝත්තර අර්ථය නිවැරදිව වටහා ගන්න පුළුවන් වෙන්නෙ ප්‍රඥාව වැඩුණු මනසකින් පමණයි. (මේ පිළිබඳව වෙනම විග්‍රහයක් හෙළ බොදු පියුම 3 වන කලාපයේ ''පාරමිතා පුරන බෝසතුන් වහන්සේලා අඟ පසඟ හා අඹු දරුවන් දන් දුන්නාය යන්නෙහි සැඟවුණු දහම් අරුත'' නම් ලිපියෙන් ඉදිරිපත් කර ඇත.)

තමන් විතරක් පෙරා ගෙන ගිහින් නවතින්නෙ නැතිව, සංසාරෙ තියෙන භය නොදන්නා ලෝක සත්වයාටත් අවශ්‍ය විදියට පෙරල දෙන්න තමයි බෝධි සත්ත්වයෙක් විදියට දැඩි අධිෂ්ඨානයක් ගන්නෙ.



බුද්ධෝහං බෝධයිස්සාමි
මුත්තෝහං මෝචයේ පරේ
තිණ්ණෝහං තාරයිස්සාමි
සංසාරෝඝා මහබ්භයා

විවිධ දෘෂ්ටිගතවීම් නිසා සංසාරය නමැති මහා සාගරයේ සැඩ පහරට අහුවෙලා ගසාගෙන යන ලෝක සත්ත්වයින් ගොඩ ගන්න විශේෂ ශක්තියක් අවශ්‍යයි. එක් අත්බවයක ක්ෂාන්තිවාදී නමින් තාපසයෙක් වෙලා හිටපු බෝධි සත්වයන් වහන්සේගෙ ක්ෂාන්තිවාදී බව පරීක්ෂා කරන්න, එක් රජ කෙනෙක් රාජ පුරුෂයන් ලවා එතුමාගේ අත, පය, කන්, නාසය කපද්දීත්, ඔබටවත් මේ රාජ පුරුෂයින්ටවත් මගේ ක්ෂාන්තියේ කිසිම අඩුවක් නෑ, ඒ ක්ෂාන්තිය තියෙන්නෙ මගේ පපුවෙ කියල කියන කොට පපුවට ඇනල මරල දැම්මා. මේ විදියට අඟ පසඟ කපද්දීත් ක්ෂාන්තිය පතුරුවන්න පුරුදු කළේ, බුදු වෙලා ලෝක සත්ත්වයින් මුදව ගන්න අවශ්‍ය කරන මහා ශක්තිය ලබා ගන්න.

නවීන විද්‍යාවෙ දියුණුව නිසා, අද කෙනෙක් මියගියාට පස්සෙ ඒ පුද්ගලයගෙ ඇසේ පටලය අරගෙන තවත් කෙනෙකුට බද්ධ කරන්න අවශ්‍ය කැමැත්ත, ජීවත් වෙලා ඉඳෙද්දීම ලබා දෙන්න පුළුවන් වෙලා තියෙනවා. නමුත් කාටවත් එහෙම ඔළුවක් දෙන්න ක්‍රමයක් නවීන විද්‍යාවෙන් තවම හොයා ගෙන නෑ. මුහුදෙ ඉන්න බලය වගේ මාළුවෙක් ඔළුව දුන්න නම් ඒකෙන් හොඳ්දක් හරි හදාගන්න පුළුවන්. අහසෙ තරු තරමට අප්‍රමාණව ඇස් දන් දීල, මහා මේරුව තරමට හිස් දන් දීල, මහ පොළොව තරමට මස් දන් දීල, මහා සාගරය තරමට ලේ දන් දීල බුදු වුනා කියල සාහිත්‍ය පොත් ලියපු කතුවරු ඒවා ලියල තියෙන්නෙ බෝසත්වරුන්ගෙ දාන පාරමිතාව ගැන දැන ගෙනද? තමන්ගෙ අඹු දරුවන් වහල් කමට දීල පවු කර ගැනීම බෝධි සත්ත්ව පාරමිතාවක්ද?

ආත්ම ලාභය මුල් කරගෙන, ගුණ ධර්ම නොදන අන්ධයින් වගේ මං මුලා වෙලා කටයුතු කරන අනන්ත ලෝක සත්වයින්ට නුවණ කියන ඇස් ලබා දීල, ඔවුන් පාපයන්ගෙන් මුදව ගෙන යහ මගට යොමු කරල සැනසීම ලබා දීම තමයි පාරමිතා පුරන බෝධි සත්ත්වයින් වහන්සේලාගේ ඇස් දන් දීම කියන්නෙ. ඒ වගේම පංච කාම සම්පත්තිවලට මුලා වෙලා ඔළුවක් නැති අය වගේ කටයුතු කරල දුකට පත්වෙන අයට හිස් පාදු දීමට කටයුතු කිරීම තමයි උන්වහන්සේලා සිදු කළ හිස් දන් දීම. ඇඟේ මස් කළඳක් නැති ආකාරයට ඇට කටු වගේ ඇට්ටරකම්, කට්ටකම් කරමින් අන්‍යයින් මුලා කරපු අයට සාර ධර්ම නමැති මාංශ ලබා දීම තමයි මස් දන් දීම කියන්නෙ. ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය, මානය වගේ පහත් දුශ්චරිතවල යෙදෙමින් ලයාන්විත බවක් නැතිව අන්‍යයන්ට වස විස දීම, අණ වින කොඩි වින කිරීම වගේ පළිගැනීම්

කරපු අයට ළයාන්විතව කටයුතු කරන ආකාරය පෙන්වා දීම තමයි උන්වහන්සේලා සිදු කළ ළය හෙවත් ලේ දන් දීම.

ඒ වගේම පාරමිතා පුරන බෝධි සත්ත්වයින් වහන්සේලා දාන පාරමිතාව පූර්ණ කරන්න අඹු දරුවන් දන් දුන්නයි කියන කාරණාව යහපත් ක්‍රියාවක්ද කියල යථාර්ථවත්ව බලන්න ඕන. අඹුවන් සහ දරුවන් වහල්කමට වෙන්දේසි කරපු සමාජ, පෙර කාලවල තිබිල තියෙනවා. නමුත් ඒ සදාචාර සම්පන්න සමාජවල නෙවෙයි. **හිතවත්ව කටයුතු කරන අය අඹ යාළුවො කියල අදත් සමාජයේ හඳුන්වනවා. අන්‍යොන්‍ය වශයෙන් හිතවත්කමින් ක්‍රියා කිරීමේ වැදගත්කම මිනිස්සුන්ට පෙන්වා දීල, ඔවුන් යහ මගට ගැනීම තමයි බෝසත්වරුන්ගෙ අඹු දන් දීම වෙන්නෙ. ඒ වගේම යමක් දරන නිසා දරු කියනවා. සුචරිතය දරාගෙන කටයුතු කිරීමෙන් සුගතිගාමී වෙන ආකාරය අවබෝධ කර දෙමින්, පාරමිතා පුරන කාලය තුල ලෝක සත්ත්වයින් දුගතියෙන් මුදවා ගන්න කටයුතු කිරීම තමයි දරු දන් දීම කියන්නෙ. මේ තමයි පාරමිතාවල සැඟවුණු ලෝකෝත්තර අරුත.**

මේ විදියට දෙන දානය තුළින් දස පුණ්‍ය ක්‍රියාවම වැඩෙනවා.

දානං සීලංච භාවනා
වෙය්‍යා වච්චාපචායනා
පත්තානුමෝදනා පත්ති දානං
ධම්මස්ස දේශනා
සවනා දිට්ඨිජ්ජු කම්ම
මිච්චේවං දසධාඨිතං

දස පාරමිතා, ත්‍රිවිධ පුණ්‍ය ක්‍රියා, දස පුණ්‍ය ක්‍රියා යන සෑම තැනම දානය තමයි මුලටම එන්නෙ. ඒ වගේම සතර සංග්‍රහ වස්තුවලත් (දානය, ප්‍රිය වචනය, අර්ථ චර්යාව සහ සමානාත්මතාවය), දස රාජ ධර්මවලත් පළමුවෙන්ම දක්වල තියෙන්නෙ දානය. **ලෞකික පැවැත්ම නිවැරදි කරගෙන ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න පසුතලය හදා ගන්න තමයි දන් දිය යුත්තෙ. දානයක් දීමේදී ඇතිවන චිත්ත ප්‍රසාදය තුල දානමය පිනක් ලැබෙනව වගේම, පසුව සතුටු වෙන මොහොතක් ගානෙ අනුමෝදනා පිනකුත් සිද්ධ වෙනවා.** අනුමෝදනා කියන්නෙ අනුව ඕදනය වීම හෙවත් අනුව සුද්ධ වීම. ඒ දානමය පුණ්‍ය ක්‍රියාව උපනිශ්‍රය කරගෙන ශික්ෂා ගුණයක් පුහුණු කරගත්ත නම්, එයින් සීල ගුණයක් ඇති වෙනවා. අසාධාරණව එකතු කරගත් දේ නිසා ඇතිවෙන්නෙ ගින්නක්, ණයක්. ඒ ණයෙන් නිදහස් වීමෙන් ළය සිසිල් වෙලා සීලමය පුණ්‍ය ක්‍රියාවක් සිද්ධ වෙනවා. දානයේ ආනිසංස නිතර සිහි කිරීමෙන් චාගානුස්සතිය වැඩිල භාවනාමය පිනක් සිදු කරගන්න පුළුවන් වෙනවා. ඒ ලබා ගත් පින අන් අය උදෙසා ප්‍රදානය කිරීමෙන් පත්තිදාන කියන පුණ්‍ය ක්‍රියාව වැඩෙනවා. පින් දෙනව කියන්නෙ ප්‍රත්‍ය දීම. ප්‍රත්‍ය ලැබෙන කොට ඒක ලබා ගන්න පුළුවන් ආකාරයට අලෝභ, අදෝස, අමෝහ ගති ලක්ෂණවලින් පුද්ගලයගෙ හිත සකස් වෙලා තියෙන්න ඕන. ඒ පත්ති දානමය පුණ්‍ය ක්‍රියාව යළි යළි සිහි කරල, ඒ අනුව සතුටු වීමෙන් පත්තානුමෝදනා පිනක් ලැබෙනවා. එබඳු වන්නා වූ ධර්මය ලෝක සත්ත්වයාටත් කියල දෙනව නම් දේශනාමය පිනක් ලැබෙනවා. දානය දීල ඒ උතුමන්ට වතාවත් කළොත්, වතාවත් කිරීමේ පිනක් ලැබෙනවා. සිල්වතුන්ට හා වැඩිහිටියන්ට වන්දනා කිරීම ආදියෙන් ගරු බුහුමන් කරන්න ලැබීමෙන් අපචායන කියන පුණ්‍ය ක්‍රියාව සිද්ධ වෙනවා.

''අභිවාදන සීලිස්ස
නිච්චං වද්ධාපචායිනෝ
චත්තාරෝ ධම්මා වඩ්ඪන්ති
ආයු වන්නෝ සුඛං බලං''

අපචායන පුණ්‍ය ක්‍රියාව හේතු කොට ගෙන වැඩෙන්නෙ ආයුස, වර්ණ, සැප, බල පමණයි. මොකද අපචායන කියන්නෙ යම්කිසි විදියකින් කායික ඇප උපස්ථාන කිරීම. එතනදි ශරීරය පෝෂණයට යමක් ලබා දෙන්නෙ නෑ. ඒ උපස්ථාන කිරීමෙන් ජීවත් වෙන්න අතිරේක උදව්වක් තමයි ලැබෙන්නෙ. ඒ නිසා ඒක ප්‍රඥාව වැඩීමට හේතු වෙන්නෙ නෑ.

**නමුත් දානමය පුණ්‍ය ක්‍රියාවලින් ආයුස, වර්ණ සැප, බල, ප්‍රඥා කියන සියල්ලම වැඩෙනවා.** මොකද දානයක් දෙන කොට ශරීරය පෝෂණය වෙන්න යමක් ලබා දෙනවා. එතකොට ඒ පෝෂණයෙන් ඒ ප්‍රතිග්‍රාහකයාට කායික මානසික ක්‍රියාකාරීත්වයත් සමග යම් සුඛ විහරණයක් ගොඩ නගාගන්න ශක්තියක් ලැබෙනවා. එතකොට ඒක මුල් කර ගෙන ප්‍රඥාව වඩා ගැනීමටත් පහසුවක් වෙනවා. ඒ නිසා ඒ දානය දීපු කෙනාටත් හේතුවට අනුකූල ඵලය විදියට ප්‍රඥාව ලැබෙන්න හේතු වෙනවා. ඒ වගේම මේ යහපත් ක්‍රියාවේ ආනිසංස ඇතුලත් ධර්මය ශ්‍රවණය කිරීමත් පිනක්. අවිද්‍යාව නිසා යථාර්ථය නොදැන වටිනවා කියන තණ්හාවෙන් මම, මගේ කියල රැස් කරපු දේවල් දුක් ගෙන දෙනවා කියන ධර්මාවබෝධය තුල පුද්ගලයගෙ ආත්ම දෘෂ්ටිය දුරු වෙලා සම්මා දිට්ඨියට පත් වෙනවා. දෘෂ්ටිය ඍජු කර ගැනීමෙනුත් පුණ්‍ය ක්‍රියාවක් සිද්ධ වෙනවා. මේ විදියට දානමය පුණ්‍ය ක්‍රියාවන් ප්‍රඥා ගෝචරව සිද්ධ කිරීමෙන් දස පුණ්‍ය ක්‍රියාවන්ම වැඩෙන්න පටන් ගන්නවා.

## දන් දීමට ධනය අවශ්‍යමද?

සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා කියල බුද්ධ දේශනාවක් තියෙනවා. සියලු ලෝක සත්ත්වයින් පවතින්නෙ ආහාරය නිසා කියන අදහස තමයි ඒකෙන් කියන්නෙ. ඒ කියන්නෙ ආහාරයක හිමිකමක් නැතුව කිසිම සත්ත්වයෙක් උපදින්නෙ නෑ. ඒ උරුමයට පහර ගහ ගත්තෙ මනුස්සයින්මයි. පොදුවේ පරිභෝජනය කිරීමේ රටාවකට උරුමකම් කියමින් මනුස්ස අත්බවක් ලබා ගෙන අලෝභයෙන්, අදෝසයෙන්, අමෝහයෙන් තමයි මනුස්සයා මුලින් ජීවත් වුනේ. නියම මිනිස් ස්වභාවය ඒකයි. මේ මිනිස් ගති ස්වභාවය වෙනස් නොකර ජීවත් වෙන තාක් මනුස්සයින්ට අවශ්‍ය ආහාර පාන ස්වභාවයෙන්ම ලැබුණා. ඒකට අවශ්‍ය පරිසරය විශ්ව ගතව හැදුනා. මේ අනුව අසාධාරණයෙන් එක් රැස් කළ දෙයක් තිබුනෙ නැති නිසා, ස්වයංජාතව තිබ්ච්ච මුල් කාලෙ දානය දීල නිදහස් වීමක් අවශ්‍ය වුනේ නෑ. නමුත් ''ස්ව'' කියන තමාගෙන් අලෝභ, අදෝස, අමෝහ ගති ඈතට විසි වෙලා විශ්වය හැදුනා. මිනිස්සුන්ගෙ අයුක්තිය, අසාධාරණකම් නිසා, දුරට අස්වීමෙන් දුරස් වුන දේවල් බාහිරින් භුක්ති විඳින්න වෙහෙස මහන්සි වෙලා උපක්‍රමශීලීව ධනය, වස්තුව උපයන්න සිද්ධ වුනා. මේ අනුව ධනය උපයන්නට වූ අය ධනපති හැටියටත්, ඒ නිසාම දුකට පත් වූ අය දුප්පත් ලෙසත් බෙදීමක් හටගත්තා.

**දහඩිය මහන්සියෙන් හරි හම්බ කරගත් ඉතා සුළු දෙයකින් හරි දානයක් දෙන්න ලැබුන නම් ඔවුන්ට ලැබෙන ආනිසංස වැඩියි. ඒ කිසි දෙයක් නැතිව අන්‍ය කෙනෙක් කරන දානයකට හිත දීල චිත්ත ප්‍රසාදයක් ඇති කරගත්ත නම් ඒ අයට ඒකත් ඇති.**

අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය පූජා කරපු අවස්ථාවෙ, ඒ පුණ්‍ය ක්‍රියාව දැකල චිත්ත ප්‍රසාදය පහළ කරගත්තු එතන හිටිය එක්තරා දුප්පත් මනුස්සයෙකුට, මරණින් මතු රතින් කරවන ලද දිව්‍ය විමානයක් පහළ වුණා. මුගලන් මහ රහතන් වහන්සේ තවුතිසා දෙව් ලොවට වැඩම කරපු අවස්ථාවක, ජේතවනාරාමය වගේම ලස්සන දිව්‍ය විමානයක් දැකල දෙව්වරුන්ගෙන් අහනවා, ඒ දිව්‍ය විමානය කාගෙද කියල. අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය පූජා කරන

අවස්ථාවෙ එතන හිටපු එක්තරා පුද්ගලයෙකුට හටගත් චිත්ත ප්‍රසාදය නිසා ඔහුගේ පුණ්‍ය ශක්තියෙන් ඒ ස්වර්ණමය විමානය පහළ වුනා කියල දෙවිවරු කියනවා. එතකොට අනේපිඬු සිටුතුමාට පහළ වෙලා තිබුණෙ රිදී විමානයක්.

**දන් දෙන සඳෙහි දෙව්රම් වෙහෙර මුනිඳුට**
**පින් අනුමෝදන් වූ මිනිසෙක් එතැන සිට**
**පින් ලැබ ගතිය වැඩි තරමින් ම සිටු හට**
**ඉන් දුන නුදුන කිම අනුමෝදනා වට**

(ලෝ වැඩ සඟරාව 129 කවිය)

**දන් පින් බැරි දේ කැයි නො සිතන්නේ**
**අන් කළ පින් අනුමෝදන් වන්නේ**
**උන් කළ පින් සරි පින ලැබ ගන්නේ**
**ඉන් වද සග මොක් සැප සාදන්නේ**

(ලෝවැඩ සඟරාව 58 කවිය)

මේ අනුව පැහැදිලි වෙනවා, ලැබීමට මුල් වෙන ප්‍රධානම අංගය අලෝභ, අදෝස, අමෝහ කියල. එතකොට පෙර හිටපු ලෝභ, දෝස, මෝහ ස්වභාවයන්ගෙන් ඉවත් වෙන මොහොතක් එනවා. එහෙම ඉවත් වෙන කොට අලෝභ, අදෝස, අමෝහ පුද්ගලයට තමයි ස්වයංජාත පහළ වෙන්නෙ. ඒ කියන්නෙ උපරිම සම්පත්තියකට හිමිකම් කියන්නෙ. ඒ උපරිම සම්පත්තියට අදාලව මනස හැදුන නම් ඒ පුද්ගලයගෙ හිමිකම ලැබෙනවා. ඒ නිසාම තමයි අර දුප්පත් මනුස්සයට රන් විමානයක් පහළ වෙන්නත් හේතු වුණේ. එතකොට **දීමෙන් ලැබීම නෙවෙයි, මනස සුද්ධ වීමෙන් ලැබීම කියන කාරණය ඔප්පු වෙනවා.** මොකද එතනදි ඒ මනුස්සය භෞතිකව දීපු දෙයක් තිබුණෙ නෑ. නමුත් මනස ලෝභ, දෝස, මෝහයන්ගෙන් සුද්ධ වුණා. ඒ සුද්ධ වීම නිසා ලැබීමට හේතු වුණා.

එතකොට ඒ වගේ පුද්ගලයෙක් ලෝභ, ද්වේශ, මෝහ ක්ෂය කරල රහත් ඵලයට පත් වුණා නම්, ඉන් එහාට සසර ගමන යන්නෙ නැති නිසා තමයි ඒ සීමාවෙදි හේතුවට අනුකූලව යමක් ලැබිල නතර වෙන්නෙ. නමුත් සසර ගමන තව දුරටත් යනව නම් උපනුපන් තැන අර තිබ්ච්ච අලෝභ, අදෝස, අමෝහ හේතු නිසා අලෝභය ලැබීමටත්, අදෝසය සමගියටත්, අමෝහය නුවණටත් හේතු වෙනවා. ඒ විදියට අලෝභ, අදෝස, අමෝහ නිසා අනාදියෙත් සම්පත්තිය ලැබිච්ච බව ඔප්පු වෙනවා. ඒ වගේ ස්වයංජාත ඇල් පහළ වුනෙත් අලෝභය මුල් කරගෙන. **අදත් තමන්ට දන් දෙන්න දෙයක් නැතත්, අනුන් විසින් කරන යහපතක් කෙරෙහි හෝ පැහැදිලා අලෝභ සිතක් ඇති වුනා නම් භෞතිකව නොදුන්නත් ඒ කාරණයම ලැබීමට හේතු වෙනවා.** භෞතිකව යමක් දෙන්නෙ ප්‍රධාන වශයෙන්ම අපි සසරෙදි ගත්තු ණයට වන්දි ගෙවන්න. නමුත් යමෙක් ළඟ වන්දි ගෙවන්න තරම් ධනයක් නැත්නම්, යම් කෙනෙක් යහපත් දෙයක් කරනව දැකල, ඒ කෙරෙහි අවංකව චිත්ත ප්‍රසාදයක් ඇති කර ගත්තත්, අර මුලින් තිබ්ච්ච තත්ත්වයට ලැබීම පහළ වෙනවා. ඒ වගේ දේවල් හරියට දැන ගෙන අවංකව කළොත් අදත් ඒ ලැබීම පහළ කර ගන්න පුළුවන්.

ඒ වගේම බුදු පියාණන් වහන්සේ එක්තරා ගමකට වැඩිය අවස්ථාවක, ඒ ගමේ හිටපු එක් මනුස්සයෙක් ගමේ සියලු දෙනාම සහභාගි කරගෙන දානයක් දෙන්න කටයුතු සූදානම් කළා. මේ අවස්ථාවෙ එක් දුගී මනුස්සයෙක් තමන්ගෙ ගෙදර තිබ්ච්ච හුණුසහල් ස්වල්පයකින් රොටියක් වගේ දෙයක්



හදගෙන බුදුන් වහන්සේ වඩින දවසෙ සෙනග අතරට වෙලා, උන්වහන්සේට පිළිගන්වන්න ලැජ්ජාවෙන් සැඟවිලා හිටියා. මොකද එදා ඒ ගමේ මිනිස්සු පිළියෙල කරල තිබුණ ආහාරවල සුවඳ දැනෙන කොට ඔහුට සංවේගයක් ඇතිවුනා, ඔහු පිළියෙල කරගෙන ආ ඒ ආහාරය බුදුන් වහන්සේට කොහොම පිළිගන්වන්නද කියල. බුදු පියාණන් වහන්සේ මේ කාරණය දිවැසින් දැකල, පාත්‍රය අතින් වහගෙන ඒ පුද්ගලයා ළඟටම වැඩම කරල පාත්‍රය විවෘත කළා. ඔහුට ඒ වෙලාවෙ මහා චිත්ත ප්‍රසාදයක් ඇතිවෙලා තමන් සකස් කරගෙන ආපු ඒ ආහාර බුදු පියාණන් වහන්සේට පූජා කළා. තමන්ගෙ වත්කමේ හැටියට මේ ආකාරයට දෙන දානය විශිෂ්ටයි.

### දන් දිය යුත්තේ සිල්වතුන්ට පමණක්ද ?

දානයක් පිරිනමන කොට බොහෝ අය බලන්නෙ බාහිර ලක්ෂණවලින් සිල්වත් අය තෝරල ඒ අයට විතරක් දන් දෙන්න. නමුත් **සිල්වතුන් හෝ දුසිල්වතුන් තෝරා ගැනීම සාමාන්‍ය අයට කරන්න පුළුවන් දෙයක් නෙවෙයි.** එක්තරා මානවකයෙක්ගෙන් බුදු පියාණන් වහන්සේ මෙහෙම අහන කොට, ඔහු මෙහෙම උත්තර දෙනවා. ''මානවකය ඔබේ පවුලේ අය දන් දෙනවද? ස්වාමීනී, දන් දෙනවා. කාටද දන් දෙන්නෙ? ස්වාමීනි, සිල්වතුන්ට දන් දෙනවා. කොහොමද සිල්වතුන් හොයා ගන්නෙ? ස්වාමීනී, අරණ්‍යගතව ඉන්න, පාංශුකූල සිවුරු පරිහරණය කරන, පිණ්ඩපාතය කරගනිමින් වළඳන භික්ෂූන් වහන්සේලාට අපි දන් දෙනවා. එතකොට බුදු පියාණන් වහන්සේ මෙහෙම දේශනා කරනවා. ''මානවකය, අඹු දරුවන් පෝෂණය කරමින්, රන් රිදී පරිහරණය කරමින්, ගේ දොර ඉඩකඩම් පරිභෝග කරමින් පංච කාම සම්පත්තියේ ඇලී ගැලී ඉන්න ඔබල කොහොමද භික්ෂූන්ගෙ සිල්වත්කම දන්නෙ? ඔබලා ඔය සිල්වත් කියල හිතාගෙන ඉන්න ඇතැම් අය පාංශුකූල සිවුරු දරමින්, අරණ්‍යගතව සිටිමින්, පිණ්ඩපාත කරගෙන ආහාර වළඳමින් වාසය කරනවා. නමුත් ඒ සමහර අය ලෝභ, ද්වේශ, මෝහ ගතිවලින් දූසිතයි. ඒ වගේම සමහර භික්ෂූන් ඉන්නවා, පට සිවුරු දරමින්, නාගරික ආරාමවල වාසය කරමින්, දායකයන් ගෙනැවිත් දෙන දානය වළඳමින් වාසය කරනවා. ඒ වුනත් ඒ සමහර භික්ෂූන් වහන්සේලා අලෝභ, අදෝස, අමෝහ ගති ලක්ෂණවලින් පිරිසිදුයි. ඒ නිසා මානවකය, සංඝයා උදෙසා දන් දෙනව කියල හිත පහදාගෙන දන් දෙන්න. ඒ අයගෙ පුද්ගලිකත්වය සලකා දන් දෙන්න එපා.''

එහෙනම් උතුමන්ගේ වීත රාගී, වීත දෝසී, වීත මෝහී ගුණය දැක හෝ නොදැක හෝ බලාපොරොත්තු ඇතුව හෝ නැතුව හෝ උපේක්ෂාවෙන් හෝ ප්‍රසාද සිතින් දානය දෙන ආකාරය අනුව තමයි දානයේ ආනිසංස ලැබෙන්නෙ.

බුදු පියාණන් වහන්සේලා උදෙසා පැන් පූජා, භෝජන පූජා, උපනාමික පූජා ආදී සියලු පූජාවන් කරන්නෙ උන්වහන්සේලාගෙ ජීවමාන අනන්ත ගුණයට ගෞරව උපහාර පිණිස. ඒ වගේම මහා සංඝරත්නය උදෙසා දානයක් දෙන කොටත් සඟ ගුණ සිහි කරල ඒ ගුණයට කරන උපහාර පූජාවක් විදිහටයි ඒක කරන්න ඕන. මේ අනුව කිසියම් ලාභයක් බලාපොරොත්තුවෙන් හෝ කෙනෙකුගේ

පෞද්ගලිකත්වය සැලකිල්ලට ගැනීමෙන් තොරව තුන් සිත පහදවාගෙන දන් දීමෙන් තමයි උතුම් වූ නිවනට මග පැදෙන්නෙ. **දානයක් දෙන්න අරමුණු කරගත් අවස්ථාවෙත්, දානය දෙන කොටත්, දානය දුන් පසුවත් ඇතිවන චිත්ත ප්‍රසාදය නිසා ඒ දෙන දානය තුන් සිත පිරිසිදුව දුන් දානයක්** වෙනවා.

## දානයක් දී පින් අනුමෝදන් කිරීමේදී පින ගලා යන්නේ හිමිකම අනුවයි...

දානයක් වගේ පුණ්‍ය කර්මයක් සිද්ධ කරල පින් දීමේදී, ඒ පින ගලා යන කොට පින් අනුමෝදන් වෙන ඥාති වර්ගයා ඊට ගැලපෙන අත් බැවක ඉඳල ඒකට සහභාගි වෙන්නත් ඕන. අනුමෝදන් වෙනව කියන්නෙ අනුව පිරිසිදු වීම. ඒ ඥාතීන්ට පින් දෙන කොට ඒ අයට ඒ පින අනුමෝදන් වෙන්න සුදුසු මේ මේ ආකාරයේ දානමය පිංකම් කියල ඒවායේ ස්වභාවය දැනගෙන තිබීම වැදගත්. උදාහරණ විදියට මෙලොවදී පින් කරපු කෙනෙක් නම්, ඒ පුද්ගලය කළේ කුමන ආකාරයක පුණ්‍ය කටයුතුද කියල දැන ගැනීම වැදගත්. මොකද සමහර අය සංඝයා වහන්සේලාට දන් දෙනවට කැමති නෑ. ඒ අය කැමති දුගී, මගී යාචකාදීන්ට දන් දෙන්න. පින් අනුමෝදන් වෙන කෙනාට ඒ අනුව තමයි යමක් කරල දෙන්න ඕන. නැත්නම් ඒ පුද්ගලයට ඒ පින අනුමෝදන් වෙන්න බෑ. මනුස්සයෙක් වෙලා ඉන්න කාලෙ පින් කරන කොට සතුටු වෙන ගුණයක් ඒ පුද්ගලය තුළ තිබිල තියෙන්න ඕන. මේ අනුව මියගිය ඥාතියා සතුටු වෙන ආකාරයට දානයක් දීල තමන් ලබපු චිත්ත ප්‍රසාදය ඒ ඥාතියටත් ලැබේවා කියල අධිෂ්ඨාන කරන්න ඕන. මේ ආකාරයට පිනක් ලැබීමට හිමිකමක් තියෙනව නම් තමයි මියගිය ඥාතියාට ඒ පින ලැබෙන්නෙ.

දවසක් බිම්බිසාර රජතුමා ඉදිරියේ මහා ප්‍රේත රැලක් පෙනී ඉඳල පිළිසරණක් ඉල්ලල කෑ ගැහුවා. රජතුමා මේ බව බුදු පියාණන් වහන්සේට සැලකර සිටි අවස්ථාවෙ උන්වහන්සේ දකිනවා, ඵුස්ස බුදු පියාණන් වහන්සේට පූජා කරන්න ගෙනිච්ච දානය උදුර ගෙන කාපු පාපයට කකුසඳ, කෝණාගම, කාශ්‍යප බුදුවරුන්ගෙ කාලෙ වෙන කොටත් පිහිටක් ලබන්න බැරිව, කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙ පැහැදිලි කිරීමක් අනුව, ගෞතම බුදු පියාණන් වහන්සේගෙ කාලයේ බිහිවන බිම්බිසාර රජතුමා සමග පවතින ඥාති සම්බන්ධතාවයක් උඩ මේ විදියට පිළිසරණ ඉල්ලා සිටි බව. ඒ නිසා බුදු පියාණන් වහන්සේ රජතුමාට දන්වනවා, මහා සංඝයා උදෙසා දානයක් පිරිනමල පින් අනුමෝදන් කරන්න කියල. රජතුමා සියලු ආකාරයෙන් පරිපූර්ණ දානයක් පිළියෙල කරල බුදු හිමියන් ප්‍රමුඛ මහා සංඝ රත්නය වැඩමකරවල ඒ දානය පූජා කරල පින් අනුමෝදන් කළාට පස්සෙ තමයි ඒ ප්‍රේත රැලට ඒ අත්බැවින් ගැලවෙන්න පුළුවන් වුනේ. ඒ අවස්ථාවෙ ඒ ඒ දේවල් රජතුමා පූජා කරන කොට ඒ හා සමාන දේවල් ඔවුන්ට ලැබුණ කියලත් සඳහන් වෙනවා. ඒ අනුව දානය පූජා කරන කොට ආහාරත්, සළු පූජා කරන කොට වස්ත්‍රත් ලැබිල තියෙනවා.

## දානයක් දීල මියගිය අයට පින් දෙන්න පුළුවන්ද?

දානයක් දීල පින් අනුමෝදන් කරන කොට ඒ පින ගමන් කරන ආකාරය පිළිබඳව බුදු පියාණන් වහන්සේ කරපු දේශනයක් තමයි තිරෝකුඩ්ඩ සූත්‍රයේ



සඳහන් වෙන්නෙ. (මේ පිළිබඳ පූර්ණ විස්තර පෙළක් හෙළ බොදු පියුම 8, 27, 28, 29 කලාප තුළින් දැනටමත් ඉදිරිපත් කර ඇත.)

දානමය පුණ්‍ය ක්‍රියාවක් සිද්ධ කරල මියගිය ඥාති මිත්‍රාදීන්ට පින් දෙන කොට ඒ පින තම ඥාති වර්ගයා වෙත ගලා යන ආකාරය පිළිබඳවත්, ඒ නිසා සිදුවන පත්තිදාන, පත්තානුමෝදනා යන පුණ්‍ය ක්‍රියාවන් පිළිබඳවත් බොහෝ පින්වතුන් හරියටම දන්නෙ නෑ. දානමය පුණ්‍ය ක්‍රියාවක් සිද්ධ කරන කොට දස පුණ්‍ය ක්‍රියාවන්ම වැඩෙන ආකාරය කලින් පැහැදිලි කළා. එක් ඥාතියෙක් මුල් කරගෙන දානයක් දෙන කොට බොහෝ පින්වතුන් බලාපොරොත්තු වෙන්නෙ, තවත් ඥාතීන්ගෙත් නම් ගොත් සඳහන් කරමින් පින් පමුණුවන්න. ඒ සියලු ඥාති වර්ගයාට පින් ගලා යාමේදී පුණ්‍ය ගංගා කුසල ගංගා ගලා යන්නා සේ කිසිම අඩු පාඩුවක් නැතුව ඒ කටයුත්ත මනා සේ සිද්ධ වෙනවා. එක් පහනකින් තවත් පහන් වැටි කොච්චර දැල්වුවත් ඒ පහනෙ එළිය අඩුවෙන්නෙ නෑ වගේ, කෙනෙක් ධර්ම දේශනාවක් අහල ඒකෙන් චිත්ත ප්‍රසාදයක් ඇතිවුනාම ඒ පිළිබඳව තවත් අයට කියල ඒ සතුට බෙදා ගන්නවා. ඒ ධර්මය අහල ඒ අයත් සතුටට පත්වෙනවා. මේ වගේ අවස්ථාවක සිත පහන් වෙනව කියලත් කියනවා. පහනක ආලෝකය ගලායන ආකාරයට තමයි පින පැතිරිලා යන්නෙ. පින් අනුමෝදන් වීමේ ක්‍රියාව සිද්ධ වෙන්නෙත් මේ ආකාරයට.

එතකොට දානයක් දීමේදී පත්තිදාන, පත්තානුමෝදනා සිදුවෙන්නෙ කොහොමද? ඒ දානය දෙන කෙනා විසින් මියගිය ඥාතියාට එල්ල කරල පින පිහිටෙව්ව නම් ඒක පත්ති දානයක්. තමන් නිසා විසාල ඥාති පිරිසකට පින් ගන්න පුළුවන් වෙලා ලොකු යහපතක් වුනා කියල, ඒ මියගිය ඥාතියාට අලෝභ, අදෝස, අමෝහ හේතු වාසනා තිබිල සතුටට පත්වෙන්න පුළුවන් වුනා නම්, ඒ වගේම මියගිය ඥාතියා ඒ ආකාරයට පින අනුමෝදන් වුනා නම්, ඒක පත්තානු-මෝදනාවක්. එතකොට පත්තිදානය කළේ දායකයා. පත්තානුමෝදනාව කරගත්තෙ මියගිය ඥාතියා. දානයක් දීමෙන් කරන්නෙ ප්‍රත්‍ය දීම. පින් දෙනවා කියන්නෙ ප්‍රත්‍ය දෙනවා කියන එක. ප්‍රත්‍ය ලැබෙන කොට ඒ පුද්ගලයට ඒක ගන්න අලෝභ, අදෝස, අමෝහ හේතු තියෙන්න ඕන. ප්‍රත්‍ය කියන්නෙ කුඹුරකට යොදන පොහොර වගේ දෙයක්. හේතු කියන්නෙ ඒ කුඹුරෙ පැල කරල තියෙන බීජ වගෙයි. එතකොට හේතු - ප්‍රත්‍ය ක්‍රම වේදයට අනුව සරුසාර ගොයමක් හටගන්නවා.

මේ ආකාරයට අපිට පුළුවන් ප්‍රත්‍ය දෙන්න. අලෝභ, අදෝස, අමෝහ සිතකින් පෙර කරන ලද පුණ්‍ය ක්‍රියාවල හේතු මතු වෙලා ඇවිත්, ඒ මළගිය ඥාතියගෙ මානසිකත්වය ඒ ප්‍රත්‍ය ගන්න පුළුවන් වෙන ආකාරයට හැඩ ගැහිල නැගිල එන්න ඕන. මළගිය ඥාතියාට ප්‍රත්‍ය දෙන්න අපිට පුළුවන් වුනාට හේතු දෙන්න පුළුවන්කමක් නෑ. අපි ඒ ඥාතියා වෙනුවෙන් දන් දෙන කොට, මගේ ඥාතීන් මං වෙනුවෙන් දන් දීල මට කරන්න බැරි දෙයක් කරනවා කියල චිත්ත ප්‍රසාදයක් ඇති කරගන්නවා. මේ ආකාරයට හේතු සකස් වෙලා ආවොත්, කාලාන්තරයක් යන කල් හිග නොවන මහා ආනිසංසයක් ඒ මියගිය ඥාතියාට අත් වෙනවා.

විශාකා උපාසිකාව බත් පෙට්ටියක් අතට අරගෙන භික්ෂූන් වහන්සේලා දාහකට බෙදුවත් බත් ඉවර වුනේ නෑ. එතුමියට තිබුණ පුණ්‍ය සෘද්ධියක් නිසා තමයි එහෙම සිද්ධ වුණේ.

**මොහොතක් මෙත් සිත වැඩීම හෝ අනිච්ච සංඥාව වැඩීම මහා දානවලටත් වඩා මහත් ඵලයි, මහානිසංසයි.**

බුදු පියාණන් වහන්සේ පෙර බෝධි සත්ත්ව පාරමිතා පුරන අත්බැවක වේලාම නම් බමුණෙක් වෙලා ඉපදිලා දුන්න මහා දානයක් පිළිබඳව අනේපිඬු සිටුතුමාට දේශනා කරල තියෙනවා.

''ගැහැවිය, පෙර වූවක් කියමි. වේලාම නම් බමුණෙක් වීය. හේ මෙබඳු මහා දාන නම් දනක් දින. රිදියෙන් පිරූ සුවාසූ දහසක් රන්මුවා පා දින. රනින් පිරූ සුවාසූ දහසක් රිදීමුවා පා දින. අමු රනින් පිරූ සුවාසූ දහසක් කස්ලෝ පා දින. ස්වර්ණාලංකාර ඇති රන් දද ඇති රන් රසු දැලින් ගැවසුණු සුවාසූ දහසක් ඇතුන් දින. සිහ සම් අතුළ, වග සම් අතුළ, දිවි සම් අතුළ, පඩු ඇඹුල් අතුළ, රන් ලකර ඇති රන් දද ඇති රන් රසු දැලින් ගැවසුණු සුවාසූ දහසක් රිය දින. දුහුල් අතුළ කස්ලෝ කොසු ඇති සුවාසූ දහසක් දෙනුන් දින. මිණි කොඩොල් පැළඳි සුවාසූ දහසක් කන්‍යාවන් දින. (ඒ කියන්නෙ විවාහ වෙන්න අඩු පාඩු අඟහිඟකම් තිබිච්ච අයට ඒ කාරණාවන් සම්පූර්ණ කරල දීල සමාජ චාරිත්‍ර අනුව සිදු කෙරෙන විවාහයන්ට අවස්ථාව සලසා දුන්නා) කොඳු පලස් අතුළ සුදු ඇතිරි අතුළ ඝන පුප් එළු ලොම් ඇතිරි අතුළ කෙසෙල් මුව සමින් කළ උතුම් පසතුරුණු ඇති උඩු වියන් සහිත දෙපස තැබූ කණවයින් ඇති සුවාසූ දහසක් පළඟ දින. සියුම් කොමු පිළිය සියුම් කෝසෙය්‍ය පිළිය, සියුම් කම්බිලිය, සියුම් කපු පිළිය යන කෙළ සුවාසූ දහසක් වස්ත්‍ර දින. අන්නපාන ඛාද්‍ය භෝජ්‍ය ලෙහ්‍ය පේය (ආහාර පාන, කන බොන දේවල්, කට ගාන දේවල්, ආහාර දිරවීම පහසු වෙන්න දෙන ප්‍රත්‍ය) පිළිබඳ කවර කථා ය? නදීන් මෙන් ගලති.''

අබුද්ධෝත්පාද කාලයක් නිසා ඒ දානය පිළිගන්න හිටපු අසූහාරදහසක් පිරිස අතර එක සෝතාපන්න පුද්ගලයෙක්වත් හිටියෙ නෑ. ඒ දානය පිළිගන්න එක සෝතාපන්න පුද්ගලයෙක් හෝ හිටිය නම් ඒක මහත්ඵල බව බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

''ගහපතිය, වේලාම බමුණු මහා දාන නම් යම් දනක් දුනි නම්, යම් දිට්ඨි සම්පන්නයෙකු (සෝතාපන්න පුද්ගලයෙක්) වළඳවා නම්, යම් සියක් දිට්ඨි සම්පන්නයන් වළඳවා නම්, යම් එක් සකෘදාගාමියෙකු වළඳවා නම්, යම් සියක් සකෘදාගාමීන් වළඳවා නම්, යම් එක් අනාගාමියෙකු වළඳවා නම්, යම් සියක් අනාගාමීන් වළඳවා නම්, යම් එක් රහතෙකු වළඳවා නම්, යම් සියක් රහතුන් වළඳවා නම්, යම් එක් පසේ බුදුවරයෙකු වළඳවා නම්, යම් සියක් පසේ බුදුවරුන් වළඳවා නම්, යම් තථාගත අරිහත් සම්මා සම්බුදුවරයෙකු වළඳවා නම්, යම් බුදු පාමොක් බික් සඟුන් (බුදුන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝරත්නය) වළඳවා නම්, යමෙක් සිවු දිග්හි සඟුන් උදෙසා වෙහෙරක් කරවා නම්, යමෙක් පහන් සිතැතියේ බුදුන් දහම් සඟුන් සරණයේ නම්, යමෙකු පහන් සිතැතියේ පඤ්චසීලයෙන් දුරුවීමය, මද පමා දෙකට කරුණු රහ මෙරින් දුරු වීමය යන සික පද සමාදන් වේ නම්, යමෙකු යටත් පිරිසෙයින් ගඳ සුඹුනා (ගන්ධයක් ඉඹින කල්) පමණ කලෙකුත් මෙත් සිත් වඩා නම්, යමෙකු අසුරු සන් ගසන පමණ කලෙකුත් අනිච්ච සංඥාව වඩා නම් එයම මහත් ඵල කරයි.'' (අංගුත්තර නිකාය 5, <u>වේලාම සූත්‍රය</u>)

සද්ධර්මාවබෝධය තුළින් **ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් අසාරත්වය දැකපු කෙනෙක්, තමා මෙන්ම තමන්ගෙන් අවැඩක් අසාධාරණයක් සිදු වූ ලෝක සත්ත්වයිනුත් සංසාර දුකෙන් මුදවාලීමේ පරම අධිෂ්ඨානයෙන් ගඳ සුඹුනා පමණ කාලයක් මෙත් වැඩීම, මහා දානයකටත් වඩා මහත් ඵල නම්, අප්‍රමාණව මෙත් වැඩීමෙන් අනන්ත සසර ගමන තුළ අන්‍ය ලෝක සත්ත්වයින්ට සිදු වූ අවැඩට අසාධාරණයන්ට වන්දි ගෙවල නිදහස් වෙලා, තමන් වෙත පැමිණෙන අයහපත් විපාක බොහෝ දුරට මග හරවා ගන්න පුළුවන් වෙනවා.** ඒ ණයෙන් නිදහස් වූ තරමට මානසික සුද්ධතාවය ලැබිල ආර්ය මාර්ගය වඩන්න පසුතලය සකස් වෙලා එනවා. අනිච්ච සංඥාව වඩන්න නම්, බුදු දහම පදනම් කරගත් ත්‍රිලක්ෂණය අවබෝධ කරගන්න ඕන. වෛදික බමුණන් විසින් ''මම'' කියල අදහස් කරන ආත්ම දෘෂ්ටියෙන් අල්ලා ගන්න යමක් ඇත්නම්, ඒ සියල්ල ඉච්ඡ සේ හෙවත් කැමති සේ පවත්වන්න බෑ. ඒ නිසා පෙළෙනවා. ඒ නිසා අනිච්චයි. යමක් කැමති සේ පවත්වන්න බැරි නම් ඒකෙන් ලැබෙන්නෙ දුකක්. ඒ සියල්ල ගෙන දෙන්නෙ දුක නම්, එයින් සිද්ධ වෙන්නෙ අනර්ථයක්. ඒ නිසා සිතින්, කයින්, වචනයෙන් ඒවා ඇසුරු කිරීම නිසිද අනිසිද කියල ධර්මානුකූලව මෙනෙහි කරන කොට වැඩෙන්නෙ අනිච්ච සංඥාව.

සියලු සංස්කාරයන්ගේ අනිච්ච සංඥාව කුමක්ද කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ මෙහෙමයි.

''කතමාචානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සඤ්ඤා? ඉධානන්ද භික්ඛු සබ්බ සංඛාරේහි අට්ටීයති හරායති ජිගුච්ඡති අයං වුච්චතානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සඤ්ඤා'' (<u>ගිරිමානන්ද සූත්‍රය</u>)

සියලු සංඛාරයන්හි පෙළෙන ස්වභාවයක් තියෙනවා (අට්ටීයති), ඒවා යළි යළි කරනව නම් ලැජ්ජා විය යුතුයි (හරායති), ඒවා මළ මූත්‍ර මෙන් ප්‍රතික්ෂේප කළ යුතුයි, අසුභ ලෙස සිහි කළ යුතුයි (ජිගුච්චති). මස් කටු කන බල්ලෙක් ඒකෙන් පෙළෙනව මිසක් ඌට ලැබෙන දෙයක් නෑ. ලෝක සත්ත්වයා මේ ආකාරයටම පංච කාම ආස්වාද පසු පස ගිහින් පෙළෙනවා. ඒවා කැමති සේ පවත්වන්න බෑ, ඒ නිසා අනිච්චයි කියල බුදු පියාණන් වහන්සේ දේශනා කළ සත්‍යය දැක්ක නම්, ඒවා පසු පස යළි හඹා යන මානසිකත්වය දුරු වෙනවා. ඒවට ලැජ්ජා වෙලා ඒවා පහ කරනවා. ලෝ වැඩ සඟරාවෙ එන කවියකින් මේ අට්ටීයති කියන වචනය අපූරුවට විග්‍රහ කරල තියෙනවා.

**මස් ලේ නැති ඇට බලු ලෙව කන්නේ**
**කුස් පිරුමක් ඵලයක් නොලබන්නේ**
**ලෙස් ඒ සැපතෙහි ලොබ නොසිතන්නේ**
**දොස් නොපෙනෙනු මිස දුක් මයි වන්නේ**

පංචකාම ආස්වාද පස්සෙ හඹා යනව කියන්නෙ, මස් ලේ නැති ඇට ලෙව කන බල්ලො කරන ක්‍රියාවක් වගේම දෙයක්. මේ කාරණය අවබෝධ වෙන්න ප්‍රඥාවම වැඩිල තියෙන්න ඕන. කල්‍යාණ මිත්‍රයෙක් මුණ ගැහිල, සත් ධර්මය ශ්‍රවණය කරල, මේ පංචකාම ආස්වාද සහිත ලෝකය කැමති සේ පවත්වන්න බෑ, ඒ නිසා අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියන සත්‍යාවබෝධය ලබා ගන්න නම් අලෝභ, අදෝස, අමෝහ මානසිකත්වයෙන් යුක්තව ත්‍රිහේතුක පටිසන්ධියකින් උප්පත්තියක් ලබල තියෙන්න ඕන. දන් දිය යුතුමය, පින් කළ යුතුමය කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙත් මේ නිසා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඇල්. අමරසිංහ**
**(විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු)**
**පිළියන්දල.**

# බුදු පියාණන් වහන්සේලා පිළිබඳව යමක්...

තුන් ලොවටම අති ශ්‍රේෂ්ඨ, අති උතුම්, අති දුර්ලභ, උත්තරීතරම පදවිය තමයි ලොවුතුරා සම්මා සම්බුද්ධත්වය කියන්නෙ. බුදුවරයන් වහන්සේ නමකගේ ශ්‍රේෂ්ඨත්වය නිවැරදිව දේශනා කරන්න පුළුවන් වෙන්නෙ තවත් බුදුවරයන් වහන්සේ නමකට විතරමයි. බුදුවරයන් වහන්සේ නමක් කල්පයක් තිස්සේ වෙනත් කිසිම දෙයක් දේශනා නොකර බුදු ගුණ විතරක් දේශනා කළත්, කල්පය නිමාවට පත් වෙනව මිසක් බුදු ගුණ නිමාවට පත්වෙන්නෙ නෑ කියල ධර්මයේ සඳහන් වෙනවා. ඒ තරමටම බුදු ගුණ අනන්තයි, අචින්ත්‍යයි. ඒ වගේම බුදුවරයන් වහන්සේලා දෙනමක් අතර කාල පරතරය අවුරුදුවලින් මෙපමණයි කියල දක්වන්න බැරි තරම් ඉතා දීර්ඝ කාලයක්. සමහර කල්පවල බුදුවරු සිවු නමක් පහළ වෙනවා. "සාරමණ්ඩ කල්පය" කියල හඳුන්වන්නෙ ඒ වගේ කල්පයක්. "වර" කියල හඳුන්වන කල්පයේ බුදුවරු තුන් නමක් පහළ වෙනවා. ඒ වගේම "මණ්ඩ" කියල හඳුන්වන කල්පයේ පහළ වෙන්නෙ බුදුවරු දෙනමයි. ඊළඟට එක බුදුවරයන් වහන්සේ නමක් පමණක් පහළ වෙන කල්පය "සාර" කියල හඳුන්වනවා.

මේ අතර බුද්ධ ශූන්‍ය කල්පත් තියෙනවා. වැඩිපුරම තියෙන්නෙ ඒ වගේ බුද්ධ ශූන්‍ය කල්ප. ඒ කියන්නෙ ඒ වගේ කල්පයකට එක බුදුවරයන් වහන්සේ නමක්වත් නෑ. පසුගිය කල්ප 91 ටම පහළ වෙලා තියෙන්නෙ බුදුවරයන් වහන්සේලා හත් නමයි. ඒ හත් නමෙන් හතර නමක්ම මේ මහා භද්‍ර කල්පය තුළ පහළ වෙලා අවසානයි. මහා භද්‍ර කිව්වෙ අති උසස් ගුණයන්ගෙන් පූර්ණ වෙලා තියෙන නිසා. මහා භද්‍ර කල්පයක් ලෝකෙ පහළවීමත් අති දුර්ලභව සිදුවන දෙයක්. මහා භද්‍ර කල්පයක බුදුවරයන් වහන්සේලා පහළ වෙන්නෙ උපරිම පස් නමයි. ඒ පස් නමෙන් දැනටමත් හතර නමක්ම පහළ වෙලා අවසන්. මහා භද්‍ර කල්පය ඇරෙන්න අනෙක් කල්පවල බුදුවරයන් වහන්සේලා පහළ වෙන්නෙ ඉහතින් සඳහන් කළා වගේ එක් නමක්, දෙනමක්, තුන් නමක්, හතර නමක් ආදී වශයෙන්. බුදුවරු උපරිමව පහළ වෙන මහා භද්‍ර කල්පයේ වුනත් චතුරාර්ය සත්‍යය කතා කෙරෙන කාලය ඉතා අල්ප බව ධර්මයේ සඳහන් වෙනවා. ඒ නිසා බුදු රජාණන් වහන්සේ නමක් පහළ වීම කියන්නෙ අති දුර්ලභ දෙයක් බව තේරුම් ගන්න ඕන.

අට විසි බුදු රජාණන් වහන්සේලා කියල බුදුවරු 28 නමක් විවිධ නම්වලින් හැඳින්වුවත්, මේ හැම බුදු රජාණන් වහන්සේ නමකගේම බුදු ගුණ එක හා සමානයි. නමුත් එක් එක් බුදු පියාණන් වහන්සේ විශේෂිත වූ නමකින් හැඳින්වෙන්නෙ ඒ ඒ බුදු පියාණන් වහන්සේ විසින් දුන්නු විවරණ නාමය අනුව.

උදාහරණ විදියට විශ්ව විද්‍යාලයකට ඇතුලත් වෙලා ගෞරව උපාධියක් ලබා ගෙන ගුරුවරයෙක් වශයෙන් සේවය කිරීමේ පරම චේතනාවෙන් තමන්ගෙ ගමට පැමිණි පුද්ගලයෙක්, තමන්ගෙ ගමේ පෙර පාසැල් යන දරු



දැරියන්ට උගන්වනවා. දැන් ඒ ළමයි, ඒ අපේ ''මොන්ටිසෝරි ටීචර්'' කියල ඔහුව හඳුන්වනවා. ඒ වගේම ඒ ගුරුවරයා පාසලේ ඉහළ පංතිවල සිසුන්ට ඉංග්‍රීසි උගන්වන කොට, ඒ ළමයි ''ඉංග්‍රීසි සර්'' කියල හඳුන්වනවා. ඒ වගේම 5,6 වසරවල සිසුන්ට ගණිතයත් උගන්වනවා. ඒ පංතිවල සිසුන් අතර ඔහු ''ගණිත සර්'' කියල ප්‍රසිද්ධ වෙනවා. තවත් පංතියක ළමයින්ට විද්‍යාව උගන්වන කොට ඒ පංතියේ සිසුන් ඔහු ''විද්‍යා සර්'' කියල හඳුන්වනවා. මේ ආකාරයට යම් යම් තැන උගන්වන විෂය අනුව එකම ගුරුවරයා විවිධ නම්වලින් ආමන්ත්‍රණය කරනවා. ඔහුට ඒ විදියට විවිධ නම්වලින් ආමන්ත්‍රණය කරන්නෙ, ඒ ඒ විෂයන් කෙරෙහි විවිධ හැකියාවන් ප්‍රගුණ කර තිබීම නිසා. ඔහුට ''ගණිත සර්'' කියන්නෙ, යම් ස්ථානයක් මුල් කරගෙන ගණිතය උගන්වන්න කටයුතු කරන නිසා. ''විද්‍යා සර්'' කියන්නෙ , යම් ස්ථානයක් මුල් කරගෙන විද්‍යා විෂය උගන්වන්න කටයුතු කරන නිසා. මේ විදියට එකම ගුරුවරයා විවිධ නම්වලින් හඳුන්වන්නෙ, ඒ ඒ තැන කටයුතු කරන ආකාරය අනුව.

මෙන්න මේ වගේ ඒ ඒ බුදුවරයන් වහන්සේලා කටයුතු කරපු ආකාරය අනුව තණ්හංකර, මේධංකර, සරණංකර, දීපංකර, කොණ්ඩඤ්ඤ, මංගල, සුමන, රේවත, සෝභිත, අනෝමදස්සී, පදුම, නාරද, පදුමුත්තර, සුමේධ, සුජාත, පියදස්සී, අත්ථදස්සී, ධම්මදස්සී, සිද්ධත්ථ, තිස්ස, ඵුස්ස, විපස්සී, සිඛී, වෙස්සභූ, කකුසඳ, කෝණාගම, කස්සප, ගෞතම ආදී වශයෙන් විසි අට නමකින් ඒ ඒ බුදුවරයන් වහන්සේලා හඳුන්වනවා. මේ ආකාරයට ගෞතම බුදුන් වහන්සේ පෙරුම් පුරන්න පටන් ගත්තු කාලයේ පටන් පහළ වූ පන් ලක්ෂ දොළොස් දහස් විසි හතක් බුදුවරයන් වහන්සේලාට පුද්ගල නාම තියෙනවා.

**නමුත් සියලු බෝධි සත්වයන් වහන්සේලාම බෝ මැඩ ලොව්තුරා බුද්ධත්වයට පත් වෙන අවස්ථාවෙදි කවුරුන් විසින් හෝ නොදීපු පොදු නාම හිමිකමක් ලබනවා.** ඒක ලොවුතුරා බුද්ධත්වයට පත් වෙන අවස්ථාවෙදි හැම බුදුවරයන් වහන්සේ නමකටම ලැබෙන හිමිකමක්. උදාහරණ විදියට ''අරහං'' කියන බුද්ධ නාමය බෝධි මූලයෙදිම ලොව්තුරා බුද්ධත්වයත් සමගම සියලුම බුදුවරයන් වහන්සේලාට ලැබෙන නමක්. ඒ වගේම ''සම්මා සම්බුද්ධ'' කියන්නෙත් කවුරුවත් තියපු නමක් නෙවෙයි. සියලු බුදු පියාණන් වහන්සේලා සම්මා සම්බුද්ධයි. ඒ වගේම සියලු බුදු පියාණන් වහන්සේලා බෝ මැඩ ලොව්තුරා බුද්ධත්වයට පත්වෙන කොටම විජ්ජාචරණ සම්පන්නයි. සියලු බුදු පියාණන් වහන්සේලා සුගතයි, ලෝකවිදූයි, අනුත්තරෝ පුරිස ධම්ම සාරථී කියන ගුණ නාමයෙන් යුක්තයි. ඒ වගේම සත්තා දේවමනුස්සානං, බුද්ධ කියන ගුණවලින් යුක්තයි. ඒ වගේම සියලු බුදු පියාණන් වහන්සේලා භගවතුන් වහන්සේලාමයි.

මේ ආකාරයෙන් වූ ක්‍රමවේදයක් තියෙනවා. යම් ආකාරයකින් ☞

පාරමිතා පුරාගෙන යන උත්තමයන් වහන්සේලා යම් කිසි පාරමිතා ගුණයක් පූර්ණ කරල, ඒ ගුණය නියත විවරණ ලබන මොහොතෙදි ඔප් නංවල දෙන බුදු පියාණන් වහන්සේ නමක් ඇත්ද, උන්වහන්සේගෙන් විවරණ ලබන බෝධි සත්වයින් වහන්සේව ඒ නමින් හඳුන්වන්න පුළුවන් කෙනෙක් වෙනවා. ඒ කියන්නෙ කිසියම් බෝධි සත්වයින් වහන්සේ නමක් බුදුවරයන් වහන්සේ නමක් ඉදිරියේදි නියත විවරණ ලබන කොට, ඒ බෝධි සත්වයින් වහන්සේ මතු බුදු බව ලබන්නෙ මෙන්න මේ නමින් කියල ඒ නම පෙන්වල දෙනවා. එහෙම නමක් ලැබෙන්නෙත් ඒ ඒ තැන කටයුතු කරපු ආකාරය අනුව. නමුත් අරහං, සම්මා සම්බුද්ධ... ආදී නම්වලින් හඳුන්වන්නෙ, කවුරුන් විසින් හෝ ලබා දෙන නාමයක් නිසා නෙවෙයි, ඒ සියලු බුදුවරයන් වහන්සේලා ඒ ගුණයන්ගෙන් යුක්ත වන නිසා.

මේ ආකාරයට ලොවුතුරා බුද්ධත්වය ලබන්න නියමිත බෝධි සත්වයන් වහන්සේ නමක් බුදුවරයන් වහන්සේලා 24 නමක් ඉදිරිපිට නියත විවරණ 24 ක් ලැබිය යුතු වෙනවා. ඒ වගේම ඊට පෙර අනියත විවරණ තුනකුත් බුදු පියාණන් වහන්සේලා තුන් නමකගෙන් ලබන්න ඕන. අනියත විවරණ කියන්නෙ, බුද්ධ කාරක ධර්මයන් සම්පූර්ණ කළොත් බුදු බව ලබාගන්න පුළුවන් කියල බුදු රජාණන් වහන්සේ නමක් විසින් අනියමාර්ථයෙන් ප්‍රකාශ කිරීම. සූවිසි විවරණය (24 වන විවරණය), නියත විවරණය බවට පත් වෙන කොට ඊට පෙර හිටපු බුදුවරයන් වහන්සේලාගෙන් අනියත විවරණ ලබල තියෙන්න ඕන. ඒ කියන්නෙ ඒ තත්වයට හේතු ඇත්තෙක් බවට අවශ්‍ය කරන්නා වූ ප්‍රතිඥාවක් ලබා ගන්න ඕන. නියත විවරණය ලබාගන්න පෙර හැම බෝසත්වරයෙක්ම මනෝ ප්‍රණිධානය සහ වාග් ප්‍රණිධානය සම්පූර්ණ කර තිබීමත් අවශ්‍ය වෙනවා. **මනෝ ප්‍රණිධානය කියන්නෙ පුණ්‍ය කර්ම කරල, මේ පිනින් මට බුදු බව ලැබේවා කියල සිතින් ප්‍රාර්ථනා කිරීම. මේ මනෝ ප්‍රණිධානය බෝධි සත්වයෙක් විසින් සත් අසංඛ්‍ය කල්ප ලක්ෂයක් සම්පූර්ණ කළ යුතු බවත් ධර්මයේ සඳහන් වෙනවා. මේ විදියට මනෝ ප්‍රණිධානය සම්පූර්ණ කළ බෝධි සත්වයෙක්, ඊළඟට වාග් ප්‍රණිධානය පුරන්න පටන් ගන්නවා. ඒ කියන්නෙ පුණ්‍ය කර්ම කරල මට මේ පිනෙන් බුදු බව ලැබේවා කියල වචනයෙන් ප්‍රකාශ කිරීම. මේ විදියට වාග් ප්‍රණිධානය නව අසංඛ්‍ය කල්ප ලක්ෂයක් සම්පූර්ණ කළ යුතු බවත් ධර්මයේ සඳහන් වෙනවා.**

ඒ වගේම ධර්මයේ මෙහෙම කතාවක් තියෙනවා. බ්‍රහ්ම ලෝකය හිස්ව ගිය එක් අවස්ථාවක බ්‍රහ්මයන්ගෙ ආයුස ගෙවිල බඹ ලොවින් චුත වුණා. නැවත බඹ ලොව උපදින බ්‍රහ්මයෙක් නැති තරමටම ඒක සිද්ධ වුණා. එක්තරා බ්‍රහ්මයෙක් මේකට හේතුව මොකක්ද කියල හොයල බලන කොට, බුද්ධ ශුන්‍ය කල්ප බොහෝ ගණනක් ගත වෙලා තියෙන බව අවබෝධ කර ගෙන, බුදු බව පතන බෝසත්වරයෙක් ඉන්නවද කියල හොයල බැලුවා. එතකොට බොහෝ ගණනක් ඉන්න බවත්, නමුත් උන්වහන්සේලා තවම බෝසත් අවධිවල පෙරුම් දම් සපුරන බවත් අවබෝධ කර ගත්තා. මොකද චිත්ත පරිවිතර්කයෙන් කෙනෙක් සිතන සිතිවිලි අල්ල ගන්න පුළුවන් හැකියාව බ්‍රහ්මයින්ටත් තියෙනවා. ඉතින් තමාත් කිසියම් පුද්ගලයෙක් බුදු බව පැතීමට යොමු කළ යුතුයි කියල කල්පනා කරපු ඒ බ්‍රහ්මයා ඒ සඳහා සුදුසු පුද්ගලයෙක් හෙව්වා. මේ විදියට තමන්ගෙ ශක්තිය භාවිතා කරමින් හොයන කොට, ගමන් කරපු නැව කැඩිල මුහුදු බත් වෙලා මවත් කරපින්නාගෙන හත් දිනක් පිහිනන ගුණවත් වීර්යවන්ත පුරුෂයෙක් දැක්කා. මේ ආකාරයේ වූ ශ්‍රේෂ්ඨ පුරුෂයකුටයි බුදු බව ප්‍රාර්ථනා කරවන්න ඕන කියල හිතපු මේ බ්‍රහ්මයා, ඔවුන් ගොඩ බිමට සේන්දු වෙන කොට මවට ආරූඪ වෙලා "පුතේ උඹ මතු දිනක බුදු වෙයන්" කියල කියෙව්වා. අපේ ගෞතම බුදු රජාණන් වහන්සේගෙ බුදු බව පැතීමේ ආරම්භය සිද්ධ වුනයි කියන්නෙ මේ ආකාරයට. ඒ දවසෙ පටන් මනෝ ප්‍රණිධානය සත් අසංඛ්‍ය කල්ප ලක්ෂයක් සම්පූර්ණ කරල, පුරාණ ගෞතම බුදුරදුන්ගෙන් අනියත විවරණය ලබල, ඊළඟට වාග් ප්‍රණිධානය පිරීම පටන් ගත් බවත් සඳහන් වෙනවා. මේ විදියට මනෝ ප්‍රණිධානය සහ වාග් ප්‍රණිධානය සම්පූර්ණ කරපු බෝසත්වරයෙක් නියත විවරණ ලබා ගන්න සුදුසුකම් ලබනවා.

බෝධි සත්වයන් වහන්සේ නමක් පාරමිතා පුරල නියත භාවයට පත් වෙන්න මුලින්ම කරන්න ඕන කටයුත්තක් තියෙනවා. ඒ අනුව පෘතජ්ජන මානසිකත්වයෙන් ක්‍රමයෙන් ලෝකෝත්තර මානසිකත්වයට නැඹුරු වෙලා, අවශ්‍ය කරන පාරමිතා පුරන බෝධි සත්ව ගුණයන්ගෙන් වැඩෙන්න ඕන. මේ විදියට වැඩෙන කොට ලෝක සත්වයාගෙ පෘතජ්ජන ගති ලක්ෂණ ස්වභාවයන් ඒ බෝසතාණන් වහන්සේ කෙරෙන් ක්‍රමයෙන් නැති වෙලා යනවා, පෙරී පෙරී යනවා. පෙරුම් පුරනව කිව්වෙ ඒකයි. මොනවද මේ පෙරන්නෙ? යම් කිසි කෙලෙස් කහට, පෘතජ්ජන මානසිකත්වය, ලෝකානුකම්පාවෙන් තොර අත්මාර්ථකාමී ගති ලක්ෂණ, කහට බව දැන ගෙන පෙර පෙරා ගුණයෙන් පූර්ණ භාවයට පත් වෙන්න කටයුතු කරනවා. මේකට තමයි පෙරුම් පුරනවා කියන්නෙ. හැබැයි ඒක ලේසියෙන් පෙරල දාන්න බෑ. අගුණය දැන ගෙන අගුණය අත්හරින්න සිතින්, කයෙන්, වචනයෙන් කටයුතු කරන්න ඕන. මේ ආකාරයට අනන්ත කාලයක් කටයුතු කරන්න ඕන. පෙරුම් පුරන එක ලේසි වැඩක් නෙවෙයි කියන්නෙ ඒකයි. මොකද ලෝක සත්වයින්ට නිතරම වගේ තියෙන්නෙ තණ්හාවෙන් කරන කටයුතු. තමන්ට ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් ලැබෙන්නෙ නැත්නම් කිසිම වැඩකට අත ගහන්න කැමති නෑ. නිතරම තණ්හාකාරක බව තමයි පෘතජ්ජන ස්වභාවය. යම් පුද්ගලයෙක් තණ්හාව ප්‍රධාන කාරණය කරගෙන තියෙන මානසිකත්වය මග හැරල, ලෝකාර්ථ චර්යාව මිසක් මම කිසිම ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් බලාපොරොත්තු වෙන්නෙ නෑ, මට ඕන මේ ලෝකයට යහපතක් සිද්ධ කරන්න කියන මානසිකත්වය වැඩුවොත්, ''තණ්හංකර'' කියන තත්වයෙන් ගෞරවය ලබනවා. ඒ කියන්නෙ තණ්හා නොකරන හෙවත් තණ්හා අං කරන තත්වයෙන් අනියත විවරණ ලබන්න හැකියාව ලැබෙනවා. තණ්හා අං කරන ගති ලක්ෂණය ඇති නිසා යම් කිසි බුදුවරයන් වහන්සේ නමක් ළඟදි, ඔබේ දැන් චරිත ලක්ෂණය තමන්ගෙ ලාභ, කීර්ති, ප්‍රසංසාවන් උදෙසා නෙවෙයි, හුදෙක්ම පරාර්ථ චර්යාව, ලෝකානුකම්පාව මුල් කරගෙන සිදු කරන්නක් කියල බුදුවරයෙක් ප්‍රතිඥාවක් දෙන කොට තණ්හංකර විවරණය ලබනවා. ඒ කියන්නෙ තණ්හා නොකරන තැනක ඉන්න බව පෙන්වා දීම තමයි සිද්ධ වෙන්නෙ.

ඒ නිසා තණ්හංකර කියන කොට ඒ දෙන විවරණයේ ස්වභාවය උන් වහන්සේ දන්නවා. මේ තැනැත්තා තණ්හා නොකරන තත්ත්වයට දැන් පත් වෙලා ඉන්නවා, ලොවුතුරා බුද්ධත්වයට පත්වීමට නියමිත කෙනෙක් යම් තණ්හාවක් අත් හැරිය යුතුද, ඒ අත් හැරීමට සුදුසු ධෛර්ය ලැබිල තියෙනව කියල ඒ අවස්ථාවෙදි දන්නවා. එහෙම අවස්ථාවක් ආවම තමයි, ඔබ දැන් තණ්හංකර කියන තත්ත්වයට පත් වෙන්න සුදුසුයි කියල තණ්හංකර විවරණය දෙන්නෙ. ඒ නිසා ලොවුතුරා බුදු වෙන්න ඉන්න හැම කෙනෙකුටම, ඉස්සෙල්ලම ලැබෙන විවරණය තමයි තණ්හංකර විවරණය. ඒ විදියට තමයි අනෙක් සියලුම විවරණ ලැබෙන්නෙත්. ඒ අවස්ථාවෙදි තියෙන ගුණය බලල තමයි ඒක දෙන්නෙ. හරියට උපාධි තානාන්තර වගෙයි. යම් කිසි උපාධි පත්වීමක් අරන් යන කොට, එක එක පන්තිය සමත් කරනව වගේ දෙයක්. පළවෙනි පංතියේ සාමාර්ථලාභියා, දෙවන පංතියේ සාමාර්ථලාභියා, තුන්වෙනි පංතියේ සාමාර්ථලාභියා කියල ලෝක සම්මතයේ වෙන් කරනව වගේ ඒ පුද්ගලයා ඒ ☞

අවස්ථාවෙදි ඒ නමින් හඳුන්වනවා.

ඊළඟට මේධංකර කියල කියන්නෙ මිදෙනවා, හැකිලිලා යනවා කියන අර්ථය. තමන්ට ලාභයක්, කීර්තියක්, ප්‍රසංසාවක් නැත්නම්, අනුන්ට උදව්වක් උපකාරයක් කරන්න අවස්ථාවක් ලැබුණම ඒකෙන් ලැබෙන ප්‍රසාදයත් මදි නම්, ඒ පුද්ගලයට අනුන්ට උදව් කරන්න ධෛර්යක්, උත්සාහයක්, වීර්යක් නැගෙන්නෙ නෑ. නමුත් අනුන්ට උදව් උපකාර කිරීම මහා චිත්ත ප්‍රසාදයක් ඇති කරවන මානසිකත්වයක් හැටියට දකල ගුණ වැඩුනොත්, කවදාවත් මිද්ධ බවට පත්වෙලා ඉන්නෙ නෑ, මිද්ධ කරන්නෙ නෑ. එතකොට මිද්ධ අංකර වෙනවා. ඒ කියන්නෙ මිද්ධ නොකරන තත්වයට පත් වෙනවා. එහෙම මිද්ධ නොකරන ගති ලක්ෂණයක් මතු වුණොත් බුදුවරයකුගේ මිද්ධ නොකරන ගති ලක්ෂණය ඔහු තුළ ඇතිවෙනවා. ලෝක චරියාවට කටයුතු කරන මානසිකත්වයෙදි, ඒ සඳහා අනුන්ට උදව්වක් උපකාරයක් කරන්න අවස්ථාවක් ලැබුණොත්, ඒ සඳහා හැකිළෙන පුද්ගලයෙක් වෙන්නෙ නෑ. නැගී සිටින මානසිකත්වයක් ඇති උත්තරීතර ගුණයට හිමිකම් කියන පුද්ගලයෙක් වෙනවා. ඒ වගේම මේධංකර කියන අනියත විවරණය ලබන්න සුදුසෙක් වෙනවා.



මේ විදියට ගුණ වර්ධනය වෙන කොට අනුන්ගෙ සරණ පතාගෙන ඉන්නෙ නැතිව, අනුන්ට සරණ වෙන්න ඕන කියන බලාපොරොත්තුවක්, මානසිකත්වයක් ඇතිවෙනවා. ඒ නිසා අනුන්ගෙ සරණක් ගන්නෙ නැතිව, කවුරු නැතත් මමම තනියෙන් හොයාගෙන යනවා කියන තැනට මානසිකත්වය එනවා. තමන් ඒ කාරණය සඳහා දිවි පරදුවට තියල ඉදිරිපත් වෙනවා. එතකොට සරණ නොකරන අර්ථයෙන් සරණංකර වෙනවා. මේ විදියට අනුන්ගෙ යහපතට, දුකට පිහිට වෙන ගුණය මහ බෝසත් ගුණයක්. මේ ගුණය වැඩුනම සරණංකර කියන අනියත විවරණය ලබන්න සුදුස්සෙක් වෙනවා.

මේ වගේ ගුණ වැඩෙන කොට ලෝකය ගැන බලාපොරොත්තු අත් හැරෙන මානසිකත්වයක් එනවා. මේ ලෝකෙ තියෙන කිසිම සම්පතකින්, කිසිම දෙයකින් තමන්ට වැඩක් නෑ, තමන්ට අවශ්‍ය වෙන්නෙ ලෝකයාට යහපතක් කරන්නයි කියන මානසිකත්වයට පත් වෙනවා. තමන් කරන දේවල්වලට මොන දීපයක් ලැබුණත් දීපයක් පාලනය කර ගන්න ලොකුකමක්, මාන්නයක් හෝ අඩුම ගානෙ ඒ සඳහා ඡන්ද රාගයක්වත් නැති තත්වයට මනස පත් වෙනවා. ලෝකයාට යහපතක් කිරීම මිසක් රජකමෙන් ඇති ඵලක් නෑ, ලැබෙන රජකම ලැබුණත් තමන්ට රජකම ගැන බලාපොරොත්තුවක් නෑ කියන මානසිකත්වයට හිත වැඩුනම, නියත විවරණ ලබන්න මානසිකත්වය වැඩෙනවා. දීප නොකරන තත්වයට පත් වෙලා, ඒ කියන්නෙ දීපය අල්ල ගන්නෙ නැතුව, ලෝකයේ මේ මහාද්වීප අල්ල ගන්න බලාපොරොත්තු නැතුව, ලෝකයේ රජකම් කරන බලාපොරොත්තු අත් හැරල, නිදහසේ ලෝකයට යහපත සිද්ධ කරනවා කියන මානසිකත්වය නැගෙන කොට අලෝභ මානසිකත්වයක් ගොඩ නැගෙනවා. මේ ආකාරයෙන් පටන් ගෙන ඒකාන්තයෙන් බුදු වෙන කෙනෙක් බවට නියත වෙනවා. දීපංකර විවරණය කිව්වෙ ඒකයි.

එතකොට තණ්හංකර, මේධංකර, සරණංකර කියන බුදු පියාණන් වහන්සේලාගෙන් අනියත විවරණ තුන ලැබිල අවසානයි. ඉන් පස්සෙ බුද්ධත්වයට පත් වීම සඳහා නියත විවරණ 24 ක් ලැබීම අනිවාර්යයි. හැබැයි මෙහෙම ක්‍රමයක් ගැන පොත්වල සඳහන් වෙන්නෙ නෑ. පොත්වල පෙන්වන්නෙ බුදුවරු 24 දෙනෙක්ගෙන් නියත විවරණ ගන්න බව විතරයි. මේ ආකාරයෙන් **කවද හරි ලොවුතුරා බුද්ධත්වයට පත් වෙන්න නම්, අටවිසි බුදුවරුන්ගෙ නම්වලින් කියවෙන ගුණ 28 ක් පූර්ණ වෙන්න ඕන.** ලොවුතුරා බුදු රජාණන් වහන්සේගෙ ශ්‍රාවක බෝධි ගුණයට වඩින කොට, බෝධි සත්ව උතුමෙක් පූර්ණ කළ යුතු මේ ගුණ 28 සිහි කරල වැන්දම සාර අසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරල පූර්ණ කරපු මහා ගුණස්කන්ධයට වැන්දා වෙනවා. ඉතිං, මේ අට විසි බුද්ධ වන්දනාවෙන් කරන්නෙත් සාර අසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරල පූර්ණ කරපු මහා ගුණස්කන්ධයට වන්දනාමාන කිරීමක්. බෝධි සත්වයන් වහන්සේලාත් ලොවුතුරා බුද්ධත්වයට පත් වෙලා සර්වඥතා ඥානයෙන් යුක්ත වුනාම, උන් වහන්සේලාගෙ අප්‍රමාණ ගුණයන් සහිතව සිහි කරල අට විසි බුදු වරයන් වහන්සේලාගෙ ගුණවලට නමස්කාර කරනවා.

නමුත් අද වෙන කොට මේ කාරණය සැඟවිලා තියෙන්නෙ. මොකද අපිට මේ කාලෙදි පහල වෙලා තියෙන බුදුන් වහන්සේ විතරයි අපේ සම්බන්ධයට එන්නෙ. ඒ කියන්නෙ අනාදියේ පටන් ආපු කාලය තුළදි අපිට වැඩිපුරම ළඟින් සම්බන්ධ වෙලා තියෙන්නෙ ගෞතම බුදුන් වහන්සේ. ඒ නිසා බුදු පිරිස කියල කොටසක් ඉන්නවා. හැම බෝසතාණන් වහන්සේ නමක් වටාම යම් කිසි බුදු පිරිසක් ඉන්නවා. ඒ පිරිස තමයි බෝධි සත්ව කාලෙ ඉඳන් නිතරම සැරි සරල බුදු වුණාට පස්සෙ ශ්‍රාවකයො බවට පත්වෙන්නෙ. අනිත් අය ශ්‍රාවකයො වුනාට ඒ අයට ඒ බුද්ධ සාසනයේ නිවන් දකින්න අවස්ථාව එන්නෙ නෑ.

උදාහරණ විදියට මතු මෛත්‍රී බෝසතාණන් වහන්සේ බුදු වෙන කාලෙ ගත්තොත්, ඒ කාලෙට ශ්‍රාවකයො වෙන පිරිසක් වෙනම ඉන්නවා. ඒ අය මේ ගෞතම බුද්ධ සාසනයේ මහණ වෙලා හිටියත් ඒ කාලය තුළ නිවන් දකින්නෙ නෑ. නමුත් ඒ ගුණ, ශ්‍රාවක පාරමිතාව පුරනවා. එතකොට ඒ අය ඒ කාලෙදි තණ්හංකර බුදුන්, මේධංකර බුදුන් ආදී වශයෙන් හඳුන්වන්නෙ මෛත්‍රී බෝසතා-ණන් වහන්සේ ඒ අදාල විවරණ ගත්තු බුදුවරයන් වහන්සේලා මිසක් අපි දන් තණ්හංකර, මේධංකර ආදී වශයෙන් හඳුන්වන බුදුවරයන් වහන්-සේලා නෙවෙයි. මොකද ඔය පන් ලක්ෂ දොළොස් දහස් විසි අටක් බුදුවරුන් අතර ඔය නම් 28 හැරෙන්න වෙනත් නම් තිබුණයි කියල කොතැනකවත් සඳහන් වෙන්නෙ නෑ. සියල්ලටම ඔය අටවිසි බුදුවරුන්ගෙ නම් ඇරෙන්න තවත් විග්‍රහ කරපු නම් නෑ. මෙහෙම බුදුවරයෙක් මීට පෙර හිටිය කියල ඔය 28 ක් නම්වලින් හැර වෙනත් නමකින් හඳුන්වපු අවස්ථාවක් පෙන්වල නෑ.

නමුත් බුදුවරු අනන්ත අප්‍රමාණයෙන් ඉඳල තියෙනවා. එතකොට ඒ ඒ බුදුවරුන්ට උරුම වෙච්ච ගෝත්‍ර නම් හැරෙන්න තණ්හංකර, මේධංකර ආදී වශයෙන් හඳුන්වන්නෙ ගෝත්‍ර නාම නෙවෙයි. උදාහරණ විදියට අපේ ගෞතම බුදුන් වහන්සේගෙ ගෝත්‍ර නාමය තමයි සිදුහත් කියන්නෙ. ඒ ඒ බුදුවරයන් වහන්සේලාට ගෝත්‍ර නාම වෙන වෙනම තිබුණත්, ඒවා වෙන වෙනම විග්‍රහ කරපු තැන් නෑ. නමුත් තණ්හංකර, මේධංකර ආදී වශයෙන් කියන කොට ඒ ඒ බෝසත් ගුණ මට්ටම්වලට එද්දි ඒ ගුණය

විවරණ වශයෙන් ප්‍රකාශ කරපු නිසා, එබඳු විවරණයක් දුන් බුදු පියාණන් වහන්සේ කියන එකයි ඔය නම්වලින් අදහස් කරන්නෙ. නමුත් පසු කාලයකදි ඒ නාමය තියෙන්නෙ ඒ බුදුන් වහන්සේටයි කියල සම්බන්ධ කළා. ඒ ක්‍රමය තමයි දැනට පෙන්වන්නෙ. නමුත් ඇත්ත වශයෙන්ම තණ්හංකර කියන්නෙ ඒ ගුණයට දීපු විවරණයක්. හැබැයි තණ්හංකර බුදු පියාණන් වහන්සේ දීපු විවරණය තණ්හංකර විවරණය කියල තමයි අද හඳාගෙන තියෙන්නෙ. නමුත් යථාර්ථයෙන් බැලුවොත් තණ්හංකර කියන විවරණය බුදු කෙනෙක්ගෙන් ගත්තා. ඒ වගේ ඊළඟ බුදුවරයන් වහන්සේගෙ කාලෙදි මේධංකර විවරණය ගත්තා.

අනෙක් කාරණය තමයි දැනට මේ කාශ්‍යප, ගෞතම, මෛත්‍රී ආදී වශයෙන් කියන්නෙ සිංහල නම් නෙවෙයි. ඒව ඔක්කොම සංස්කෘත භාෂාවෙන් හදපු නම්. සිංහල නම් අද කියවෙනව අඩුයි. උදාහරණ විදියට කාශ්‍යප කියන වචනයේ සිංහල නම තමයි කසුප්. පාලි වචනය කස්සප. ගෞතම කියන වචනයේ සිංහල වචනය ගොයුම්. ගෝතම කියන්නෙ පාලියෙන්. මෛත්‍රී කියන වචනයේ සිංහල වචනය මෙත. පාලි වචනය මෙත්ත. ඉතින් මේ වගේ සංස්කෘත භාෂාවට හරව ගෙන පොත් පත් ලියන කොට දුන් මේ කියන තත්ත්වයට අදහස් වෙනස් වුනා වෙන්න පුළුවන්.

ඒ නිසා ඒ බුදුවරයන් වහන්සේලාගෙ නම් කවුරුවත් තියපු ඒවා නෙවෙයි. ඒවා බෝධි මණ්ඩලයෙදි බුද්ධත්වයත් සමගම ලැබෙන ඒවා. අරහං, සම්මා සම්බුද්ධෝ ආදී වශයෙන් තියෙන නව මහ බුදු ගුණ කියන්නෙත් ඒ අනුව ලැබිච්ච නම්. ඒ වගේම නාමාෂ්ඨ සතකය ගත්තමත් ඔය වගේ නම් 108 ක් විග්‍රහ වෙනවා. හැබැයි ඒවත් සංස්කෘත භාෂාවෙන් හදල තියෙන්නෙ. බුදු රජාණන් වහන්සේට තියෙන නම් 108 ක් තමයි ඒවායින් කියවෙන්නෙ. සමන්ත භද්‍ර, සර්ව ගෝචර චක්ඛුස, සූර්ය බන්ධු, ධර්මරාජ, සර්වපූජ, අසදෘෂ බුද්ධ, අතිපාරිශුද්ධ සීල, බහුවිධ විශ්වපාල, ජගති නිරත්ථ දේස, රුචිර විමුක්තිභාෂ, මගධ විශිෂ්ට දේශ, දණ්ඩිතබහුමාර, කණ්ඩිතබහුබාර... ආදී වශයෙන් කියන කොට ඒ නම් 108 ම සියලු බුදුවරයන් වහන්සේලාටම හිමි වෙනවා.

මනුස්සත්තං ලිංග සම්පත්ති
හේතු සත්ථාර දස්සනං
පබ්බජ්ජා ගුණ සම්පත්ති
අධිකාරෝ ච ඡන්දතා
අට්ඨ ධම්ම සමෝධානා
අභිනීහාරෝ සමිජ්ඣති

නියත විවරණ ලබා ගන්න බුදු පියාණන් වහන්සේ නමක් වෙතට එළඹෙන බෝධිසත්ව උත්තමයා කරුණු අටකින් සමන්විත විය යුතු බව ධර්මයේ සඳහන් වෙනවා. එයින් පළමු කාරණය තමයි මනුස්සත්තං කියන්නෙ. ඒ කියන්නෙ මනුස්සයෙක් වෙලා ඉපිද සිටීම. හැබැයි පළමු වන නියත විවරණයෙන් පසුව ලබන නියත විවරණවලට මේ අවශ්‍යතාවය නැති බවත් සඳහන් වෙනවා. ඒ නිසා ගෞතම බුදු රජාණන් වහන්සේ සිවු වැනි වරට සුමන බුදුරදුන්ගෙන් විවරණ ලබා ගත්තෙ අතුල නම් නා රජෙක් විදියට ඉපදිලා. හත් වෙනි විවරණය ලබා ගත්තෙ යක්ෂ සේනාධිපතියෙක්ව ඉපදිලා අනෝමදස්සි බුදුරදුන්ගෙන්. අට වෙනි වර පදුම බුදුරදුන්ගෙන් විවරණ ලබා ගත්තෙ සිංහ රාජයෙක්ව උපත ලබල. මෙතනදි ලිංග සම්පත්ති කියල කියන්නෙ පුරුෂයෙක් වීම. හේතු කියන්නෙ නියත විවරණය ලබන ආත්මභාවයේම සතර පද ගාථාවක් ඇසූ පමණින් රහත් වෙලා නිවන් දකින්න හේතු සම්පත් තිබීම. නමුත් අධික අපේක්ෂාව සහ වීර්ය බුද්ධත්වය සඳහාම තියෙන නිසා, හේතු තිබුණත් රහත් භාවයට පත් වෙන්නෙ නෑ.

ඊළඟට සත්ථාර දස්සනය කියන්නෙ බුදුවරයන් වහන්සේ නමක් දැකීම. ලොවුතුරා බුදු රජාණන් වහන්සේ නමක් ඉදිරිපිටදිම නියත විවරණ ලබාගත යුතු බවත් සඳහන් වෙනවා. පබ්බජ්ජා වශයෙන් හඳුන්වන්නෙ පැවිදි වෙලා සිටිය යුතු බව. නියත විවරණය පළමුවෙන්ම ලබාගන්න තැනැත්තා බුද්ධ සාසනයේ හෝ කර්ම, කර්ම ඵල පිළිගන්න තාපස කොටසක හෝ පැවිදි වෙලා සිටීම අවශ්‍ය බවත් ධර්මයේ සඳහන් වෙනවා. ගුණ සම්පත්ති කියන්නෙ පැවිදි වෙලා ධ්‍යාන ගුණයන් ආදිය ලබා තිබීම අවශ්‍ය බව. පැවිදි වෙලා සිටියත් පංච අභිඥා, අෂ්ට සමාපත්ති නොලබා සිටින කෙනෙකුට පළමු වැනි නියත විවරණය ලබා ගන්න බැරි බවත් ධර්මයේ සඳහන් වෙනවා. අධිකාරෝ කියන්නෙ ජීවිත පරිත්‍යාගය. එදා සුමේධ තාපසයන් (ගෞතම බුදු පියාණන්) දීපංකර බුදුරදුන්ගෙන් පළමු නියත විවරණය ලබන කොට බුදු පියාණන් වහන්සේට සහ විසි දහසක් මහා සංඝරත්නයට තම පිට ඒ දණ්ඩක් විදියට තබා ගෙන මඩේ දිගා වෙලා හිටියෙ ජීවිත පරිත්‍යාගයෙන්. ඡන්දතා කියන්නෙ බුදු වෙන්න තියෙන බලවත් කැමැත්ත. බුදු වීම සඳහා ඕනෑම කැපකිරීමක් කරන්න හැකියාවක් තියෙන තැනැත්තාටම නියත විවරණය ලැබෙනවා. අට්ඨ ධම්ම සමෝධානා කිව්වෙ, මේ කාරණා අටෙන් පූර්ණ වෙන්න ඕන කියන අර්ථය. එදා මේ කරුණු අට සම්පූර්ණ වෙලා තිබිච්ච නිසා සුමේධ තාපසතුමාට නියත විවරණ ලබන්න හැකියාව ලැබුණා.

නියත විවරණ ලබපු බෝසත්වරු එතැන් පටන් සසර සරන තුරාවටම අට මහා නරකාදියේ උපත ලබන්නෙ නෑ, ලෝකාන්තරික නරකයේ උපත ලබන්නෙ නෑ. අන්‍යයන්ට උදව් උපකාර පිණිස සිය කැමැත්තෙන්ම තිරිසන් වෙලා උපදින්න පුළුවන් වුනත්, ඇතෙකුට වඩා ලොකු හෝ වටුවෙකුට වඩා කුඩා සතෙක් වෙලා හෝ උපදින්නෙ නෑ. ඒ වගේම මනුස්ස අත්බවක් ලැබුවත් ස්ත්‍රියක් වෙලා උපදින්නෙ නෑ. ඒ වගේම නපුංසකව, උභතෝසන්ජනකව (ස්ත්‍රී, පුරුෂ ලිංග දෙකෙන්ම යුක්තව) උපදින්නෙ නෑ. අසඤ්ඤ තලයේ හෝ පංච සුද්ධාවාසවල උපදින්නෙ නෑ. ඒ වගේම ආනන්තරීය පාප කර්ම සිද්ධ වෙන්නෙ නෑ, නියත මිථ්‍යා දෘෂ්ටික වෙන්නෙ නෑ. එහෙම ගිහින් අවසන් අත්භවයේ තුසිත දෙවු ලොවින් චුත වෙලා සිහි නුවණින් යුක්තවම මවු කුස පිළිසිඳ ගන්නවා. සිහි නුවණින්ම මවු කුසේ වාසය කරනවා. මේ ආදී අනුහස් රාශියක් තියෙනවා. බුද්ධත්වය ලබා ගැනීම පහසු කාර්යක් නෙවෙයි කියන එක මේ අනුව පැහැදිලි වෙනවා. ඒ සඳහා කාලාන්තරයක් නොපසුබට උත්සාහයෙන්, වීර්යයෙන් පාරමිතා, උප පාරමිතා, පරමත්ථ පාරමිතා වශයෙන් දස පාරමිතාවන් සම්පූර්ණ කරන්න ඕන. ඒ විදියට පාරමිතාවන් සම්පූර්ණ කරල මේ වෙන කොට බුද්ධත්වයට පත්වෙච්ච බුදුවරුන්, බුදු ගුණත් අනන්ත අප්‍රමාණ බව (අප්පමාණෝ බුද්ධෝ) බන්ද පරිත්තයේ සඳහන් වෙනවා.

අපේ ගෞතම බුදු රජාණන් වහන්සේගෙ බෝධි සත්ව කාල සීමාවන් තුළදි, උන්වහන්සේට මුණ ගැහිච්ච අතීත බුදුවරු ගණන පමණක් පන් ලක්ෂ දොළොස් දහස් විසිහතක් බව සඳහන් වෙනවා. මනෝ ප්‍රණිධානය තුළ සම්මා සම්බුදුවරු එක් ලක්ෂ විසිපන් දහසකුත්, වාග් ප්‍රණිධානය තුළ සම්මා සම්බුදුවරු තුන්ලක්ෂ අසූහත් දහසකුත්, කාය ප්‍රණිධානය (වචනයෙන් කිව්ව වගේම ක්‍රියාවටත් නැංවීම. උදාහරණ විදියට දස පාරමිතා පිරීමේදී දානය දෙන්නත්, සිල් රකින්නත් කය ක්‍රියාත්මක කිරීම) තුළ සම්මා සම්බුදුවරු විසි හතකුත් වශයෙන් උන් වහන්සේට හමු වුණු සියලුම බුදුවරුන් පන් ලක්ෂ දොළොස් දහස් විසි හතක් බව ධර්මයේ සඳහන් වෙනවා. ගෞතම බුදු රජාණන් වහන්සේ බුද්ධත්වයට පත් වෙන්න පෙර, පාරමිතා පුරපු කාලය තුළ පමණක් බුදුවරු මෙච්චර ප්‍රමාණයක් පහළ වෙලා තියෙනව නම්, මෙලොව පහළ වූ අතීත බුදුවරු ගණන මෙපමණයි කියල කියන්න බෑ. අසංඛ්‍ය ගණනක් බුදුවරු පහළ වෙලා තියෙන බව බුද්ධ වංශවල සඳහන් වෙනවා.

ඒ වගේම මෙතනදි තවත් සැගවිච්ච කාරණයක් තියෙනවා. මේ විදිහට බුදුවරුන් පන්ලක්ෂ දොලොස් දහස් විසි හතක් පහළ වුනයි කියන්නෙ, සිදුහත් බෝසතාණන් වහන්සේ මනෝ ප්‍රණිධාන, වාග් ප්‍රණිධාන වශයෙන් සම්පූර්ණ කළ සොලොසා අසංඛ්‍ය කල්ප ලක්ෂයක් සහ අනියත/නියත විවරණ ගත්තට පසු කාය ප්‍රණිධානය සම්පූර්ණ කළ සාර අසංඛ්‍ය කල්ප ලක්ෂයක් කියන මේ විසි අසංඛ්‍ය කල්ප ලක්ෂයක් තුළ (7+9+4=20). එතකොට ඒ අසංඛ්‍ය කල්ප ලක්ෂ 20 න් දාසයක් ඇතුලත තමයි පන්ලක්ෂ දොලොස් දහසක් බුදුවරු පහළ වෙලා තියෙන්නෙ. ඉතිරි අසංඛ්‍ය කල්ප ලක්ෂ හතරටම පහළ වෙලා තියෙන්නෙ බුදුවරු විසිහත් නමයි. (ගෞතම බුදුන් වහන්සේත් සමග විසි අටයි). දැන් මේ කියන කාරණය වෙන්න පුළුවන්ද? අසංඛ්‍ය කල්ප ලක්ෂ 16 කට බුදුවරු පන්ලක්ෂ දොලොස් දහස නම්, අසංඛ්‍ය කල්ප ලක්ෂ 4 කට බුදුවරු 28 නමයි කියන කාරණය ගැටළු සහිතයි.

එහෙනම් සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් තුළ පහළ වෙලා තියෙන බුදුවරු 27 නමක් කියන්නෙ, අපේ සිදුහත් බෝසතාණන් වහන්සේ අනියත සහ නියත විවරණ ගත්තු බුදුපියාණන් වහන්සේලා විතරයි. උන්වහන්සේට මුණගැහුනෙ නැති, උන්වහන්සේ විවරණ නොගත්තු බුදුපියාණන් වහන්සේලා ඔය සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක කාලය තුළ තවත් කොච්චර නම් සංඛ්‍යාවක් බිහිවෙලා තියෙන්න ඕනද?

ප්‍රඥාධික, ශ්‍රද්ධාධික, වීර්යාධික ලෙස බුදුවරුන් වර්ග කරන්න පුළුවන් වුනත්, සියලුම බුදුවරුන් ලබන බුද්ධත්වයේ සහ දේශනා කරන ධර්මයේ කිසිම වෙනසක් නෑ. සමස්තයක් වශයෙන් ගත්තොත් හැම බුදුවරයන් වහන්සේ නමක්ම දේශනා කරන්නෙ අකුරු අටයි, පද තුනයි. ඒ කියන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන මේ අකුරු අට (බැඳි අකුරු) හා පද තුන. ශාරීරික වශයෙන් උස මහතින් වෙනස් වුණත්, දෙතිස් මහා පුරුෂ ලක්ෂණ, අසූ අනුව්‍යංජන එක විදියටම පවතිනවා. ප්‍රඥාධික බුදුවරුන්ට වඩා වීර්යාධික බුදුවරුන් සංඛ්‍යාවෙන් වැඩියි. වීර්යාධික බුදුවරුන්ට වඩා ශ්‍රද්ධාධික බුදුවරුන් සංඛ්‍යාත්මකව වැඩියි. මොකද ප්‍රඥා අධික අය ලෝකයේ අති දුර්ලභයි. ඊළඟට වීර්යාධිකයෝ දුර්ලභයි. ලෝකයේ වැඩිපුරම ඉන්නෙ ශ්‍රද්ධාධිකයො. ඒ වගේම රහත් බව ලබන්න අඩුම ගණනෙ කල්ප ලක්ෂයකුත්, පසේ බුදු බව සඳහා අසංඛ්‍ය දෙකකුත් මහා කල්ප ලක්ෂයකුත් පෙරුම් පුරන්න ඕන බව ධර්මයේ සඳහන් වෙනවා. ලොවුතුරා බුදු බව ලබන්න ප්‍රඥාධික බෝධි සත්වයන් විසින් සතර අසංඛ්‍යයකුත් කල්ප ලක්ෂයක් (සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක්) පෙරුම් පිරිය යුතු වෙනවා. වීර්යාධික බෝධි සත්වයන් විසින් අටාසංඛ්‍ය කල්ප ලක්ෂයකුත්, ශ්‍රද්ධාධික බෝධි සත්වයන් විසින් සොළොසාසංඛ්‍ය කල්ප ලක්ෂයකුත් පෙරුම් පිරිය යුතු බව ධර්මයේ සඳහන් වෙනවා.

ඒ වගේම සම්මා සම්බුදු රජාණන් වහන්සේලා කරුණු අටකින් අසමාන වෙනවා. ආයුසය, ශරීර ප්‍රමාණය, කුලය (රජ හෝ බ්‍රාහ්මණ), පදන් වීර්ය කරන කාල පරිච්ඡේදය, බුද්ධ රශ්මිය, අභිනිෂ්ක්‍රමණය කරන යානය, බෝධි වෘක්ෂය සහ පර්යංක ප්‍රමාණය කියන කරුණු අටෙන් බුදුවරු අසමාන වෙන බවත් ධර්මයේ සඳහන් වෙනවා. ඒ වගේම කරුණු හතරකින් සමාන වෙනවා. ඒ කියන්නෙ බුදුවරු පිළිබඳ කරුණු හතරක් නොවෙනස්ව පවතිනවා. සියලු බුදුවරුන්ගේ බෝධි පර්යංකය එකම තැන වීම, දම්සක් පැවැත්ම ඉසිපතන මිගදායේ සිදුවීම, දේවාරෝහනය (අභිධර්මය දේශනා කරන්න තවුතිසා දෙවුලොවට සෘද්ධි බලයෙන් පෙනි පෙනීම වැඩම කිරීම සහ නැවතත් ඒ විදියටම සෘද්ධි බලයෙන් ආපසු රන් ඉනි මගින් වැඩම කිරීම) සංකස්ස නගරද්වාරයෙහි සිදුවීම, ගන්ධකුටිය ජේතවනයෙහි පැවතීම කියන කරුණු හතරෙන් බුදුවරුන් සමාන වෙන බවත් ධර්මයේ සඳහන් වෙනවා.

බුදුවරු පහල වෙන කල්ප ප්‍රමාණයට වඩා බුදුවරු පහල නොවන කල්ප ප්‍රමාණය ඉතා විසාල බවත් බුද්ධ වංශය පරීක්ෂා කරල බලන කොට පෙනී යනවා. එහෙම පරීක්ෂා කරන කොට ඉස්මතු වෙන තවත් කරුණක් තමයි, **බුදුවරු දෙනමක් අතර කාල සීමාව මෙපමණයි කියල ගණනින් දක්වන්න බැරි තරම් ඉතා දීර්ඝ කාලයක් වීම.** අති දුර්ලභ බුද්ධෝත්පාද කාලයක් අපිට ලැබිල තියෙන මේ චකවානුවෙදි මනුස්ස අත්භවයක් ලබන්නත් අපිට හේතු වාසනා උදා වෙලා තියෙනවා. ඒකෙන් නිසි ප්‍රතිඵල ලබාගන්න නම් බුදු රජාණන් වහන්සේ දේශනා කරපු මග ඔස්සේ ගමන් කරල නිර්වාණ සම්පත්තිය ලබා ගන්න අනිච්ච, දුක්ඛ, අනත්ත වටහා ගෙන සීල, සමාධි, ප්‍රඥා ගුණ වඩා ගෙන කටයුතු කරන්න අධිෂ්ඨාන කර ගන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැගවුණු දහම් කරුණු සමග ඛුද්දක නිකායේ බුද්ධ වංශ පාළිය ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**
**පරිපාලන නිලධාරී**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# මෙත්තානිසංස

**බුදු හිමි දෙසූ සදහම් දිය — අමාවේ**
**සැනසුම ගන්න මග මෙත් — භාවනාවේ**
**වැඩුවොත් දස දෙසට නිති හැම — වෙලාවේ**
**දොස් දුරු වෙවී සසරක ණය — නිමාවේ**

**සුවසේ නිදයි සුවසේ හැක — පිබිදෙන්න**
**නොදකී සිහින නපුරින් සිත තැති — ගන්න**
**පැතිරී යසස මිනිසුන් හට පිය — වෙන්න**
**නොමිනිස්සුත් පියයි ගැහැටක් නොම — දෙන්න**

**දෙවියෝ රකී යන එන හැම තැන — දීම**
**ගින්නෙන් විසෙන් ජලයෙන් නොවිපත් — වීම**
**නොම වේ කිසි දිනක අවියට යට — වීම**
**සුවයක් ලැබී වෙයි දැහැනට පත් — වීම**

**මුව වරුණයද පැහැපත් වී එයි — යසට**
**සිහියෙන් මුහුණ පෑ හැකි වෙයි — මරණයට**
**නින්දෙන් පිබිදියා සේ යයි බඹ — ලොවට**
**අනුහස් එකොළසකි සුව දෙන — දෙලොවකට**

පබැඳුම - **ශිරෝමි අත්තනායක, කිරින්ද**

**අභයරතනාලංකාරය - 33**

# මාර දූවරු පිළිබඳ වර්තමාන සත්‍ය අත්දැකීමක් ....



*(පසුගිය කලාපයෙන් - නවීන විද්‍යාවට හසු නොවන විශ්වයේ අද්භූත සිදුවීම් ..........)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

තණ්හා, රතී, රඟා කියල මාර දූවරු තුන් දෙනෙක් ගැන කියවෙන කොට බොහෝ අය අතර තියෙන මතයක් තමයි රාග, ද්වේශ, මෝහ කියන කෙලෙස් තුන මේ නමින් හඳුන්වනව කියල. ඒ හැර පුද්ගලයින් වශයෙන් එහෙම අය ඉන්නවයි කියල හුඟක් අය පිළිගන්නෙ නෑ. බුදුන් වහන්සේට බාධා කළෙත් ඒ කෙලෙස් මාර කියල තමයි බොහෝ කොටම අදහස් ගන්නෙ. ඒ විදියෙ පුද්ගලයො වශයෙන් මාර දූවරු කියන අය ඇහැට දකපු කෙනෙක් හොයාගන්න නැති නිසාත්, භෞතිකත්වය තුළ ඉඳගෙන හැම දෙයක්ම තීරණය කරන්න යෑම නිසාත් අද කාලෙ ඒක සංකල්පයක් විදියට අදහස් කරන්න පුරුදු වෙලා ඉන්නවා. නමුත් ඒ තත්ත්වය ඉක්ම වූ, එහෙම ගති ලක්‍ෂණ තියෙන දෙවඟනන් තුන් දෙනෙක් ඉන්නවයි කියන කාරණය සම්පූර්ණ ඇත්තක් බව ඔප්පු කරන්න මේ කාලෙත් සාක්ෂි සහිත අත්දැකීම් තියෙනවා. වහරක අභයරතනාලංකාර හිමියන්ට ඉතාමත් මෑත කාලයකදී අත්දකින්න ලැබිච්ච ඒ වගේ සිද්ධියක් තමයි අද අභයරතනාලංකාරය තුළින් ඉදිරිපත් කරන්නෙ. මේ තමයි උන් වහන්සේ ලබපු ඒ අත්දැකීම.

මේ සිද්ධිය සිද්ධ වුනේ 2013 වසරේ දිනක. ඒ වෙන කොට විවිධාකාරයේ භාවනා ක්‍රම අත්හදා බැලීම් කරල හිටපු මම, ලෝකය දකින තවත් එක්තරා භාවනාවක් වැඩුවා. ඒක ස්වයං ප්‍රභා ආලෝකය විහිදවන එක්තරා භාවනා ක්‍රමයක්. ඒ කියන්නෙ මුල් කාලෙ හිටපු ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයින්ට තිබිච්ච මූලිකම ශක්තිය. ඒක තමයි ස්වයං ප්‍රභා ආලෝකය කියන්නෙ. නමුත් ඒ ශක්තිය, කිරි යොදයක් වගේ භූමි පටක කට ගාල රසයට ගිජු වුනාට පස්සෙ ක්‍රමයෙන් අඩු වෙන්න පටන් ගත්තා. එහෙම අඩු වෙලා ගිහින් තමයි අන්තිමට නැති වෙලාම ගියේ. ඒ ස්වයං ප්‍රභා ආලෝකය තියෙන කොට ඒ ශක්තියෙන් ඉර හඳ තාරකා ආදියේ කිසිම සම්බන්ධයක් නැතිව හැම තැනම දකින්න පුළුවන්. ඉතින් ඒ ක්‍රමය නැවත ලබා ගත්තොත් ලෝකයාට යහපතක් කරන්න, තවත් සියුම් දේවල් දකින්නත් දිවැසක් ලබන්න පුළුවන්ය කියන හැඟීමකින් තමයි එක්තරා කර්මස්ථානයකින් ඒ භාවනාව ප්‍රගුණ කරන්න බැලුවෙ.

ඉතින් ඒ භාවනාව වඩන කොට නොපෙනෙන ගුප්ත ලෝකය පේන්න පටන් ගත්තා. එතකොට ඒ ලෝකයේ ඉන්න විවිධාකාර පිරිස් පේන්න ආවා. ඒ ආපු සමහර පිරිස් දහමට බොහොම ගරු කරන අය. ඒ වගේ අවස්ථාවක ඒ ආපු පිරිසක් දහමට බොහොම ගරුත්වයෙන් ඉන්නව දැකල, මට ඒ කාලෙ තිබිච්ච එක්තරා අසනීපයකට ප්‍රතිකර්මයක් දන්නවද කියල මම ඒ අයගෙන් ඇහුවා. මොකද සමහර විට ඖෂධවලට සම්බන්ධ දේවතාවො දන්නව ඇති කියල හිතාගෙන තමයි එහෙම ඇහුවෙ. එහෙම අහන කොටම ඒ අය අතරින් විදුලි වේගයෙන් පිරිසක් ඇවිත්, අපි දන්නව කියල කිව්වා. නමුත් ඒ අවස්ථාවෙ ඒ ආපු අයගෙ සූක්‍ෂම බව කොච්චරද කියනව නම්, එහෙම කිව්වෙ කවුද කියලවත් ඒ වෙලාවෙදි ආවර්ජනය කරන්න බැරි වුණා. ඉතින් මම හිතුවෙ, අර දහමට ලැදි අයගෙම පිරිසක් තමයි ඒ ආවෙ කියල. ඒ නිසා ඉතින් මම ඇහුව මොකද ඒකට කරන්න පුළුවන්, සුව කරන්න පුළුවන්ද කියල. සුව කරන්න පුළුවන්, අපි තුන් දෙනෙක් ඉන්නව කියල ඒ අය අතරින්ම කිව්වා. එහෙනම් ඒ අයට කියන්න ඒ ක්‍රමය මට කියන්න කියල මමත් කිව්වා.

මගේ ඒ වචනවලින් ඒ අය අවස්ථාව අල්ල ගෙන අවුරුදු 11, 14, 17 වගේ වයස් සීමාවෙ ගැහැණු ළමයින්ගෙ වේසයන් මවාගෙන තුන් දෙනෙක් ඇවිත් මා ඉදිරියේ පෙනී හිටියා. හැබැයි ඇවිත් ටික වෙලාවක් යන කොට තමයි මම දැන ගත්තෙ, මේ ඇවිත් ඉන්නෙ අර කියන මාර දූවරු තුන් දෙනානෙ කියල. ඒ අය ඉතාමත් ඉහළ රූප සම්පත්තියක ගැහැණු ළමයින්ගෙ වේසයෙන් තමයි ආවෙ. මේ අයගෙ වයසත් මෙච්චරයි කියල මට දැනෙනවා. ඒ අය අතරින් තණ්හා කියන මාර දෙවඟන අවුරුදු 17 ක විතර ගැහැණු ළමයෙක්ගෙ වෙස් මවාගෙන තමයි හිටියෙ. අනික් දෙන්න පිළිවෙලින් අවුරුදු 14, 11 වගේ අයගෙ වෙස් මවාගෙන හිටියෙ. හැබැයි ඒ අයගෙ නියම ස්වභාවික වයස, දිව්‍යමය ස්වභාවය මම දන්නෙ නෑ. නමුත් ආවෙ ඔය විදියට. ඒ ආවෙත් ඒ තුන් දෙනාම තමයි කියල සංඥාව පෙන්වනවා.

එහෙම ඇවිත් එතැන් පටන් අමු නිරුවත් රඟපෑම් තමයි ඒ අය රඟපෑවෙ. ඒ දකපු විදියට නම්, දැනට බුදුන් වහන්සේ ඉදිරියේ ඇඳුම් ඇඳගෙන නටන මාර දූවරුන්ගෙ රූප විදියට ඇඳල තියෙන සිතුවම්, සමහර විට ඒ සිත්තරුන්ගෙ මනසට ආපු අදහස් මිසක් ඒ අයගෙ සැබෑ කාම රංගන නම් වෙන්න බෑ කියල හිතෙනවා. මොකද ඒ තරම් අමු නිරුවත් නීච කාම රංගන තමයි ඒ අය රඟ දැක්කුවෙ. දකපු විදියට ඒවා සමාජය ඉදිරියේ කෙනෙකුට කියන්න පුළුවන් දේවල් නෙවෙයි. ඒ තරම් නීච කාමුක රැඟුම්. සමහර විට දැනට සිතුවම්වලට සාමාන්‍ය රැඟුම් විදියට නගල තියෙන්නෙ, ඒවායේ සැබෑ ස්වරූපය ඒ විදියටම නිරූපනය කරන්න බැරි නිසා වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් ඒවා නොදකපු නිසා උපකල්පනවල පිහිටල ඇන්ද සිතුවම් වෙන්නත් පුළුවන්.

දැන් ඉතින් මේ වගේ ☞

අවස්ථාවක් ආවම ඒකෙන් ලේසියෙන් බේරෙන්න බෑ. ඒ දර්ශන පෙළ ඇස් පියා ගත්තත් පේනවා. මොකද හේතුව ස්වයං ප්‍රභා ආලෝකය කියන අවස්ථාවෙ ස්වභාවය නිසා. ඉතින් ඒක නැවත අමතක කරල සමාධියෙන් අහක් වෙනකල්ම බේරෙන්න බෑ. ඇස් පියා ගත්තත් ඉදිරිපිට වගේම පේනවා. ඇස් ඇර ගත්තත් පේනවා. ඒ දර්ශනය අහක් කරල වෙනත් එකකට යොමු වුනත් ඒත් පේනවා. උඩ බැලුවොත් උඩින් පේනවා. බිම බැලුවොත් බිමින් පේනවා. ඒකෙන් අහක් වෙන්නම බෑ. මෙහෙම ස්වභාවයක් තමයි ඒ අවස්ථාවෙදි තිබුණෙ.

ඒ රැඟුම් අන්තිම නීචයි. අපේ මනුස්ස ලෝකෙත් එක්ක බැලුවොත්, ඒ හා සමාන වෙසඟනන් මේ ලෝකෙ ඇත්ද කියලත් හිතෙනවා. මේ ලෝකෙ යම්කිසි රූමත් නිළියක් වෙසඟනක් වුනා නම්, ඒත් අර වගේ කාමුක ස්වභාවයක් නම් නැතිව ඇති කියල හිතන්න පුළුවන්. ඒ තරමටම අබ මල් රේණුවක තරම්වත් ලැජ්ජාවක් බයක් කියල දෙයක් නැති විදියට තමයි ඒ රැඟුම් රඟපෑවෙ. ඒ වගේම ඒ රැඟුම් රඟන කොට ඒ ලෝකෙටම අයිති තවත් විවිධ පිරිමි පිරිස් සම්බන්ධ වුණා. ඒ අයත් විවිධ මට්ටම්වල අය. මම හිතන්නෙ ඒ අය මවල දෙන අය වෙන්න ඇති. මොකද මේ අය පරනිම්මිත වසවර්ති කියන දිව්‍ය ලෝකයට අයිති නිසා ඕනෑම වයසක, ඕනෑම ස්වභාවයක් ඇති කෙනෙක් මවන්න පුළුවන්. ඒ මවන පුද්ගලයොත් ඒ වගේමයි. ඒ අය ප්‍රාණවත් කරන්නත් විවිධාකාර උපක්‍රම යොදනවා, විවිධාකාර නීචකම්වලට පොළඹව ගන්නවා. මේ මනුස්ස ලෝකෙත් එක්ක බැලුවොත් මහා නීච විදියෙ කාමයන්. නමුත් ඒ අය ඒවා නීච විදියට දකින්නෙ නෑ. සතුටු වෙන්න අවශ්‍ය කාම රැඟුම් විදියට තමයි සලකන්නෙ. ඒ නිසා **මේ මනුස්ස ලෝකෙ සාමාන්‍ය කෙනෙක් ඒ වගේ රැඟුමක් දැක්කොත් එහෙම වික්ෂිප්ත වෙනව කියන එක කියන්න දෙයක් නෙවෙයි, පපුව පැළෙන තරමට කාමයන්ගෙන් මුසපත් වෙන්න පුළුවන්. යම්කිසි අවස්ථාවක් මනසින් ඉක්මවන්න පුළුවන් නම් තමයි, ඒ වගේ අවස්ථාවක් විදර්ශනාවට නගල ඒක අහක් කරන්න පුළුවන්කම ලැබෙන්නෙ.**

දැන් ඉතින් මේ ආපු තුන් දෙනාගෙන් දෙන්නෙක් රඟනවා. එක් කෙනෙක් පුංචි ගැබක් මවාගෙන පැත්තකට වෙලා බලාගෙන ඉන්නවා. මොකද මැවීම උපරිමයෙන් කරන්න පුළුවන් නිසා සමහර විට විවිධ වයස් සීමාවන් අරගෙන විවිධාකාර ස්වරූපයෙන් ඉන්නවා. ඒ වගේම හැඩි දැඩි මැදි වයසෙ අයගෙ ස්වරූපයෙනුත් ඉන්නවා. හිටි ගමන් ඒ ස්වරූපයන් වෙනස් කරනවා. ඊළඟට අමු නිරුවතින් ඉන්නවා. එහෙම නිරුවතින් ඉඳගෙන ඒ ලෝකෙ ඊට එකඟ වෙන පුද්ගලයන් මවල විවිධාකාරයේ කාමුක ක්‍රියාවලට යොදව ගන්නවා. ඒ අයත් ඒ ලෝකෙ පේන්නම ඉන්නවා. ඒ අය විවිධාකාර කාමුක ස්වරූපයන්ගෙන් යුක්ත අය. කාමයෙන් පැනල දුවන්න උත්සාහ කරන අය පස්සෙන් පන්න ගෙන ගිහින් ඇගේ එල්ලිලා අල්ල ගෙන කාමයට පොළඹව ගෙන කාමයෙන් මුසපත් කරවනවා. ඒ වගේ දර්ශන පෙන්වල, මේ ලෝකෙ අයත් පොළඹවන්න තමයි ඒ අය උත්සාහ කරන්නෙ. ඒවට අවශ්‍ය කරන මානසික පරිසරයත්, බාහිර පරිසරයත් ඒත් එක්කම මවනවා. ඒ තමයි ඒ දර්ශනවල හැටි.

මෙතනදි ඒ දිව්‍ය ලෝකෙ ඉන්න වසවර්ති මාර දූවරුම වෙස් මවාගෙන



රඟපාන අවස්ථා වගේම, ඒ අය විසින් මවපු අයත් රඟපාන අවස්ථා තියෙනවා. මොකද ඒ අයට විවිධ අදහස්වලින් මවාගත්තු රූප පෙන්වන්න පුළුවන්. ස්ත්‍රී, පුරුෂ, ළමා, තරුණ, මහළු මේ ඕන අවස්ථාවක් මවන්න පුළුවන්. එහෙම මවන්න හේතුව තමයි, ඒ අය විසින් පොළඹවා ගන්න උත්සාහ කරන අයට ලැජ්ජා බය තියේ නම් ඒක අයින් කරන්න. මොකද බලාගෙන ඉන්න කෙනෙක් සමහර විට මෙහෙම හිතන්න පුළුවන්. ''අපි වයසයිනෙ, ලස්සන නැනෙ. වයසක අපි මේ තරුණ තරුණියොත් එක්ක සම්බන්ධ වෙන්නෙ කොහොමද? ඒ අය අපිට කැමති වෙයිද?'' මෙන්න මේ වගේ අදහස් අරගෙන ලැජ්ජාවෙන් බයෙන් ඉන්න උදවියගෙ ඒ ලැජ්ජා බය නැති කරල, පොළඹව ගන්න තමයි ඒ විදියට විවිධාකාර වයස් සීමාවෙ අය මවල පෙන්වන්නෙ.

එතකොට ඒ බලන් ඉන්න අයගෙ වයසෙ අයයි, ඊට වඩා අඩු වැඩි වයස් සීමාවල අයයි මවල ඒ අයත් ඒවට පොළඹව ගන්න දර්ශන පෙන්වනවා. ඒ වගේම නිකං ලැජ්ජාවෙ පැනල යන අයත් මවල, ඒ අය බලෙන් අල්ල ගෙන බලහත්කාරයෙන් පොළඹවල, අපි එහෙම අය නෙවෙයි, අපි ඔයගොල්ලන්ට ආදරෙයි කියල ඒ මවන දර්ශනවලින්ම හඟවනවා. ඊට පස්සෙ ඒ අයත් විවිධ කාමුක රැඟුම් රඟන දර්ශන පෙන්වනවා. එතකොට මේ ලෝකෙ බලන් ඉන්න අය මොකද හිතන්නෙ, මේ අපි වගේ අයටත් ඒ අය අකමැති නැනෙ කියල හිත වෙනස් වෙලා ඒවට පෙළඹෙනවා. මේ ලෝකෙ අය පොළඹව ගන්න ඒ ලෝකෙ අය ඒ විදියට රඟපානවා. ඒ විදියට මිනිස්සුන්ගෙ හිත වෙනස් කරන්න යොදන විවිධ උපක්‍රම, මායා දර්ශන තමයි මේ විදියට මවල පෙන්වන්නෙ.

ඒ වගේම සමහරෙක් අවුරුදු 7, 8 වගේ ළමා වයසෙ වෙස් අරගෙන තවත් කෙනෙක්ගෙ අතට යනවා. වඩාගෙන යන වයසෙ පුංචි ළමයි වගේ ඉන්නවා. මොකද මේ ලෝකෙ වගේම ඒ ලෝකෙත් කාමය සම්බන්ධයෙන් පුංචි ළමයින්ට කැමති උදවිය ඉන්නවා. ඒ පොඩි ළමයි පවා ඒ අය කාම රැඟුම්වලට පොළඹව ගන්නවා. ඒව බොහොම නීච විදියෙ කාම රැඟුම්. සමහර ළමයි ඒවටම අතකොළුවක් කර ගෙන. මේ මනුස්ස ලෝකෙ මිනිස්සු අතර සිද්ධ වෙන කාමුක ක්‍රියාවලටත් එහා ගිය විවිධා-කාරයේ ක්‍රියාවන් ඒ ළමයි එක්කත් සිද්ධ කරනවා. හැබැයි මේ ළමයි කියල කිව්වට, ඒ අයත් වෙස් මවාගත්තු මරඟනන්ම නිසා, එහෙම කිසිම වේදනාවකින් මුසපත් වීමක්, දැවිල්ලක්, බියක්, සැකක් ඒ ළමා වෙසින් ඉන්න අයට නෑ. නමුත් ඒ ළමයි එක පාරටම නිකං කෑ ගහන ශබ්ද බොරුවට හඟවනවා. එහෙම කරන්නෙ, අර බලාගෙන ඉන්න පුද්ගලයන්ගෙ හිත මත් කරන්න. මොකද කාමයෙන් මුස පත් වෙන අයගෙ ස්වභාවයත් විවිධාකාරයි. සමහර අය වේදනාවන් දෙන්න, කෑ ගස්ස වන්න හරි කැමතියි. ඒ වගේ විවිධාකාර දේවල්වලට කැමති අය ඉන්නවා. ඒ අයගෙ ශක්තියෙන් මවන දර්ශන තමයි මේ පේන්නෙ.

දැන් ඉතින් මේ රැඟුම් දවසක් යන කල්ම මගේ දර්ශනයෙන් ඉවත් කර ගන්න බැරි වුණා. මොකද ඒක ඉවත් කරන ක්‍රමයක් හොයා ගන්න ඒ වෙන කොට මමත් දැනගෙන හිටියෙ නෑ. ඉතින් මොකද කරන්නෙ කියල හිතා ගන්නත් බෑ.

ඔහොම ඉඳල අන්තිමට ගත්තු විදර්ශනා කර්මස්ථානයක්ම තමයි ඒ දර්ශන පෙළ ඉවත් කරගන්න පිහිට වුණේ. මේ තමයි ඒ කර්මස්ථානය.

**පෙණ පිඩුව අසාරයි - රූපය අසාරයි - දිය බුබුල අසාරයි - වේදනා අසාරයි - මිරිඟුව අසාරයි - සංඥා අසාරයි - කෙසෙල් කඳ අසාරයි - සංඛාර අසාරයි - මායාව අසාරයි - විඤ්ඤාණ අසාරයි - නිබ්බාන සාරයි - නිබ්බාන වෙත්වා - සියලු සත්වයෝ නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා.**

දැන් මේ කර්මස්ථානය පැය 2 ක් විතර එක දිගටම වඩන්න වුණා. පේන දෙයක් පෙනිච්චාවෙ, මගේ ස්වභාවය යථාර්ථය දකින එකයි කියල හිතාගෙන වඩන කොට, අර කාම රැඟුම් ක්‍රමයෙන් අතුරුදන් වුණා. එතකොට අර මාර දූවරු තුන් දෙනාගෙන් අවුරුදු 11 ක විතර පෙනුම තියෙන රඟා කියන දෙවඟන ලස්සන ඇඳුමකින් සැරසිලා, කිසිම නීච ගතියක් පෙන්වන්නෙ නැතිව ඉස්සරහට ඇවිත් ගස්සල යන්න ගියා. හැබැයි කිසිම තරහක් පෙන්නුවෙත් නෑ. නිකං පොඩි ළමයි හුරතලයට ගස්සල යනව වගේ, අපිව පිළිගන්නෙ නැත්නම් අපි යනව වගේ හැඟීමකින් තමයි යන්න ගියේ.

මේ විදියට රඟා කියන මාර දුව ඒ රැඟුම් ඉවර කරල ගස්සල යන්න ගියාට පස්සෙ, මේ තුන් දෙනාම නැවතත් හොඳ ලස්සන ඇඳුම් විලි වැහෙන්න ඇඳගෙන ඇවිත්, අර කාම රැඟුම් නැතිව බොහොම පිරිසිදු චරිතයක් පෙන්ව ගෙන ලස්සන ආසනයක් මවල, ඒ අය ඒ ආසනය පිටිපස්සට වෙලා බලා ඉඳගෙන මෙහෙම හැඟෙව්වා. ''ඔබට ආසනය වෙන් කරල තියෙන්නෙ. අපි බලාපොරොත්තුව ඉන්නවා ඔබ එනකල්. අපි බලාපොරොත්තු අත් හැරල නෑ.'' මමත් ඉතින් මේ අය බලාගෙන ඉන්නව කියල දැනගෙන මේ කර්මස්ථානය එක දිගටම සිහි කළා. ඊට පස්සෙ ක්‍රමයෙන් අතුරුදන් වුණා. සති 2 ක් විතර ගියාට පස්සෙ ඒ දර්ශන පේන්නෙ නැතිව ගියා. නමුත් ඒ සති 2 යනකල් විටින් විට ඒ දර්ශනම පේන්න වුණා. ඒ කියන්නෙ රෑ දවල් දෙකේම වෙනසක් නැතිව පේනවා. අමුතුවෙන් යොමු කරන්න දෙයක් නෑ. නිදාගන්න කොට නින්ද යන්න දෙන්නෙ නෑ. අර දර්ශන පෙන්වනවා. දානෙ ගන්න වෙලාවට, එහෙම නැත්නම් කවුරු හරි එක්ක කතා කර කර ඉන්න කොට වගේ මොනව හරි වැඩ කටයුත්තක නිරත වෙලා ඉන්නව නම් විතරයි ඒ දර්ශන පේන්නෙ නැත්තෙ. බැරි වෙලාවත් පොඩ්ඩක් හරි නිදහසේ ඉන්න වෙලාවක් වුනොත් ඒ වෙලාවට අර දර්ශන පේන්න සලස්වනවා.

දැන් කෙනෙක් භෞතිකවාදීව තර්ක කරන්න පුළුවන් ඕක නිකං මානසික දර්ශනයක්, විකාරයක් කියල. නමුත් එහෙම මානසික විකාර දර්ශනයක් නම් හිතන හිතන සැරේට ඒක එන්න ඕන. ඒත් මේ දර්ශන පෙළ අතුරුදන් වුණාට පස්සෙ දැන් හිතල බැලුවත් එහෙම එකක් එන්නෙ නෑ. ඒ කියන්නෙ අර කලින් දැකපු දර්ශනවලදි භෞතිකවම ඒ මරඟනන් ඇවිත් තියෙනවා. ඒ දර්ශන සියල්ලම ආවෙ කිසිම දෙයක් හිතන්නෙ නැතිව. අර ස්වයං ප්‍රභා ආලෝකය ලැබෙන සමාධි භාවනා ක්‍රමය වඩපු නිසා හැම තැනම පේන්න ගත්තා. මොකද ඒ ස්වයං ප්‍රභා ආලෝකයේ ස්වභාවය තමයි සූර්යාලෝකය නැතිවත් හැම තැනම පේනවා. නොපෙනෙන තැනක් නෑ. ඉස්සෙල්ලම පේන්න පටන් ගත්තෙත් නොපෙනෙන ලෝකය. ඊළඟට එහෙම පටන් අරගෙන ඒක පාලනය කරගන්න බැරි වුනොත්, ඒ භාවනාව වඩන පුද්ගලයට හරිම කරදරයක් වෙනවා. මොකද වසවර්ති දිව්‍ය ලෝකයේ ඉන්න මාර සේනාව අර වගේ අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්න පුළුවන්. ඒ නිසා මේ ස්වයං ප්‍රභා ආලෝකය වැඩීමත් බොහොම පරිස්සමට කරන්න ඕන දෙයක්.

නමුත් ඒ කර්මස්ථානය මේ අවස්ථාවෙදි සඳහන් කරන්න විදියක් නෑ. මොකද අනිත් අයත් ඒක වඩල බැරි වෙලා හරි මේ වගේ ප්‍රශ්නයක් ආවොත් එහෙම බේරෙන්න බෑ. කාමයෙන් මත් වෙලා පිස්සෙක් වෙන්නත් පුළුවන්. හරි භයානකයි. නමුත් මම ඒක වඩල සමථයට පත් වෙලා තිබ්බච පුරුද්ද නිසා, ඒ දර්ශන අහක් කර ගන්න පුළුවන් වුනා මිසක් එහෙම නැත්නම් ලොකු අමාරුවක වැටෙනවා. ඒ නිසා ඒ කර්මස්ථානයේ අග කොටස විතරයි කියන්න පුළුවන්. ඒ තමයි ''නිබ්බාන පරම සුඛයෙන් සුඛිත තර වෙත්වා''

මේ විදියට ඒ භාවනාව වඩන අතර තුර මම දැක්ක සත්‍ය අත්දැකීමක් තමයි මේ විස්තර කළේ. මොකද තණ්හා, රතී, රඟා කියන්නෙ බුදුන් වහන්සේ වෙතට ආපු මාර දෙවිවරු පිරිසක් නෙවෙයි, නිකං කෙළෙස් කියල තමයි සමහර උදවිය හිතාගෙන ඉන්නෙ. නමුත් ඇත්තටම එහෙම සියුම් ලෝකයක පිරිසක් භෞතිකවම ඉන්න බවට අනිත් අයටත් දැන ගැනීම සඳහා මේ කාලෙ දැකපු අත්දැකීමක් තමයි මේ කිව්වෙ. මේ මාර දූවරු කියන්නෙ නිකං කෙළෙස් කියල රැවටිලා හිතුවට ඇත්තටම භෞතිකව නොපෙනෙන ලෝකයක ඉන්න පිරිසක්.

මේ කාරණය ඇත්ත කියල ඔප්පු කරල පෙන්වන්න ත්‍රිපිටකයේම සාක්ෂි තියෙනවා. වා, පිත්, සෙම්වලින් තොර ශරීර ඇති තණ්හා, රතී, රඟා කියන මාර දූවරු රඟන වෙලාවෙ ඇස් කොණකින්වත් නොබලපු මම, මුත්‍රා කලයක් වැනි, අසූචි ගොඩක් වැනි මැය පයින්වත් පහසනවද (පහස ලබනවද) කියල, බුදුන් වහන්සේ මාගන්ධියා ගැන කියන කතාවෙදි මෙහෙම දේශනාවක් කරනවා. මාගන්ධි බැමිණිය සහ මාගන්ධි බමුණා රූප සම්පත්තියෙන් රූ රැජිණක් වගේ හිටපු මාගන්ධියා කියන තමන්ගෙ දුව බුදුන් වහන්සේට විවාහ කරල දෙන්න ආපු වෙලාවෙ, ඒ කාරණය මුල් කරගෙන තමයි උන් වහන්සේ මෙහෙම දේශනා කළේ. එතකොට ඒකෙන් පැහැදිලිව පේනවා, බුදුන් වහන්සේ දැකල තියෙන්නෙ කෙළෙස් මාර නෙවෙයි පුද්ගල මාර කියන කාරණය. අනෙක් කාරණය තමයි බුදුන් වහන්සේට කෙළෙස් මාර එන්න විදියක් නෑ. උන් වහන්සේ සියලු කෙළෙස් ප්‍රහීණ කරල හිටියෙ.

ඒ නිසා මේ දර්ශනය මානසික රෝගයක්වත්, මනෝ විකාරයක්වත් නෙවෙයි. මානසික රෝගයක් නම් ඊට පසුවත් ඒ සම්බන්ධ විවිධ සංකල්ප එන්න ඕන. නමුත් එහෙම සංකල්ප ගැන ඊට පස්සෙ හිතල බැලුවත් එන්නෙ නෑ. ඒක අර ස්වයං ප්‍රභා ආලෝකය ලබන අවස්ථාවෙදි මගේ වචන අල්ලගෙන ඒකත් එක්කම ආපු දෙයක්. සාමාන්‍ය කෙනෙකුට ඒක පපුව පැළිල මැරෙන්න තරම් වික්ෂිප්ත දාහයක් දෙන දෙයක්. වික්ෂිප්ත වෙනව කියන්නෙ ඒ දර්ශනය අහක් කරගන්න බෑ. ඒක දරන්න බැරි වෙන කොට ඒ බව දැනගෙන ඒ අය තව තවත් රඟනවා. ඉතින් රංගනය මධ්‍යයේ අන්තිමට පුද්ගලය වික්ෂිප්ත වෙනවා. වික්ෂිප්ත වෙලා නිකං ඉන්නවත් නෙවෙයි. ඒ අය උපාදානය කරගෙන උපාදාන පච්චයා භවෝ කියල කාම භවයට වැටෙනවා. එතනින් සාසනික වශයෙන් යන මග වැහෙනවා. ඒක තමයි මේ මරඟනන්ගෙ අරමුණ වෙන්නෙත්. එහෙම නැතිව මරන්න ආව නෙවෙයි, තරහට ආවත් නෙවෙයි. ඒ අය කය මරන්න එන්නෙ නෑ. සාසනික ගමන් මග වෙනත් මගකට හරව ගන්න, ඒ කියන්නෙ කාමය පැත්තට හරව ගන්න තමයි ඒ අයට ඕන කරන්නෙ. නමුත් ඒ අය උපාදාන කළොත්, උපාදාන පච්චයා භවෝ කියල, කරපු පින් තියේ නම් ඒ මරඟනන්ගෙ ලෝකෙටම වැටෙනවා. පොළඹවා ගන්න යොදන උත්සාහය අසාර්ථක වුනොත් තමයි අර වගේ ගස්සල අත හැරල දාල යන්නෙ.

නමුත් මේ මනුස්ස ලෝකෙ උදවිය වගේ ඒ අය කවුරුවත් එක්ක තරහ වෙන්නෙ නෑ. ඒකත් විශේෂත්වයක්. මේ ලෝකෙ මිනිස්සු කොච්චර බැන්නත්, නීච විදියට අපහාස කළත් ඒ අය තරහ නෑ, හිනා වෙනවා. එහෙම හිනා වෙලා ඒ අය තමන්ගෙ ශක්තිය පාවිච්චි කරල වශී කර ගන්නවා. හරියට කතාවට කියන්නෙ ගැහැණුන්ගෙ 64 ක් මායම් කියල. අන්න ඒ වගේ ඔය 64 ම ඒ අයට තියෙන්න පුළුවන්. මොන විදියකින් හරි කාමයට පොළඹව ගන්න උත්සාහ කළාට, ඒක කපටිකමක් කියල කියන්නත් බෑ. මොකද ඒ තමයි ඒ අයගෙ ගතිය. ඒක හරි කියන මතයෙ තමයි ඒ අය ඉන්නෙ. ''තරහ වෙන්න එපා, යාළු වෙන්න. ඇයි තරහ වෙන්නෙ ? අපි හොඳින් ඉන්න ඕන. අපිට සතුටු වෙන්න ලෝකයක් තියෙනවා. සතුටු වෙන්න බාධා පමුණුවන්න එපා. අපි ඒ සතුට ලබා දෙනවා. අපි තමයි ඒ පිරිස. එතනට එන්න අපිව අත් හරින්න එපා. අපිට ලොකු පොඩි වයස් භේද නෑ. අපි ඒ හැම කෙනා ඇසුරෙම ඉන්නවා.'' මෙන්න මේ විදියෙ අදහස් තමයි මේ මරඟනන් දෙන්නෙ.

මේ විදියට ඒ අය තරහ නොවෙන්නත් හේතුවක් තියෙනවා. මොකද ඒ අයගෙ කාමුක ලෝකයට පහළ තියෙන අනෙක් ලෝකවල ඉන්න උදවිය පොළඹව ගන්න තමයි ඒ අය නිතරම උත්සාහ කරන්නෙ. එතකොට මේ මනුස්ස ලෝකෙ මිනිස්සු ඒ අයට විවිධාකාරයෙන් බණිනවා. යක්ෂ ගති තියෙන මහ වසවර්තිය කියල නීච කරල තමයි කතා කරන්නෙ. ඒ අය ඉහළම කාම දේව කොටසට අයත් වුනත්, මාර දිව්‍ය පුත්‍රය කියලවත් මනුස්සයො ඒ අයට කියන්නෙ නෑ. වසවර්තිය කියල අපහාසයටමයි කතා කරන්නෙ. හැබැයි මිනිස්සු ඒ අයට එහෙම කතා කළාට ඒ අය තරහ නෑ. ඒ ගැන ඒ අය හිතන්නෙ හරියට පොඩි එවුන් තරහ වෙනව වගේ. මනුස්සයො වුනත් තමන්ගෙ පොඩි එවුන් බැන්නම, රණ්ඩු කරගෙන තරහ වුනාම ඒවට හිනා වෙනව මිසක් කේන්ති ගන්නෙ නෑ. අන්න ඒ වගේ ඒ අයත් මේ මනුස්සයො බනින කොට, ගරහන කොට පොඩි එවුන්ගෙ වැඩ වගේ ඒව පොඩ්ඩක්වත් ගණන් ගන්නෙ නෑ. මොකද ඒ අයගෙ බලාපොරොත්තුව තරහ වීම නෙවෙයි, මේ ලෝකෙ අය අල්ල ගෙන කොහොම හරි ඒ අයගෙ පැත්තට පොළඹවා ගැනීම. එතනදිත් විශේෂයෙන්ම ඒ අය උපක්‍රම යොදල භය ගන්වල හරි වික්ෂිප්ත කරල හරි පොළඹව ගන්න උත්සාහ කරන්නෙ ලෝකෝත්තර පැත්තෙන් ඉහළ ඉන්න උදවිය සහ ඉහළට යන්න උත්සාහ කරන උදවිය. මොකද නිවන් දැකල මේ ලෝකය අත හැරල, අනිත් අයත් මුදව ගන්න කටයුතු කරන නිසා, ඒ අයගෙ පිරිස අඩු වෙයි කියන බයට තමයි එහෙම කරන්නෙ. නිවන් දකින එක මහා භයානක, පාළු වැඩක් කියල හඟවන්න තමයි කොහොම හරි උත්සාහ කරන්නෙ.

ඉතින් මේ ලෝක සම්මත ශිෂ්ටාචාරයේ නම් මේ කියන රැඟුම් උපරිම නීච වුනාට, ඒ අයට ඒව සුළු සුළු දේවල්, ගැලපෙන දේවල්. නමුත් ඒ රැඟුම් මේ ලෝකෙ ඉන්න මිනිස්සු ප්‍රසිද්ධියේ කළොත් එහෙම බරපතල වැඩ ඇතිව හිරේ යන වරදක් වෙන්නත් පුළුවන්. මේ ලෝකෙ නම් අවුරුදු 8 ක ළමයෙක් දූෂණය කළයි කිව්වොත් ඒක බරපතල වැඩ ඇතිව සිර දඬුවම් විඳින්න වෙන දෙයක්. නමුත් ඒ අයට ඒක දූෂණයක් නෙවෙයි, වේදනාවක් නෙවෙයි. මොකද ඒ අය වෙස් මවාගෙන ඉන්නෙ. ඒ අයට ඕන විදියට ඕන වෙසක් මවාගෙන රඟපාන්න පුළුවන්. අවුරුදු 8 ක ළමයෙක් වෙන්නෙත් ඒ වේසයෙන්. එහෙම වෙස් මවාගෙන ඒ හැඩයෙන් ඒ විදියටම පේන්න ඉන්නවා. නමුත් ඒ වෙස් මවාගත්ත ළමයින්ගෙ ඉන්ද්‍රියන් පවා ඒ කටයුතුවලට හැඩ ගැහිල තියෙන්නෙ. කෙනෙක් පොළඹව ගන්නම තමයි එහෙම කරන්නෙ. වේසයෙන් එන නිසා ඇත්තටම ඒ අයට කොච්චර වයසද කියල කොයි වෙලාවකවත් හොයන්න බෑ.

ඉතින් මේ දර්ශන පෙළ එන කොට නිකං අහක බලල බේරෙන්න බෑ. මේව හීන දර්ශනවත්, නිකං හිතින් මවල ගන්න දර්ශනවත් නෙවෙයි. කෙනෙක් මනසින් එකතු කර ගන්න දර්ශන, මනසින් මවා ගන්න දර්ශන වෙනයි. මොකද මවා ගත්තු දර්ශනයකින් ඒ පුද්ගලයට එහෙම ලේසියෙන් බේරෙන්න බෑ. එහෙම මවා ගත්තු කාමුක දර්ශනයක් නම් ඒ පුද්ගලයට ඒක දීර්ඝ කාලීන වශයෙන්ම ආසේවනය වෙලා, උපනිශ්‍රය වෙලා බොහෝ කාලයක් යන කල්ම ආවර්ජනය වෙනවා. ඒ තත්ත්වයට ආවොත් ලේසියෙන් බේරෙන්න බෑ. ඒක නිතරම ආවර්ජනය වෙන්න පටන් ගන්නවා. ඉතින් කිසිම හැඟීමකුත් නැතිව ඉඳල, යම් කිසි උපක්‍රමශීලීව, හිටි හැටියේම කඩා පනින හමුදාවක් වගේ පැනල, දවසක් ඉවර වෙන කොට, යම් විදර්ශනාවක් ඉදිරියේ යටපත් වෙලා සති 2 ක් යන කල් වරින් වර මතු වෙලා, අන්තිමට සදහටම අතුරුදන් වුනයි කිව්වම, ඒක මානසික වශයෙන් කෙනෙක්ගෙ අභ්‍යන්තරයෙ තිබිච්ච හැඟීමකින් සිද්ධ වුනයි කියන්න බෑ. සම්පූර්ණයෙන්ම තවත් සත්ව කොටසක ක්‍රියාකාරීත්වය තියෙන නොපෙනෙන ලෝකයක් තියෙන බවට සාක්ෂියක්. ඒක සාමාන්‍ය මිනිස් ඇසට නොපෙනෙන ලෝකයක්. නමුත් ඇත්තක්.

ඒ වගේම මේ තණ්හා, රතී, රඟා කියන වචනවලින් පෙන්වන්නෙත් ඒ අයගෙ ගති ලක්ෂණ. තණ්හා කියන මාර දෙව් දුවගෙ බලාපොරොත්තුව තමයි ඒ සියල්ලම මගේ පිරිස කියල බඳා ගන්න එක. ඒ සියල්ලම අපේ පිරිසගෙ වැඩ, අපේ අය කියන හැඟීම තමයි නිතරම තියෙන්නෙ. ඒක තමයි ඒ අයගෙ ස්වභාවය. ඒ නිසා තමයි තණ්හා වෙන්නෙ. රතී කියන කෙනා කරන්නෙ කාමයට අවශ්‍ය කරන විවිධ රති රැඟුම් මවල දීම, ඒකට අවශ්‍ය පරිසරය මවල දීම. රඟාගෙ ස්වභාවය තමයි විවිධ වෙස් අරගෙන රඟපෑම. මේ තමයි මේ තුන් දෙනාගෙ කාර්ය භාරය.

ඉතින් මේ වගේ මාර පිරිසක් භෞතිකව මේ නොපෙනෙන ලෝකෙ ඉන්නවයි කියන කාරණය මේ විදියට අත්දැකීම් එක්ක හෙළිදරව් කළේ, මේ වගේ අවස්ථාවලින් පරිස්සම් වෙන්න කියන කාරණය දැනුම් දෙන්න. විශේෂයෙන් නිවන් දැකීම පරමාර්ථ කරගෙන සමාධි, භාවනා ආදිය වඩන කොට මේ වගේ පිරිස් සම්බන්ධ වෙලා වෙනත් පැතිවලට යොමු කරන්න උත්සාහ කරන්න පුළුවන්. ඉතින් මේ වගේ අවස්ථා ලෝකෝත්තර මාර්ගය වඩන තවත් අයටත් එන්න පුළුවන්. නමුත් ඒවා ආරංචි වෙන්නෙ නෑ. මොකද හුඟක් අය ඒවා කියන්න යන්නෙත් නෑ, විස්තර කරන්න තේරෙන්නෙත් නෑ. අගක් මුලක් දන්නෙ නැති නිසා සමහර විට මෝහිනී වැහිල එහෙම නැත්නම් මනෝ විකාරයක් කියල විවිධ කතාවලින් ඒවා යට යන්න පුළුවන්. නමුත් මේ මාර දූවරු තුන් දෙනා ඔය අතරෙ විවිධ වෙස් මවාගෙන එන්න පුළුවන්. **නොපෙනෙන ලෝකවලින් එන මේ වගේ බලවේග මේ මනුස්ස ලෝකෙ තියෙන උගුල්වලට වඩා හරි භයානකයි. මොකද ලෞකික සුන්දරත්වය, අධික කාමය පෙන්වල තමයි ඒ වගේ දේවල්වලට පොළඹවා ගන්නෙ. ඒ නිසා මේ විදියෙ භාවනා වඩන කොටත් සිහි බුද්ධියෙන් යුතුව කටයුතු කරන්න ඕන.**

ඒ වගේම කෙනෙක් අහන්න පුළුවන් දැන් මේ වගේ දර්ශන පේන්නෙ මස් ලේ ඇහැටද, එහෙම නැත්නම් සමාධියටද කියල. මේක සමාධි ඇහැට තමයි මූලික වශයෙන් පේන්නෙ. නමුත් මස් ලේ ඇහැටත් පේන අවස්ථා තියෙනවා. ඒ කාරණය මේ විදියට පැහැදිලි කර ගන්න ඕන. දැන් අපි මේ ලෝකෙ ඉඳගෙන අපිට පේනවා, ඇහෙනවා ... ආදී වශයෙන් කිව්වත් ඒ සියල්ලම පේන්නෙ, ඇහෙන්නෙ අපේ මනෝමය කයට ☞

(ඒ කියන්නෙ කර්මජ කය සහ චිත්තජය කය කියන දෙකේ සම්පිණ්ඩනය). මොකද මනෝමය කයේ තමයි ප්‍රසාද රූප (චක්ඛු ප්‍රසාද, සෝත ප්‍රසාද, ඝාන ප්‍රසාද ...) තියෙන්නෙ. නමුත් අපේ අටුවාචාරීන් මේ කාරණය විග්‍රහ කරන කොට මේ මස් ලේ ඇස්වල, මස් ලේ කන්වල ප්‍රසාද රූප තියෙනවයි කියල තමයි හඳුන්වා දීල තියෙන්නෙ. නමුත් ඒක එහෙම නෙවෙයි කියල ඔප්පු කරන්න පුළුවන් සාධක ඕන තරම් තියෙනවා. උදාහරණ විදියට පොට්ඨපාද සූත්‍රයේ ආත්මභාව 3 ක් විග්‍රහ කරන තැන බුදුන් වහන්සේ මෙහෙම පෙන්වා තියෙනවා. සියලු අඟ පසඟින් යුක්ත වන්නා වූ රූපයක් මවල ඒ රූපය මේ කයින් පිට වෙනවා. ඒ විදියට පිට වෙලා යනව එනවා, දිය මත යනවා, අහසින් යනවා, පර්වත අතරින් යනවා ... මේ ආදී සියලුම කටයුතු ඒකෙන් කරන්න පුළුවන්. ඉතින් මේ මස් ලේ කය හරියට කඩුවෙ කොපුව වගේ, නයා හැව ඇරියම හැව වගේ පැත්තක තියෙනවා. තවත් පැත්තක නයා වගේ, කඩුව වගේ මනෝමය කය තියෙනවා. ඒ මනෝමය කයෙන් සියලු කටයුතු කරන්න පුළුවන්. ඒ තමයි ඒ සියුම් කයේ හැටි.

එතකොට ඒ සියුම් මනෝමය කයටත් පේනව නම්, ඇහෙනව නම්, ප්‍රසාද රූප කොහෙද තිබිල තියෙන්නෙ? ප්‍රසාද රූප මස් ලේ කයේ අඟ පසඟත් එක්ක තිබුණ නම්, ඒව අර මනෝමය රූපයත් එක්ක යන්න එන්න විදියක් නෑ. ඒ අවස්ථාවෙදි කඩුවෙ කොපුව වගේ, නයාගෙ හැව වගේ මස් ලේ කය පැත්තක තියෙනවා. ඒක නිහඬයි. එතකොට මස් ලේ කයෙන් අහක් වෙච්ච කෙනාට මනෝමය කයත් එක්ක සම්බන්ධයක් තියෙනවා. ඒ කියන්නෙ ප්‍රසාද රූපත් මනෝමය කය සමග සම්බන්ධයි. ඒ ප්‍රසාද රූප තියෙන මනෝමය කයේ ආකෘතියක් තමයි මේ මස් ලේ කය කියන්නෙ. ඒ කියන්නෙ අපේ මනෝමය කයේ ඇස් දෙක යම් තැනක, යම් හැඩයකට, යම් ආකාරයකට පිහිටල තියෙනවද, ඒ තියෙන ආකාරයටම ඒ හැඩයටම තමයි මස් ලේ කයෙත් ඇස් දෙක පිහිටල තියෙන්නෙ. කන් දෙක ඇතුලු අනෙක් සියලුම ඉන්ද්‍රියන් ගත්තමත් එහෙමයි. එතකොට ශරීරය වටා තියෙන ඕරා වළල්ලත් මනෝමය කයත් එක්ක සම්බන්ධයි.

ඒ වගේම මේ ඕරා වළල්ල සනීභවනය කරන්න විවිධ ක්‍රම තියෙනවා. එක්කො පුද්ගලයගෙ ශරීරයට අමනුස්සයෙක් ඇතුල් වෙන්න ඕන. එතකොට අමනුස්සයගෙ ශරීරය සියුම් කිරණවලින් හැදිල තියෙන්නෙ. දැන් පුද්ගලයගෙ මනෝමය කයේ තියෙන කිරණයි, ඇතුල් වෙච්ච අමනුස්සයගෙ කයේ කිරණයි දෙක එකතු වෙලා කිරණ පද්ධතිය බලවත් වෙනවා, සනීභවනය වෙනවා. එතකොට මස් ලේ කයේ පටකවලින් නික්මිලා ඒ කිරණ ඈතට විහිදෙනවා. දැන් ඒකත් එක්ක සම්බන්ධ වෙලා නොපෙනෙන ලෝකයේ තියෙන අර වගේ සියුම් දර්ශන පේන්න පටන් ගන්නවා. ඒ පේන්නෙත් මනෝමය කයට. දැන් මේ මස් ලේ කයින් මනෝමය කය වෑහිල තියෙන කොට මේ භෞතික දර්ශන සම්බන්ධ වෙන්නෙ ඇතුලෙ තියෙන මනෝමය කයට. මස් ලේ කය නිකං ද්වාරයක් / දොරටුවක් විතරයි. ඒ නිසා තමයි චක්ඛුද්වාර, පංචද්වාර ආදී වශයෙන් කියන්නෙ. මේ තමයි මනෝමය දර්ශන ගන්න එක ක්‍රමයක්. ඔය ක්‍රමයට තමයි හුඟ දෙනෙකුට අමනුස්සයො ආවේස වුනාම පේන්නෙ. මනස දුර්වල අයට මේ වගේ දේවල් පේනව කියල කියන්න හේතුවත්, දුර්වල මනසක් තියෙන අයට ඒ වෙලාවට සම්බන්ධ වෙන සමාන ගති ඇති දුර්වල අමනුස්සයො ඉන්න නිසා. මොකද ඒ දුර්වල වෙච්ච අමනුස්සයින්ට යන්න එන්න විදියක් නෑ, කන්න බොන්න දෙයක් නෑ, කිසිම ආස්වාදයක් විඳ ගන්න පුළුවන් තත්ත්වයක් නෑ. නිකං අනාථ වෙලා ඉන්න රූකඩ වගේ.

හැබැයි එබඳු ගති ලක්ෂණ තියෙන මනුස්සයෙක් හිටියොත්, ගතියට ගතිය සමාන වෙන කොට තමන්ගෙ ඥාති උරුමක්කාර අමනුස්සයො (ඥාති ප්‍රේතයො) ඉන්නව නම්, ඒ වගේ අය ඒ පුද්ගලයගෙ ශරීරයට සම්බන්ධ වෙනවා. එහෙම සම්බන්ධ වුනාම ඒ පුද්ගලයට අර වගේ ගුප්ත ලෝකෙ තියෙන දර්ශන පේන්න පටන් ගන්නවා. නමුත් මේ කාරණය දන්නෙ නැති ලෝක සම්මත උගත්තු, ඒ පුද්ගලය දිහා පිටින් බලල නිගමනය කරනවා, මේ පුද්ගලය මානසික රෝගියෙක්, ඒ වගේ අයට තමයි ඔය වගේ මනෝ විකාර පේන්නෙ කියල. අද සිද්ධ වෙලා තියෙන්නෙ ඒකයි. නමුත් මේ කාරණයේ යථාර්ථය තමයි, ඒ වගේ අමනුස්සයෙක් ශරීරයට ඇතුල් වුනාම ඒ මනුස්සයගෙ කිරණ වළල්ලයි, අමනුස්සයගෙ කිරණ වළල්ලයි දෙක එකට එකතු වෙලා බලවත් වීම. එහෙම බලවත් වුනාම තමයි නොපෙනෙන ලෝකවල දර්ශන පේන්න පටන් ගන්නෙ.

අනිත් ක්‍රමය තමයි සමාධි වැඩීම. භාවනා කරන කොට විවිධ සමාධි මට්ටම්වලදී මේ කිරණ වළල්ලත් බලවත් වෙනවා. ධ්‍යානවලට ගිහින් අභිඥා පාදක දහැන වැඩුවොත්, ඒ කිරණ වළල්ල මහා විසාලව සනීභවනය වෙනවා. ඒකෙන් කිරණ විහිදෙන කොට මහ ප්‍රබල විදියට කාන්දම් ශක්තියක් හට ගන්නවා. එහෙම වුනාම තමයි දිවැස්, දිව කන් පහළ වුනයි කියන්නෙ. අභිඥා බලය ලබනවයි කියන්නෙත් ඔය කිරණ වළල්ල සනීභවනය වෙලා මහා කාන්දමක් බවට පත්වීම. ඒත් එක්කම ඒ පුද්ගලය හිතන විදියට විශ්වයේ යන්න එන්න, ශරීරය ප්‍රසාරණය කරන්න, මවන්න ආදී ඕනෑම දෙයක් කරන්න පුළුවන් ශක්තියක් ලැබෙනවා. ඒ නිසා තමයි බුදුන් වහන්සේට, මුගලන් මහ රහතන් වහන්සේට, තවත් රහතන් වහන්සේලාට විවිධාකාර අමනුස්සයො, දේවතාවො පෙනී ඉඳල කතා කරපු අවස්ථා ඕනෑ තරම් තියෙන්නෙ. විමාන වස්තු, ප්‍රේත වස්තුවල ඒ වගේ විස්තර ඕන තරම් පෙන්වල තියෙනවා.

ඉතින් කවුරු හරි කියනව නම් මානසික රෝගීන්ට තමයි මේ වගේ දේවල් පේන්නෙ කියල, ඒ අයගෙ නිගමනවලට අනුව ලොවුතුරා බුදුන් වහන්සේ තමයි පළවෙනි මානසික රෝගියා වෙන්න ඕන, මුගලන් මහ රහතන් වහන්සේ තමයි දෙවනි මානසික රෝගියා වෙන්න ඕන. ඒ නිසා මේව ගැන කතා කරන කොට චින්තා සූත්‍රයත් එක්ක සම්බන්ධ කරල තේරුම් ගන්නව මිසක්, නොදන්න දේවල් ගැන මුලාවට පත් වෙලා බාගෙට කතා කරන්න හොඳ නෑ. මොකද මේ වගේ කාරණාවලදි සාමාන්‍ය උදවිය දන්න හරියයි, නොදන්න හරියයි කියල දෙකක් තියෙනවා. භෞතික සමාජයක් තුළ විශේෂඥයො කියල කියන්නෙ මේව ගැන හදාරල දක්ක උදවිය නෙවෙයි. මොනව හරි බාහිරින් කෑල්ලක් අල්ල ගෙන ඒ පස්සෙ ගිහින් විවිධ නිගමනවලට බැහැපු උදවිය. ඉතින් ඒ වගේ කෑල්ලක් අහුල ගෙන ඒකෙන් සියල්ල විස්තර කරන්න හදනවා. ඊට පස්සෙ ඉතින් හිස්ටීරියා, විශාදය, බින්නෝන්මාදය ආදී වශයෙන් අහවල් විදියෙ මානසික රෝගයක් කියල, මොනව හරි බර වචන දාල පණ්ඩිතකමට කියනවා. ඒව විවිධ මාධ්‍යවලිනුත් ප්‍රචාරය කරනවා. නමුත් යථාර්ථය දැන ගෙන නෙවෙයි ඒ අය එහෙම කතා කරන්නෙ. ඉතින් නොදන්න දේවල් ගැන කතා කරන්න ගිහින් වැරදි නිගමන දීල මිනිස්සු මුලාවෙ දැම්ම, කවද හරි ඒ අයටත් යථාර්ථය වැහෙන්න හේතු වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# දියවැඩියාව නිට්ටාවට සුව කරන ඔසුවක් ...

වහරක අභයරතනාලංකාර හිමියන්ගේ සමාධියට හසු වූ, විවිධ රෝගාබාධ සඳහා විශේෂිත ඖෂධීය ප්‍රතිකර්ම කිහිපයක් හේතුඵල සහිතව මීට පෙරත් මේ සඟරාවෙ පළ කළා. ඒ වගේම සමහර අවස්ථාවලදි යම් කිසි රෝගයක් සඳහා ඖෂධ කිහිපයක් තියෙන්නත් පුළුවන්. ඊළඟට ඒ විවිධ ඖෂධවල තියෙන රෝග සුව කිරීමේ හැකියාවත් යම් යම් වශයෙන් අඩු වැඩි වෙන්න පුළුවන්.

දියවැඩියාව රෝගය පාලනය කිරීම සඳහා මීට පෙර මේ සඟරාවෙ ඖෂධීය ප්‍රතිකර්මයන් කිහිපයක් සඳහන් කළා. වරක ගහ මුල් කර ගෙන තමයි ඒ ඖෂධ හඳුන්වා දුන්නෙ. දැන් මේ හෙළිදරව් කරන්න යන්නෙත් වරක ගහ මුල් කර ගෙන, අභයරතනාලංකාර හිමියන්ගෙ සමාධියට ඉතාමත් මෑත කාලෙක පළමු වතාවට හසු වූ දියවැඩියාව නිට්ටාවට සුව කරන ප්‍රත්‍යක්ෂ ඖෂධයක් පිළිබඳව. විශේෂයෙන් මේ ඖෂධය මෙච්චර කලක් හෙළිදරවු කරපු ඖෂධවලට වඩා ප්‍රබලයි. ඒ කියන්නෙ දියවැඩියාව නිට්ටාවට සනීප කරගන්න පුළුවන් ඖෂධයක් විදියට තමයි සමාධියට හසු වෙලා තියෙන්නෙ. එතකොට මේ වගේ ඖෂධයක් මෙච්චර කලක් මතු නොවී එක පාරටම දැන් මතු වුනේ කොහොමද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. මේ ඒ සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන් දැක්වූ අදහස.

“අපි යම් කිසි රෝගාබාධයකට බේතක් හෙළිදරවු කරන කොට ඒ බේත හෙළිදරවු කරන අපිත් ඒ රෝගයෙන්ම පීඩා විඳිනව නම්, ඒ බේත අපිත් පාවිච්චි කරල සුවය ලබා ගන්නවා. හැබැයි අපිට ඒ රෝගයෙන් නොවැළැක්විය හැකි කර්ම විපාකයක් ගෙවන්න තියේ නම්, ඒ බේතෙන් අපේ කර්ම විපාකය යටපත් කරන්න බෑ. ඒ නිසා යම් කිසි විදියකින් ඒ වගේ අවස්ථාවක ඒ බේත ආවොත් අපිත් ඒ බේත අරගෙන සුව කර ගන්න නිසා කර්ම විපාකය ඈත් වෙනවා. නමුත් කර්ම වේගය බලවත් නම් ඒ වෙලාවෙදි ඒ රෝගය අපිට ගෙවලම විඳින්න වෙනවා. මොකද අර බේතෙන් ප්‍රතිකර්ම කළොත් ඒ විපාකය වැහෙන නිසා. නමුත් අපේ කර්ම ශක්තියේ බලවත්කම නිසා ඒ වගේ අවස්ථාවක ඒ රෝගයට බේතක් සමාධියට එන්නෙ නැතුව යනවා. හැබැයි අපි යම් කිසි කාලයක් ඒ විපාකය විඳල කර්ම විපාකය ගෙව්ව නම්, ඊට පස්සෙ ඒ බේත ආවට කමක් නෑ. එතකොට අපි ඒ බේත පාවිච්චි කළත් ගැටළුවක් නෑ. මොකද ඒ රෝගයෙන් ගෙවන්න ඕන කර්ම විපාකය අපි ගෙවල තියෙන්නෙ.



ඉතින් මේ ආශ්‍රිත රෝගයකින් මමත් පහු ගිය කාලෙ බොහොම තද බල විදියට පීඩා වින්දා. ඒකත් බලවත් කර්ම වේගයක්. ඒ නිසා ඒ කාලෙ සමාධියට මේ වගේ බේතක් ආවෙ නෑ. නමුත් දැන් ඒ රෝගයෙන් පීඩා වින්ද බරපතල කර්මය ගෙවල ඉවරයි. ඒ නිසා දැන් සමාධියට යොමු කරන කොටම ඒකට අවශ්‍ය බේතක් මේ විදියට හසු වුණා. නමුත් ඒ කර්ම විපාකය ගෙවන කාලය තුළ මේ බේත ආව නම් ඒ විපාකය මට ගෙවන්න වෙන්නෙ නෑ. ඉතින් කර්ම විපාක කියන ඒව ඔහොම තමයි. ගෙවන්න තියෙනව නම් අපි මොනව කළත් ඒකෙන් පැනල යන්න බෑ, ගෙවන්නම වෙනවා. දියවැඩියාව නිට්ටාවට සුව කරන්න ඇඟ දිව ඇතුළෙ ඉන්සියුලින් නිෂ්පාදනය යළි ආරම්භ වෙන බේතක් නැද්ද කියල සමාධියට යොමු කර ගෙන ඉන්න කොට, එහෙම එකක් තියෙනව කියල මේ බේත ආවා.”

මේ බේතට යොදා ගන්නෙ වරක ගහේ මුල් සහ සුදු හඳුන් කුඩු. වරක ගහක මුල් ගන්න කොට පොළව යට තියෙන, එහෙම නැත්නම් යම් කිසි ප්‍රමාණයක් උඩට මතු වෙලා තියෙන තරමක ලොකු මුලක් ගලව ගන්න පුළුවන්. ගහ වටේ තියෙන මුල පටන් ගත්තු තැන් පටන් පහළට ඇදිල තියෙන ඕනෑම මුල් කැල්ලක් හෝ ඒවායේ ශාඛා මුල් මේකට ගන්න පුළුවන්. මහ මුල් ගලවල ගහට හානි වෙන්න නොදී සාමාන්‍ය මුලක් කපා ගන්න එක වැදගත්. ඒ වගේම ලීවලට කපපු වරක ගස් තිබුණොත් එහෙම තුන් මාසයක් යන්න පෙර පොළව යට ඉඳලම තියෙන සියලුම මුල් ගලව ගන්න පුළුවන්. එහෙම අරගෙන ඒ සියලුම මුල්වල තියෙන පට්ට (පොත්ත) මේ බේතට පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි ගහ කපල තුන් මාසයක් ගියාට පස්සෙ ඒ මුල්වල ඖෂධීය ශක්තිය නැති වෙනවා.

ඒ වගේම අවශ්‍ය නම්, ඒ මුල් ටික අරගෙන, මින් පසු සඳහන් කරල තියෙන ආකාරයට කපල කොටල ඉස්ම අරගෙන ඒක අධි ශීතකරණයක තැන්පත් කරල කල් තියාගෙන අවශ්‍ය වෙලාවට බේත හදන්න ගන්න පුළුවන්. එහෙම නැත්නම් මින් පසු සඳහන් කරන විදියට ඒ ඉස්ම අවශ්‍ය ගානට රත් කරල ලාටුව මට්ටමට ආවට පස්සෙ ඒකත් අධිශීතකරණයක තියල අවශ්‍ය කාලෙක බේත හදන්න පාවිච්චි කරන්න පුළුවන්. ඊට අමතරව අවශ්‍ය නම් ඉස්ම ගන්නෙ නැතිව, අමු මුල් පිටින්ම මඩ කුරුට්ට විතරක් සුද්ද කරල අධි ශීතකරණයක දාල කාලයක් තියාගෙන බේත හදන වෙලාවට පාවිච්චි කරන්නත් පුළුවන්. මේ කොයි විදියට ගත්තත් මාසයක් ඇතුළත ඒක බේත හදන්න යොදා ගන්න ඕන. මොකද නැත්නම් ඖෂධීය ශක්තිය අඩු වෙනවා. හැබැයි අද සමහර තැන්වල තියෙන බද්ධ කරපු වරක ගස්වල මුල් මේකට යොදා ගන්නෙ නෑ. මොකද ඒ ගස්වල යට කොටස හෙවත් මුල් තියෙන කොටස වරකද වැළද කියල දන්නෙ නෑ. දැන ගන්න ක්‍රමයක් නෑ. වරක ගෙඩි ☞

හැඳුනත් ඒ ගස්වල මුල මොකක්ද කියල දන්නෙ නෑ. ඒ නිසා බද්ධ නොකරපු ගස් තමයි මේකට ගන්න ඕන.

දැන් මේ විදියට ගලව ගත්ත වරක මුලේ පිට මඩ තැවරිච්ච කුරුට්ට ඉස්සෙල්ලම සුද්ද කර ගන්න ඕන. ඊට පස්සෙ ඉතිරි වෙන කහ පාටට හුරු සුදු පාට පොත්ත සම්පූර්ණයෙන්ම ගලව ගන්නවා. හරියට කුරුඳු තලා ගන්නව වගේ. ඒ ගලව ගන්න පොත්ත කොටස හීන් වෙන්න කැලිවලට කපා ගෙන හොඳට කොටල පුළුවන් තරම් ඉස්ම ගන්නවා. හැබැයි මෙතනදි නිකම්ම ඉස්ම එන්නෙ නැති නිසා පිරිසිදු වතුර ටිකක් දාන්න ඕන. ඒ දාපු වතුර ටික ඉවත් නොකර හිඳවා ගත යුතු නිසා අඩු වතුර ප්‍රමාණයකින් මිරික ගන්න බලන්න ඕන. මොකද යම් කිසි විදියකින් වතුර වැඩි වුනොත් මගදි ඉවත් කරන්නෙ නෑ. වතුර ටික ඔක්කොම වාෂ්ප කර ගන්න ඕන. ඒ නිසා සාමාන්‍යයෙන් ඉස්ම ගන්න පුළුවන් වෙන ගානට වතුර එකතු කර ගත්තම ඇති. එහෙම අරගෙන හොඳට කොටල පුළුවන් තරම් ඒ පොත්තෙ තියෙන පිටි ගතියයි, කහට ගතියයි එක්ක ඉස්ම ගන්නවා. විශේෂයෙන් වරක මුල කොටල ඉස්ම ගන්න කොට පිටි ගතිය තියේ නම් ඒක හුඟක් හොඳයි. වරක මුල ලොකු වෙච්ච තරමට ඒ පිටි ගතිය වැඩියි.

ඊළඟට ඒ ඉස්ම ටික හොඳට පෙරා ගෙන රොඩ්ඩ අයින් කරල, ඒ ඉස්ම ටික මැටි වළඳක හෝ ඇලුමිනියම් නොවන චීනච්චට්ටි වගේ තාච්චියක දාල බොහොම මඳ ගින්නෙ බුබුළු නගින්නෙ නැති ගානට පැය ගණනක් රත් කරල වතුර ටික ඔක්කොම වාෂ්ප කර ගන්නවා. සාමාන්‍යයෙන් ඇඟිල්ල දාන්න බැරි පුළුවන් වෙන ගානට මිසක් ඊට වඩා රස්නෙ තියෙන්න හොඳ නෑ. මොකද අධික රස්නෙට ඖෂධීය ගුණය පිච්චෙනවා. මේ සඳහා වායු උදුනක් (ගෑස් ලිපක්) පාවිච්චි කරන්නත් පුළුවන්. හැබැයි මේ කියන ගානට මිසක් ඕනවට වඩා රස්නෙ තියන්න හොඳ නෑ. වතුර ටික වාෂ්ප වෙලා අන්තිමට ලාටු වගේ කාරමක් ඉතිරි වෙනවා. හරියට හකුරු හදන්න පැණි උණු කරන කොට එන පදම වගේ අවස්ථාවක්. එතකොට පත්තක් හෝ හැන්දක් අරගෙන කුරු ගාන කොට වෙනස හොඳට තේරෙනවා. අන්න එතකොට බා ගන්නවා. බාගෙන ඒ ලාටුව ගුලි කරන්න පුළුවන් පදම එන කල් සුදු හඳුන් කුඩු ටිකෙන් ටික එකතු කරල හොඳට මිශ්‍ර කර ගන්නවා. ඊට පස්සෙ සාමාන්‍යයෙන් කෝපි ගෙඩි මට්ටමට ගුලි කර ගෙන අව්වෙ තියල හොඳින් වේල ගන්නවා. මොකද තෙතමනය තිබුණොත් කල් තියා ගන්න කොට පුස් කන්න බලනවා. ඒ නිසා අධික අව් රශ්මියේ වේලගත්තයි කියලත් ගැටළුවක් නෑ.

හැබැයි මෙතනදි සුදු හඳුන් කුඩු ගන්න කොට ඉස්තරම්ම වර්ගයේ වෙන්න ඕන නිසා බොහොම පරිස්සමට තෝර ගන්න ඕන. මොකද සමහර විට කඩවල්වල නිකං ලී කුඩුවලට සුදු හඳුන් ස්ප්‍රීත්තු ගහල විකුණන අවස්ථා තියෙනවා. එතකොට සුදු හඳුන් කුඩු කියල රැවටෙනවා. හොයන්න බෑ. ඒව හරි වංචාකාරී වැඩ. ඒ නිසා තමන් දන්න කියන විශ්වාසවන්ත කෙනෙක්ගෙන් හෝ ආයුර්වේද කඩයකින් හෝ හොඳට සෝදිසි කරල බලල තමයි ගන්න ඕන. එහෙම විශ්වාස නැත්නම් සුදු හඳුන් ලීයක් අරගෙන ඒකෙ පිට කුරුට්ට ඇරල, පීරකින් පීරි ගාන කොට හෝ කියතකින් ඉරන



කොට හෝ වැටෙන කුඩු ටික එකතු කර ගන්න පුළුවන්. ඒ වගේම ඒ හඳුන් ලීය කුඩු කරන කොට එක්තරා මට්ටමක සුවඳ තියෙන ලීයක් වෙන්නත් ඕන. එතනදිත් සුදු හඳුන් අරටු ලීයක් අර ගන්න පුළුවන් නම් වඩාත් හොඳයි.

දැන් මේ හදපු ගුලි වේලල, වැඩිය හුලං නොවදින්න භාජනයක දාල තියාගෙන දවසකට එක ගානෙ උදේට, කෑමට පෙර හෝ පසු ගුලියක් අරගෙන වතුර ටිකක් බොනවා. මේ විදියට මාසයක් පාවිච්චි කළාම ඉන්සියුලින් වැඩ කරන්න පටන් ගන්නවා. ඒ වගේම ඉන්සියුලින් දැනටමත් විදින කෙනෙකුට මේ බේත දුන්නොත් දවස් ගණනක් ඇතුලත ඉන්සියුලින් ගැනීම සම්පූර්ණයෙන්ම නවත්වන්න පුළුවන්. ඒ වගේම බටහිර බේත් වගේ, මේ බේත ගත්තයි කියල ආහාරවලින් එහෙම විශේෂ පරිස්සමක් වෙන්න ඕනත් නෑ. (මෙහි මීන් මතු සඳහන් කරන ඔඩු දුවපු දියවැඩියා රෝගීන්ට හැර) මොකද ඇල දිවේ තත්ත්වය සම්පූර්ණයෙන්ම නැවත ප්‍රකෘති කිරීමක් මේ බේතෙන් සිද්ධ වෙනවා. එහෙම බේතක් ලෝකෙ තියෙන නිසා තමයි දැනටමත් මේක පාවිච්චි කරපු අයට ඒ ප්‍රත්‍යය ලැබිල තියෙන්නෙ. එහෙම නැත්නම් ඔය වගේ දෙයක් සමාධියට එන්නෙත් නෑ. ඒ වගේම මේ වේලල හදාගත්තු ගුලිවල තුන් මාසයක් යන කල් ප්‍රබල ඖෂධීය ශක්තියක් තියෙනවා. ඊට පස්සෙ අවුරුද්දක් යන කල් සාමාන්‍ය ඖෂධීය ශක්තියක් තියෙනවා. ඒ නිසා මේ ගුලි අවුරුද්දක් යන කල් පාවිච්චි කරන්න පුළුවන්. නමුත් වඩාත් ප්‍රබල ප්‍රතිඵල ලබා ගන්න නම් මාස 3 ක් ඇතුලත පාවිච්චි කරන්න ඕන.

මේ බේත මේ කියපු විදියට නිවැරදි ක්‍රමයට හරියටම හදා ගත්තොත් මුල් දවස් 3 ක් පාවිච්චි කරන කොට ඉන්සියුලින් ගන්න කෙනෙක් නම්, ඉන්සියුලින් ගන්න ඕන නැති තත්ත්වයට පත් වෙනවා. දින 30 ක් ගත්තම සම්පූර්ණයෙන්ම අභ්‍යන්තරයේ ක්‍රියාකාරීත්වය එනවා. වැඩිපුර ගත්තයි කියල ගැටළුවකුත් නෑ. කිසිම අතුරු ආබාධයකුත් නෑ. ශරීරය වෙහෙසවීමක් නෑ. ඕනෑම බේතකට, ඕනෑම රෝගයකට මේකෙන් බලපෑමක් නෑ, අගුණයක් නෑ. ඒ නිසා දැනට ගන්න වෙනත් බටහිර බේත් ඒ විදිහටම පාවිච්චි කළයි කියල ගැටළුවකුත් නෑ. නමුත් සමහර කෙනෙකුට මේ බේත ගත්තම ගැස්ට්‍රයිටීස් (අම්ල පිත්ත ප්‍රදාහය) වගේ ලක්ෂණ එන්න පුළුවන්. නමුත් ඒක තදබල එකක් නෙවෙයි. තාවකාලිකයි. මොකද මේ බේතෙ තියෙන රසය මුල් කර ගෙන ශරීරය ඇතුලෙ තියෙන විස අපද්‍රව්‍ය, බඩවැල්වල තියෙන සෙම අජීර්ණ ආදිය අවුස්සනවා. එහෙම අවුස්සල තමයි ඒව ගලවල දාන්නෙ. ඉතින් ඒව අවුස්සල ගන්න කොට ඒකෙන් වායුවක් (ගෑස්) පිට කරනවා. ඒක තමයි ඔය දැවිල්ලක් විදියට එන්නෙ. ඒක රෝගයක් නෙවෙයි. එහෙම ඇවිස්සිලා එනවයි කියන්නෙ බේත ප්‍රත්‍ය වෙනවයි කියන එක. ඉතින් ඒ වගේ අවස්ථාවකදි වුනත් ඒ දැවිල්ල දරා ගන්න අපහසු නම්, ඒකට අවශ්‍ය කරන බේතක් වෛද්‍යවරයෙක් හරහා ගත්තට කමක් නෑ.

ඒ වගේම මේ බේතෙන් ප්‍රත්‍ය ලැබෙන හැටි දැන ගැනීමත් වැදගත්. මේ දියවැඩියාව රෝගය කිච්චම වර්ග

දෙකක් තියෙන බව මීට පෙරත් හෙළිදරව් කළා. එකක් තමයි කර්මජ දියවැඩියාව. ඒක ඉස්සෙල්ලම හැදෙන්නෙ මනෝමය කයට. ඊට පස්සෙ තමයි මස් ලේ කයට බලපාන්නෙ. ඒක පරම්පරාවෙන් එන රෝගී තත්ත්වයක්. ඒ කියන්නෙ ඒ ඒ ජාති සම්බන්ධයෙන් සමනන්තර - අනන්තර ප්‍රත්‍යයට අනුව ඊට ගැලපෙන, දුකට හේතු කාරක වෙන කෙනෙක් තමයි ඒ වගේ පවුලක උප්පත්තිය ලබන්නෙ. නමුත් අද තියෙන දියවැඩියා තත්ත්වයෙන් 98% කටත් වඩා වැඩිපුරම තියෙන්නෙ මේ වස විස දීම්, වස විස කැවීම් නිසා. 1 - 2% ක් විතර ප්‍රමාණයකට තමයි අර කර්මජ දියවැඩියාව තියෙන්නෙ. වස විස කැවීම් නිසා එන දියවැඩියාවට වුනත් කර්මය සම්බන්ධ වුනාට අර වගේ කර්මය ප්‍රධාන වෙන්නෙ නෑ. නූතන වෛද්‍ය විද්‍යාවෙන් මේ කාරණය එතරම් ගැඹුරට සලකා බැලුවෙ නැතත්, දියවැඩියා රෝගියෙක් ආවම බෙහෙත් දෙන්න ඉස්සෙල්ල පරම්පරාවෙන් ආපු රෝගී තත්ත්වයක්ද කියල සාමාන්‍යයෙන් අහල බලන සිරිතක් තියෙනවා. මොනව හරි වෙනසක් තියෙන නිසා තමයි එහෙම අහන්නෙ. එතකොට ඒ වගේ කර්මජ දියවැඩියා රෝගයට මේ බෙහෙත ප්‍රත්‍ය වෙන්නෙ නෑ. ඒකට කර්ම විපාකය ගෙවන්නම වෙනවා.

නමුත් අද වැඩිපුරම තියෙන්නෙ වස විස කැවීම් සහ වස විස දීම් මුල් කර ගෙන හට ගත්තු දියවැඩියා රෝගය. ඒ කියන්නෙ මේ ආහාරවලට ගහන කෘමිනාශක ආදී විවිධ වස විස නිසාත්, පිනට වශී කියමින් දෙන විවිධාකාර ඉනා බෙහෙත්, ඉනා බන්ධන නිසාත් හට ගත්තු දියවැඩියාව. මේවා අද ගණන් ගන්නෙ නැති වුනාට, තනිකරම අමනුස්සයො බැඳපු වස විසත් එක්ක තමයි දෙන්නෙ. ඒව ගිහින් ජීර්ණ පද්ධතියෙ තැන්පත් වෙලා අජීර්ණ කරනවා. ඒ වස විස ඇතුල් වුනාට පස්සෙ ඉස්සෙල්ලම සෙම අජීර්ණ කරනවා. ඒ සෙම මුල් කර ගෙන වා, පිත් ආදියත් ඇවිස්සෙනවා. ඒ කාරණය මුල් කර ගෙන ශරීරය හැදිල තියෙන මාංශ පටක සහ ලේ ධාතුව අජීර්ණ කරනවා. ඊට පස්සෙ ඒ හේතුවෙන් අස්ථි ධාතුවත් දුර්වල වෙනවා. ඊළඟට ඇට මිදුළු දුර්වල වෙනවා. එහෙම ගිහින් සප්ත ධාතු (ලේ, රස, මාංශ, මේද, අස්ථි, ඇට මිදුළු, ශුක්‍ර) දුර්වල වෙලා ඉන්ද්‍රිය ක්‍රියාකාරීත්වය අඩපණ කරනවා. මේ ක්‍රියාදාමය තනිකරම වස විස නිසා සිද්ධ වෙන දෙයක්.

ඊට පස්සෙ වා, පිත්, සෙම් කුපිත වෙලා ඇට මිදුළුවල තියෙන නිර්නාල ග්‍රන්ථිවල විවිධ කොටස් මගින් නිපදවන, ශරීරය පුරා අඟපසඟ ක්‍රියාත්මක කරන්න බලය දෙන හෝමෝනවලට බලපෑමක් එල්ල වෙනවා. ශරීර ඉන්ද්‍රියන් ක්‍රියාත්මක කරන්න ඒ හෝමෝන අත්‍යවශ්‍යයි. මේ ක්‍රියාවලියෙන් ඒ කොටස නිපදවීම අඩු වෙන්න පටන් ගන්නවා. දියවැඩියාව හුඟක් වැඩි වෙන ලකුණු පෙන්වන්නෙ මේ තත්ත්වය ආවම. ඒ කියන්නෙ ඇට මිදුළුවලින් එන හෝමෝන නිපද වෙන්නෙ නැතිව යනවා. එතකොට ශරීරයේ ලේවල තියෙන ඒ හෝමෝන ප්‍රමාණය අඩු වෙනවා. ඊට අමතරව සියලු ඉන්ද්‍රියන් ක්‍රියාත්මක කරන්න ස්නායු පද්ධතිය ප්‍රබෝධමත් කරන තවත් හෝමෝනයක් ඇට මිදුළුවලින් නිපදවල දෙනවා. අන්න ඒ හෝමෝනය මොකක්ද කියල නවීන විද්‍යාවටත් තවම හොයා ගන්න බැරිවෙලා තියෙනවා. නමුත් සමහරවිට ඉදිරියේදි හොයාගන්න පුළුවන් වේවි.

එතකොට ඉහත සිද්ධිය නිසා මොකද වෙන්නෙ, ඉන්ද්‍රියන් අක්‍රිය වෙන්න පටන් ගන්නවා. ඒකෙන් ඉන්ද්‍රියන්ගේ තියෙන ක්‍රියාකාරී භාවය අඩු වෙනවා. එතකොට ශරීරයට දනෙන වෙහෙසත් වැඩි වෙනවා. යන්න එන්න, ගමන් බිමන් කරන කොට දැඩි වෙහෙසක් දරන්න වෙනවා. ඒ වගේම කායික වශයෙන් අනෙකුත් ඉන්ද්‍රියන්ගේ ක්‍රියාකාරීත්වයට බලපාන



සාධකයක් තමයි ඇල දිවේ ඉන්සියුලින් නිෂ්පාදනය වීමෙන් කෙරෙන ක්‍රියාකාරීත්වය. ඒකෙ ක්‍රියාකාරීත්වය අඩු වුනාම ඉන්සියුලින් නිපදවීමත් අඩු වෙනවා. ඒ වගේම ඉන්සියුලින් පාලනයත් නැති වෙනවා. මේ ඉන්සියුලින් නිපදවීම කියන්නෙ ඇල දිවේ එක් කාර්යක් පමණයි. (ඇල දිව කිව්වම අග්න්‍යාශය, අක්මාව, පිත්තාශය ඇතුළු කොටස් සමූහයක් අයිති වෙනවා. ඒවට පොදුවේ කියන නමක් තමයි ඇල දිව කියන්නෙ.)

අනික් කාරණය තමයි මේ ඇට මිදුළුවලින් නිපදවන හෝමෝනවලට වස විසවලින් පහරදීමේ ක්‍රියාවලිය දිගටම තිබුනොත්, කාලයක් යන කොට වකුගඩුවේ අපද්‍රව්‍ය පෙරීමේ ක්‍රියාවලියත් දුර්වල වෙලා වකුගඩුවල ක්‍රියාකාරීත්වය අඩපණ වෙනවා. ඊළඟට ඇට මිදුළු දක්වා ඒ විස ගමන් කරල ඇට මිදුළු අක්‍රීය වීමේ තත්ත්වයට එනකොට ස්නායු පද්ධතිය අක්‍රීය වෙන්න පටන් ගන්නවා, හදවතේ ප්‍රාණවත් බව නැති වෙනවා. නහරවල ප්‍රාණවත් බව නැති වෙනවා. එතකොට තමයි නහරවල කොලෙස්ටරෝල් රැඳෙන්නෙ. එහෙම නැතිව තෙල් වැඩිපුර කාල, තෙල් වැඩිවෙලා නෙවෙයි. කොච්චර තෙල් වැඩි වුනත් දිරවනවා. මොකද තෙල් තමයි ශක්තිය දෙන්නෙ. නමුත් තෙල් දිරවන්නෙ නැති වුනාම ඒව ඉතිරි වෙනවා. නහර අක්‍රිය වෙන කොට ඒව ගිහින් ඒ තැන්වල බැඳෙනවා. එතකොට නහර දුර්වල නිසා ඒවා තැන්පත් වෙච්ච තෙල් වෙනද වගේ ගලවල සුද්ද කරල යවන්න බැරි වෙනවා. මේ විදියට ගිහින් ඇට මිදුළුවලට විස කා වැදුනම මුළු ශරීරයම අක්‍රිය කරන්න හේතු වෙනවා. මොකද ශරීරයේ ඉන්ද්‍රියන්ගේ ස්නායුවල ක්‍රියා ශක්තියට අවශ්‍ය හෝමෝන නිපදවන්නෙ ඇට මිදුළුවලින්. නමුත් ඒ කාරණය තවමත් නවීන විද්‍යාවෙන් හොයාගෙන නෑ. ඇට මිදුළු නරක් වෙන කල් කිසිම වස විසක් ශරීරයට අල්ලල හිටින්නෙ නැති ස්වභාවය, මේ තත්ත්වයත් එක්කම ටික ටික වෙනස් වෙන්න හේතු වෙනවා. ඒ කියන්නෙ ශරීරයට ඇතුල් වෙන වස විස ශරීරයේ තැන්පත් වෙනවා. ඒකෙන් තමයි ඇට මිදුළු දුර්වල වෙලා ශරීරය දුර්වල වෙන්න පටන් ගන්නෙ.

එතකොට වෛද්‍යවරුම කියන කාරණයක් තමයි, වකුගඩු බද්ධ කරන කොට පවා ඇට මිදුළුවලට විස බීජයක් ගිහින් තියෙ නම් ඒ බද්ධ කිරීම කරල වැඩක් නෑ කියල. ඒ කියන්නෙ බද්ධ කරන එකත් නරක් වෙනවා. හේතුව තමයි ඇට මිදුළුවලට කා වැදිච්ච වස විස ප්‍රමාණය පමණ ඉක්මවා තිබීම. එතකොට ශක්තිය නිපදවීම ඉතාමත්ම දුර්වල වෙනවා. ඒකෙන් ශරීරයේ තියෙන ප්‍රධාන ඉන්ද්‍රියන් ඇතුළු සියලු ඉන්ද්‍රියන් අක්‍රීය වෙලා ස්නායු පද්ධතියත් ක්‍රියාත්මක නොවී අන්තිමට මනුස්සය මැරෙනවා. මොකද ඇට මිදුළුවල නිපදවෙන හෝමෝන ශක්තියෙන් තමයි මොළයට යන කල්ම ස්නායු පද්ධතිය ප්‍රබෝධමත් කරල තියා ගන්නෙ. නමුත් මේ වස විස නිසා මුළු ශරීරයම ස්නායු පද්ධතියත් එක්ක අක්‍රිය කරන්න පටන් ගන්නවා. ඒකෙ ප්‍රතිඵලය තමයි මේ සියලු අමාරුකම්. ඒ කියන්නෙ රුධිර පීඩනය, කොලෙස්ටරෝල්, දියවැඩියාව, වකුගඩු ආබාධ, ඇස් පෙනීම දුර්වල වීම, කන් ඇසීම අඩු වීම, මොළයේ බර ගතිය, හන්දිපත් කැක්කුම් වගේ විවිධාකාර රෝග.

ඒ වගේම සීනි පාලනය කරන්න බැරි වෙන්නෙත් මේ තත්ත්වය නිසා. කන බොන ආහාරවල තියෙන සීනි ☞

සෛලවලට උරා නොගෙන ලේවලම තියෙන කොට සීනි මට්ටම ක්‍රමයෙන් වැඩි වෙනවා. එතකොට ශරීරයේ මස් පිඬු හරියට ක්‍රියාත්මක වෙන්නෙ නෑ. කොච්චර ව්‍යායාම් කළත් වෙහෙස වෙනව මිසක් ප්‍රතිඵල නෑ. ඒ ව්‍යායාම් සියල්ලම ප්‍රත්‍ය වෙන්නෙ සාමාන්‍ය නිරෝගී අයට. ඒ නිසා මේ හැම කෙනෙකුගෙම ශරීරයේ ඇට මිදුළුවලට ඇතුල් වෙලා තියෙන වස විස සුද්ධ කරල ඉවත් කරන්න පුළුවන් නම් නැවත මේ සියල්ලම ප්‍රකෘතිමත් වෙනවා. ඇට මිදුළුවල ක්‍රියාකාරීත්වය නැවත පටන් ගත්තොත් මුළු ශරීරයේම ඉන්ද්‍රියන් ප්‍රකෘතිමත් වෙනවා.

නමුත් මේ ඉහතින් සඳහන් කළ වකුගඩු අක්‍රීය වෙන මට්ටමට එන දරුණු තත්ත්වය එන්න පෙර, සාමාන්‍ය මට්ටමට එන රෝගී තත්ත්වයක් තියෙනවා. ඒ ගැන කෙටියෙන් පැහැදිලි කළොත්, ඇලදිවේ ක්‍රියාකාරීත්වය අඩු වුනාම ඇලදිවේ පෝෂ්‍ය පදාර්ථ රඳවා ගන්නා ශක්තියත් අඩු වෙලා යනවා. එතකොට පෝෂ්‍ය පදාර්ථ සමතුලිත කරල අවශ්‍ය වෙලාවට ලේවලට දීමේ ක්‍රියාවලියත් නතර වෙනවා. මේ නිසා ආහාර සමතුලිතතාවය නැති වෙනවා. ඒකෙ ප්‍රතිඵලයක් විදියට ආහාර වැඩිපුර ගත්තොත් ලේවල පෝෂණ ධාතුව වැඩි වෙලා ඒක ආපදාවක් වෙනවා. ඒ වගේම ආහාර අඩුවෙන් ගත්තොත් ලේවල පෝෂණ ධාතුව අඩු වෙලා දුර්වල වෙනවා. මේ ක්‍රියාවලිය සමතුලිත කරල දෙන ක්‍රම රටාව ඇලදිවේ ක්‍රියකාරීත්වය වෙනස් වුනාම අඩ පණ වෙනවා. මොකද ඇලදිවේ ක්‍රියාකාරීත්වය හොඳට තියෙන කොට අධික පෝෂණය ඇලදිවේ තියාගෙන ලේවලට අවශ්‍ය ප්‍රමාණය විතරක් ස්වයංක්‍රීයව ලබා දෙනවා. ඒ නිසා සීනි වැඩිපුර තියෙන ආහාර ගත්තයි කියල වෙනසක්, බලපෑමක් වෙන්නෙ නෑ. නමුත් දියවැඩියා රෝගීන්ට සීනි තියෙන ආහාර වැඩිපුර ගන්න බැරි මේ හේතුව නිසා. එතකොට ඇලදිවේ ක්‍රියාකාරීත්වයත් ප්‍රධාන ආකාර 2 කින් සිද්ධ වෙනවා. එකක් තමයි ඉන්සියුලින් ඇතුළු හෝමෝන නිෂ්පාදනය. අනෙක වැඩිපුර පෝෂ්‍ය පදාර්ථ ගබඩා කර ගෙන සමතුලිතව තියාගෙන අවශ්‍ය ප්‍රමාණයට විතරක් රුධිරයට මුදා හැරීම.

එතකොට දැන් මේ හදපු බේතත් දියවැඩියා රෝගයේ එක්තරා අවස්ථාවකට යනකල් තමයි ප්‍රත්‍ය වෙන්නෙ. ඒ කියන්නෙ ඉන්ද්‍රියන් අර විදියට අක්‍රිය වෙලා, ඇට මිදුළුත් අක්‍රිය වෙලා පාලනය කරන්න බැරි විදියට ඔඩු දුවල තිබුණොත් මේ බේත ඒ තත්ත්වය සනීප කරන්න ප්‍රමාණවත් නෑ. ඒ විස ඇට මිදුළුවලට කිඳා බැහැල තිබුණ නම්, මේ බේතෙන් එන ශක්තිය මදි නිසා තවත් දෙවෙනි බේතක් ගන්න වෙනවා. ඒකෙන් තමයි ඇට මිදුළු සම්පූර්ණයෙන්ම සුද්ද කරන්නෙ. ඒ වගේ ඔඩු දුවපු අවස්ථාවලට දෙන තවත් බේතක් තියෙනවා. විශේෂයෙන් වකුගඩු නරක් වෙන මට්ටමට විස කැවිල තියෙන අවස්ථාවට අදාලව දෙන ඒ දෙවන බේත තවමත් අත් හදා බලමින් පවතින නිසා ඉදිරියේදී හෙළිදරවු කරන්න බලාපොරොත්තු වෙනවා. ඒ නිසා මේ පළවෙනි බේත පාවිච්චි කරල සතියක් දෙකක් යන කොටත් දියවැඩියා තත්ත්වය අඩු වෙන බවක් පේන්න නැත්නම් ඒ වගේ අයට අර දෙවෙනි බේත ගන්න වෙනවා.

එතකොට සමහර අය ඉන්නවා, මේ රෝගී තත්ත්වය ඒ තරම්ම ඇට මිදුළුවලට ඔඩු දුවල නෑ. සාමාන්‍යයෙන් මගක් යනකල් ගිහින්, ඒ කියන්නෙ ඇට මිදුළු ඒ තරම් නරක් වෙලා නැතිවට ශරීරය තුළ යම්කිසි මට්ටමක් විස වෙලා තියෙනවා. විශේෂයෙන් ඇලදිවේ ක්‍රියාකාරීත්වය නතර වෙන මට්ටමට ඇවිත් ඒ හේතුවෙන් දියවැඩියා රෝග තත්ත්වයක් ඇති වෙනවා. උදාහරණ විදියට සෙම විස කරන්න ඉස්සෙල්ල සෙම අජීර්ණ කරනවා. ඊට පස්සෙ පිත අජීර්ණ කරනවා. ඊට පස්සෙ තමයි වා, පිත්, සෙම් විස වෙන්නෙ. ඒක මාංසවලට, අස්ථිවලට, ඇලදිවේ ක්‍රියාකාරීත්වයට බලපානවා. ඊළඟට ඇට මිදුළුවලින් නිෂ්පාදනය කරල දෙන හෝමෝන දුර්වල කරන්න පටන් ගන්නවා. තවත් නිෂ්පාදනය දුර්වල කරල අක්‍රීය කරන්නෙ අවසානෙදි තමයි. ඇට මිදුළුවලට විස කාන්දු වුනාම තමයි මේ තත්ත්වය එන්නෙ. නමුත් ඊට පෙර ඇති වෙන්නෙ, අර විස පිටින් ඉඳල ප්‍රතිචාර දක්වන මට්ටමක්. එතකොට දියවැඩියා තත්ත්වයක් ආවත් තවම ඒ තරම් බලවත් වෙලා නෑ, තාවකාලිකයි. අන්න ඒ වගේ අවස්ථාවලට තමයි මේ බේත ප්‍රත්‍ය වෙන්නෙ. ශරීරයේ තියෙන විෂ අපද්‍රව්‍ය ඉවත් කිරීමත් මේ බේතෙන් සිද්ධ වෙන නිසා, දියවැඩියාවට අමතරව නහරවල තැන්පත් වෙලා තියෙන කොලෙස්ටරෝල් ඉවත් කරන්නත් මේ බේත ප්‍රත්‍ය වෙනවා.

ඒ වගේම මේ වගේ රෝග හට ගන්න හේතුවත් මින් පෙර කලාපවලින් පැහැදිලි කරල තියෙනවා. විශේෂයෙන් මේ වරක කොළේ නැට්ට අරගෙන දියවැඩියාවට, රුධිර පීඩනයට හදන බේත් වගේම ඒ රෝගවලට ධර්මානුකූල හේතුවත් මේ සඟරාවෙ 25 වන කලාපයෙන් ඉදිරිපත් කළා. මේ බේතෙම මුල් අවස්ථාවක් තමයි එදා පෙන්වා දුන්නෙ. ඒකෙම විශේෂ අවස්ථාවක් තමයි දැන් මේ වරක ගහේ මුලෙන් ගන්න බේත. මොකද ආහාර නැති අයට ආහාර ලබාදීම, අනුකම්පාවෙන් හොයල බලල ඒ වගේ අයට කන්න බොන්න දීම කියන මේ ආදී ගුණාංගයන් ගිලිහිලා ගිහින්, ඒ ගුණවලට අදාල ශක්තියෙන් තමයි මේ කොස්, වරක හට ගත්තෙ. (මේ පිළිබඳව පූර්ණ විස්තරයක් 25 වන කලාපයෙන් දැනටමත් ඉදිරිපත් කර ඇත.) එතකොට ඒ ගුණය පුණ්‍ය ශක්තියක්. ඒක මුල් කාලෙ මනුස්සයින්ට තිබුණා. නමුත් පසු කාලෙක ඒ ගුණ දුරස් වෙලා ගිහින් තමයි පපුව උණු වෙන, අනුකම්පාව ඇති වෙන ගති ලක්ෂණ ගිලිහිලා ගියේ.

මේ කාරණය කලින් විග්‍රහ කරල තියෙන නිසා නැවත අමුතුවෙන් විග්‍රහ කරන්න ඕන නෑ. නමුත් මෙතනදි වරක මුල් බේතක් විදියට ගන්න නිසා ඒ ගැන නැවතත් මතක් කළොත්, එදා තිබ්බ්ච අනුකම්පා සහගත ගුණය නිසා වර කාපිය කියල හැමෝටම අඬගහල කන්න බොන්න දෙන ගති ලක්ෂණයක් තිබුණා. ඒ ගුණය ගිලිහිලා තමයි වරක හට ගත්තෙ. එතකොට ඒ ගුණයට අදාල මූල ගුණය (මුල් වෙච්ච කාරණය) තමයි වරක ගහේ මුලේ පිහිටල තියෙන්නෙ. ඒ කියන්නෙ මුලින්ම පිට වෙච්ච ශක්තිය. එතකොට මූලයෙන් පිට වෙච්ච ශක්තිය තමයි අද ශරීරයට අඩු වෙලා තියෙන්නෙ. ඒ මූල ධර්මයට අදාල ශක්තිය තමයි අද වරක ගහේ මුලේ පිහිටන්නෙ. ඒ වගේම වරක ගහේ තියෙන මේ වැදගත්කම නිසා වරක කොස් පැළයක් දෙකක් හරි පුළුවන් විදියට හිටවල ආරක්ෂා කිරීමත් ඉදිරි පරම්පරාවට බොහොම වැදගත් වේවි.

ඊළඟට සුදු (සුද්ද ගතිය) හඳුනන ගති ලක්ෂණය තමයි සුදු හඳුන්වල තියෙන්නෙ. ඒ කියන්නෙ සුද්ද දහම. තවත් පැහැදිලි කරනව නම් දස කුසල් හඳුනනවා, පාප දහම් හඳුන ගෙන අතහරිනවා, සුදු දහම් හඳුනනවා. එතකොට සුදු දහම හඳුනනව නම් තමයි ඒ පුද්ගලය දැන ගන්නෙ මේක වැරදියි, මෙහෙම තනියෙන් කන්න හොඳ නෑ, අනික් අයටත් බෙදල දීල කන්න ඕන, ඒ අයත් පෝෂණය කරන්න ඕන ආදී වශයෙන්. ඒ ගුණ ධර්ම ගිලිහුනාට පස්සෙ ඒකට අදාල ශක්තිය තමයි සුදු හඳුන්වල පිහිටියේ. එතකොට මේ වරක මුලේ ශක්තියයි, සුදු හඳුන්වල ශක්තියයි දෙක එකට සම්බන්ධයි. ඒ කියන්නෙ අර අනුකම්පාව නිසා වරෙන් කාපන් කියල අඬ ගහල කන්න බොන්න දෙන, සුද්ධතාවය හඳුනන ගති ලක්ෂණ දෙක. මේ දෙකෙන් එකක් දානය, අනෙක සීලය. ඒ දානය දීමේ ගුණයට අදාල ශක්තිය තමයි කොස්වල, වරකවල පිහිටියේ. ☞

සීලයට අදාල ශක්තිය තමයි සුදු හඳුන්වල පිහිටියේ. මේ ශක්ති දෙක යම්කිසි විදියකින් අඩු වුනොත් ශරීරයට අවශ්‍ය පෝෂණ දුර්වලතාවයන් සිද්ධ වෙනවා. එතකොට ඒකෙ ප්‍රත්‍යය ආපසු ශරීරයට දුන්නම යම්කිසි වසක් විසක් තිබුණත් ඒක බිඳ හරින්න හේතු වෙනවා. ඒ නිසා ඇලදිවට කා වැදිල විස වෙලා තියෙන අපද්‍රව්‍ය සහ ඒකෙන් ඇති කරන ප්‍රතිචාර බිඳ හැරල නිරෝගි කරල දීමත් මේ බේතෙන් සිද්ධ වෙනවා.

ඒ වගේම මේ බේත මුලින්ම හෙළිදරවු කළාට පස්සෙ, ඒක හදල අත් හදා බලන්න මුල් වුනේ රජයේ බටහිර වෛද්‍යවරු දෙන්නෙක් වීමත් විශේෂ කාරණයක්. මොකද අද සමාජයේ බොහෝ උදවිය මේ වගේ බේත් නිකං ගොඩ වෙදකම් කියල බටහිර වෛද්‍ය විද්‍යාව ගැන තමයි විශ්වාසය තියන්නෙ. සාමාන්‍ය කෙනෙක් මේ වගේ බේතක් හැදුවට එතරම් සැලකිල්ලක් දක්වන්නෙ නෑ. නමුත් මේ අවස්ථාවෙදි මේ බේතෙ තියෙන සත්‍යතාවය හොයන්න රජයේ වෛද්‍යවරු දෙන්නෙක් ඉදිරිපත්වීම වැදගත් කාරණයක්. එතනදි මේ බේත ඉස්සෙල්ලම ඒ කියපු ක්‍රමයට අනුව, අමුද්‍රව්‍ය එක් රැස් කර ගෙන සාර්ථකව හදල දුන්නෙ නෙළුව සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැළුම් ලංකේෂ්වර මහතා. ඔහු මීට පෙරත් මේ සඟරාවෙ පළ වෙච්ච මේ වගේ බෙහෙත් බොහොමයක් සාර්ථක විදියට හදල රෝගීන්ට නොමිලේම ලබා දෙන්න කටයුතු කරල තියෙනවා. මේ වතාවෙත් ඒ සඳහා සෑහෙන කාලයක්, ශ්‍රමයක් මිඩංගු කරල, ඒ ගම් පළාතෙ අසල්වැසියන්ගෙත්, තවත් විවිධ පින්වතුන්ගෙත් උදව් උපකාර ඇතිව මේ ඖෂධය හදල රෝගීන්ට නොමිලේ ලබා දෙන්න කටයුතු කරල තියෙනවා. හැබැයි ඉතින් මේ ඉන්න ඔක්කොම රෝගීන්ට දෙන්න තරම් මහා පරිමාණයෙන් නෙවෙයි, බොහොම සීමිත ප්‍රමාණයයි දැනට හදන්න පුළුවන් වෙලා තියෙන්නෙ. මොකද ඒකට අවශ්‍ය අමුද්‍රව්‍ය සපය ගන්නත්, ඒව ඒ විදියට සකස් කරල ඒ බේත හදන්නත් සෑහෙන මහන්සියක් දරන්න වෙනවා.

ඊළඟට මේ බේත ඉස්සෙල්ලම පාවිච්චි කරල සාර්ථක ප්‍රතිඵල ලැබුවෙත් රජයේ වෛද්‍යවරයෙක්. ඔහු තමයි කුළියාපිටිය රජයේ රෝහලේ හිටපු නිර්වින්දන වෛද්‍ය එම්.ඩබ්ලිව්.එස්. බී. මඩුගල්ල මහතා. මේ ඔහුගෙ අත්දැකීම්.

''මට දියවැඩියාව රෝගය තියෙන බව දැනගත්තෙ 2003 වසරෙදි. ඒ වෙද්දි මගේ ශරීරයේ සීනි මට්ටම 300 - 350 ත් අතර තිබුණෙ. ඒක දැනගත්තට පස්සෙ මුලින්ම මම බේතක් විදියට ගත්තෙ මෙට්ෆෝමීන් කියන ඖෂධය. ඒ පෙත්ත දවසට 3 වරක් 2 බැගින් දිගටම ගන්න වුණා. එහෙම කාලයක් ගන්න කොට ඒ බේත අහන්නෙ නැතිව ගියා. ඊට පස්සෙ ඉන්සියුලින් විදින මට්ටමට ආවා. දිනපතා උදේ හවස ඉන්සියුලින් විදින්න ඕන වුණා. ඒ සඳහා මට අවුරුද්දකට රුපියල් 60,000/- ක් විතර වියදම් වුණා. ඉතින් දිගටම ඉන්සියුලින් විදගෙන තමයි මේ දක්වාම හිටියෙ. ඊට පස්සෙ වහරක හාමුදුරුවන්ගෙ සමාධියට හසුවෙච්ච මේ බේත පාවිච්චි කරන්න අරගෙන දින 4 කට පස්සෙ ඉන්සියුලින් විදින එකත් නතර කළා. ඊට කලින් 250 ක තිබ්ච්ච සීනි මට්ටම ඒ වෙන කොට 130 ට විතර අඩු වුණා. එහෙම ගිහින් අන්තිමට 60 දක්වාම අඩු වුණා. ඊට පස්සෙ ටිකක් කැරකිල්ල වගේ එන්න ගත්තම මම ටිකක් සීනි වැඩි ආහාර පාන අරගෙන සාමාන්‍ය විදියට කාල බීල හිටියා. දැන් නැවතත් 130 වගේ මට්ටමක තියෙනවා. දැන් ඒ බේත දින 30 ම අරගෙන ඉවරයි. මේක ඉතින් තවත් අති සියුම් විදියට පරීක්ෂා කරල බලන්න නම් තවත් පරීක්ෂණයකට භාජනය වෙන්න ඕන. නමුත් ඒක කරල බලන්න තරම් මට වෙලාවක් ලැබ්ච්ච නැති නිසා හදිසියක් වුනොත් කියල මම තවත් ඉතාමත් කුඩා පෙත්තක් පාවිච්චි කරනවා. කොහොම හරි ඉතාමත් පැහැදිලිව කියන්න පුළුවන්, මේ බේත පාවිච්චි කිරීම නිසා රුධිරයේ සීනි මට්ටම සාමාන්‍ය තත්ත්වයට ආවයි කියන කාරණය. විශේෂයෙන් ඉන්සියුලින් විදින්න ඕන මට්ටමේ ඉන්න රෝගීන්ට ඒ තත්ත්වයෙන් සම්පූර්ණයෙන් අත් මිදෙන්න පුළුවන් කියන්නෙ ඒ බේත ඉතාමත් සාර්ථකයි කියන එක.''

ඉතින් මේ කාලෙ වෙද්දි, මේ වස විස කැවීම් ආදියෙන් ඇති වෙන දියවැඩියා රෝගයෙන් පීඩා විඳින අය අනන්තවත් ඉන්නවා. ඒකට ඉස්සර වගේ වයස් භේදෙකුත් නෑ. තරුණ කාලෙ ඉඳන්ම හුඟක් අයට තියෙනවා. ඒ අර වස විස කැවීම් නිසාම ඇති වෙච්ච තත්ත්වයක්. ඒ නිසා මේ වගේ කාලෙක අතුරු ආබාධ නැතිව, අධික වියදමක් නැතිව හදා ගන්න පුළුවන් මේ වගේ බේතක් ලැබීම බොහොම වැදගත් දෙයක්. ඒ නිසා පුළුවන් තරම් ජනතාව අතරට මේ ක්‍රමවේදය ව්‍යාප්ත කරල මේ රෝගයෙන් පීඩා විඳින අයට සහනයක් සලසල දෙන්න තමයි මේ වටිනා බේත මේ විදියට හෙළිදරවු කළේ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවනට වදන්

**මම උසස් යැයි උඩඟුවීම උච්චමානය මිසක් තෙරුවන් උසස් කොට සැලකීම නොවේ.**

**මම පහත් යැයි බැගෑපත්වීම හීනමානය මිසක් තෙරුවනට යටත්වීම නොවේ.**

**මම සම වෙමියි තරම නොදැන සම වෙන්න යෑම සදිස මානය මිසක්<br>ගුණ සමානත්වයෙන් සමවීම නොවේ.**

**නිවනට බාධාවන ත්‍රිවිධ මානය දුරු කරමු. අනතිමානීව නිවන් මග වඩමු.**

**(තෙවලා දහම ඇසුරෙනි.)**

**- වහරක අභයරතනාලංකාර හිමි -**

# ආත්ම සංකල්පයෙන් පටන් ගත් විසි ආකාර වූ සත්කාය දෘෂ්ටිය

*(පසුගිය කලාපයෙන්: ලෝකයේ විවිධ ආගම් සංකල්ප බිහි වූ හැටි......)*



බමුණන් විසින් හදා ගත් ''ආත්මය'' හෙවත් ''මම'' යන සංකල්පය පටන් ගත් හැටිත්, ඒ මමත්වයෙන් හට ගත් විසි ආකාර වූ සත්කාය දෘෂ්ටිය ගැනත් පසුගිය කලාපයෙන් යම් පමණකට විස්තර කළා. ඒ විසි ආකාරය ගැන එකින් එක කෙරෙන විග්‍රහයක් තමයි මේ. මේ සත්කාය දෘෂ්ටිය කියන්නෙ මොන වගේ දෙයක්ද කියල තේරුම් ගන්න මේ විග්‍රහය බොහොම වැදගත් වේවි. මොකද මේ වෙන කොට මේවා නිකං නම් වශයෙන් කට පාඩම් කරගෙන එනව මිසක් අර්ථ සහිතව විග්‍රහ වෙනව අඩුයි.

**රූපය මම වෙමි, රූපයෙහි මම වෙමි, රූපය තුළ මම වෙමි, මා තුළ රූපය වේ, වේදනාව මම වෙමි, වේදනාවෙහි මම වෙමි, වේදනාව තුළ මම වෙමි, මා තුළ වේදනාව වේ, සංඥාව මම වෙමි, සංඥාවෙහි මම වෙමි, සංඥාව තුළ මම වෙමි, මා තුළ සංඥාව වේ, සංඛාර මම වෙමි, සංඛාරයෙහි මම වෙමි, සංඛාර තුළ මම වෙමි, මා තුළ සංඛාර වේ, විඤ්ඤාණය මම වෙමි, විඤ්ඤාණයෙහි මම වෙමි, විඤ්ඤාණය තුළ මම වෙමි, මා තුළ විඤ්ඤාණය වේ. මේ තමයි විසි ආකාර සත්කාය දෘෂ්ටිය.** (පසු ගිය කලාපයේ සඳහන් වූ විසි ආකාරය මේ විදියට නිවැරදි විය යුතුය.)

මෙතනදි රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධය මුල් කරගෙන තමයි මේ සත්කාය දෘෂ්ඨිය කියන එක හට ගන්නෙ. මේ 5 ට තමයි සත්වයා ඡන්දරාගයෙන් බැඳිල උපාදානය වෙන්නෙ. ඡන්ද රාගය කියන එක තිබුණත් නැතත් පංචස්කන්ධයයි කියල හඳුන්වා ගත්තු සංඥා මාත්‍රයකට ''මම'' කියල කියනවා. හැබැයි කිසිම ලෞකික මාර්ගයක ඉන්න කෙනෙකුට මේ පංචස්කන්ධය මේ ආදී වශයෙන් බෙදල පෙන්වන්න පුළුවන්කමක් නෑ. නමුත් ලොව්තුරා බුදුන් වහන්සේ පහළ වෙන්න පෙරත් මේ පංචස්කන්ධය කියන වචනය සමාජ ව්‍යවහාරයේ තිබුණා. මොකද කාශ්‍යප බුදුන් වහන්සේගෙ සාසනයෙදි බෙදල දීපු කොටස් තමයි පසුකාලීනව ව්‍යවහාරයෙන් ඇවිත් ඒ මූලධර්මය නැතිව වචනවලින් විතරක් වේදයේ තැනින් තැන සඳහන් වෙලා තියෙන්නෙ. එතනදි රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධ 5 උඩ නොයෙක් තර්කවාද මතු කරන්න පටන් ගත්තා. ''මම'' කියන කෙනා කොතැනද ඉන්නෙ, ඉන්න තැන හොයන්න ඕන කියල මේ කයත් එක්ක සම්බන්ධයක් තියෙන බව එදා හිටපු බමුණො දැක්කා. ඒ අය නිච්චෝ, දුවෝ, සස්වතෝ, අවිපරිනාම ධම්මෝ ආදී වශයෙන් නොවෙනස් වන, නොසෙල්වෙන, සදාතනික, කවදාවත් මරණයට පත් නොවෙන ආත්මයක් හෙවත් මමෙක් ගැන තර්ක කළා. එතකොට ඒ ආත්මය හෙවත් මම ඉන්නෙ කොහෙද කියල ඇහුවම, මේ කය ඇතුළෙමයි කියල කයත් එක්ක සම්බන්ධ කළා. එහෙම සම්බන්ධ කරන කොට මේ කොටස් 5 න් කෝකෙද ආත්මය තියෙන්නෙ කියල එක එක්කෙනා ප්‍රශ්න කරන්න පටන් ගත්තා.

එතකොට සමහරු කියනවා රූපස්කන්ධය කියල. රූපස්කන්ධය මමයි (ආත්මයයි) කියනවා. එතකොට ඒ බමුණන්ගෙ තර්කවාදය අනුව නිච්ච, දුව, සාස්වත, අවිපරිනාම ධම්ම කියන මේ කාරණාවලට ඔය කියන මම හෙවත් ආත්මය කොයි පැත්තකින් හරි ගැලපෙන්නත් ඕන. දැන් මේ සම්බන්ධයෙන් විසාල තර්කවාද ගොඩ නගනවා. එක එක්කෙනාගෙ අදහස් ඒ අතරට ඉදිරිපත් කරනවා. ඒවට විරුද්ධව තවත් පිරිසක් තර්කවාද කරනවා. අනෙක් අයගෙ මතය බිඳල තමන්ගෙ මතය ජය ගන්න ඒ හැමෝම උත්සාහ කරනවා. පුළුවන් නම් මගෙ මතය බිඳපන් කියල තවත් කෙනෙක් අභියෝග කරනවා.

මේ විදියට බමුණො අතර විශේෂයෙන් තර්කවාද පවත්වන හැටි අරණවිභංග සහ අලගද්දූපම සූත්‍රවල විග්‍රහ කරල තියෙනවා. ඒ අය මේ විදියට තර්කවාද පවත්වන එක ගැලපෙන්නෙ නෑ කියලත් බුදුන් වහන්සේ පෙන්වා දීල තියෙනවා. මොකද ප්‍රශ්නයක් ඉදිරිපත් කරල ඒක ජය ගන්න අනෙකා අභියෝග ඉදිරිපත් කරනවා. පුළුවන් නම් මගේ මතය බිඳපන්, උඹේ මතය මගේ එක වචනයෙන් බිඳිල ගියා, පුළුවන් නම් ඕන තැනක ගිහින් හොයා ගෙන මාත් එක්ක වාද කරන්න වරෙන්.... මේ ආදී වශයෙන් ධර්මය පිළිබඳ වැරදියට අල්ල ගෙන භේද කර ගැනීම නුසුදුසුයි කියල බුද්ධ දේශනාවල පෙන්වා තියෙනවා. සච්චක වගේ ඒ කාලෙ හිටපු බමුණො අතර තිබ්ච්ච වාද තමයි මේ කියන්නෙ. තම තමන්ට පුළුවන් විදියට වාද කරල අනිත් අය පරාජය කරල තමන්ගෙ මතයම ජය ගන්න බලනවා.

දැන් එතකොට මේ රූපස්කන්ධය අල්ල ගෙන ඒකට ☞

ආත්මය හෙවත් මම කියන උදවියගෙන් සමහරක් උදවිය, රූපය මම (ආත්මය) වෙමි කියල කිව්වම, තවත් පිරිසක් අහනවා ඒ මොන රූපයද කියල. එතකොට කියනවා මේ ඕලාරික වූ කරජ කාය කියල. ඒ කියන්නෙ මේ මස් ලේ කය. මේ පිළිබඳ විස්තර පොට්ඨපාද සූත්‍රයේ සඳහන් වෙනවා. ඕලාරික කරජ කය තමයි ආත්මය කියන්නෙ කියල ඒ කාලෙ ලොකු වාදයක් තිබුණා. ඒ කියන්නෙ මේ කන බොන ආහාරවලින් යැපෙන සනීභවනය වූ මේ පිටට පේන්න තියෙන කය. ඒක තමයි ඕලාරික කරජ කාය ආත්මභාවය කියල ඒ අය කියන්නෙ. ඒ වගේම අමතරව රූපී මනෝමය ආත්මභාවය, අරූපී සංඥාමය ආත්මභාවය කියල තවත් ප්‍රධාන මත 2 ක් තිබුණා. හැබැයි කෝකද ආත්ම භාවය, කෝකද ඇත්ත කියල ඒ එකක්වත් දන්නෙ නෑ. නමුත් ඒකෙන් ඒ අය අදහස් කරන්නෙ නිච්ච වූ, නොනැසෙන, පෙලන්න බැරි, වෙනස් කරන්න බැරි දාර්ශනික වූ ආත්මයක් / මමෙක් ඉන්නව කියල. එතකොට තවත් පිරිසක් අහනවා මේ විදියට විනාස වෙලා යන, කැඩිල බිඳිල යන, සතර මහා භූතයන්ගෙන් හැදිල තියෙන කයක් කොහොමද ආත්මභාවයක් (මමෙක්) වෙන්නෙ කියල. එතකොට ඒක ඒ අයගෙ මූලික ආත්ම සංකල්පයට ගලපන්න බැරි නිසා ඒ මතයත් පරාජය වෙනවා. ඒකෙන් රූපය මම වෙමියි කියන දෘෂ්ටිය ඒ අය අතරින්ම බිඳෙනවා. නමුත් ''මම'' කියන කෙනා තවම දන්නෙ නෑ. රූපය නෙවෙයි කියල විතරක් නිගමනය කරනවා.

ඊළඟට තවත් මතයක් (දෘෂ්ටියක්) ඉදිරිපත් කරනවා, රූපයෙහි මම වෙමි කියල. ඒකෙන් කියන්නෙ මමයි රූපයයි දෙකම එක වගෙයි කියල. ඒ කියන්නෙ මම කියන කෙනා මේ රූපයත් එක්ක ඉන්නෙ, මම රූපය වගේ කියන මතය. මොකද රූපය කියල කෙලින්ම කිව්වොත්, අර විදියට කැඩෙන බිඳෙන බව පෙන්වන නිසා දැන් රූපය වගේ කියනවා. එතකොට තවත් පිරිසක් තර්ක කරනවා මේ රූපය ඒකාකාර නෑ, රූපය වගේ කිව්වට මේ රූපය ක්‍රමයෙන් ලොකු වෙනවා, වෙනස් වෙනව කියල. දැන් එහෙම ප්‍රශ්න කරන කොට ඒ අයගෙ මූලික ආත්ම සංකල්පයට ගලපන්න බැරිව යනවා. මොකද මම / ආත්මය කියන කෙනා රූපය වගේ නම්, මේ රූපය ළමා කාලෙ ඉඳන් ගැටවර වෙන කොට, තරුණ වෙන කොට, මැදි වයසට එන කොට, නාකි වෙලා මැරෙන කොට ආත්මෙටත් ඒ ලක්ෂණ තියෙන්න ඕන. ඒ නිසා ඒ තර්ක වාදයත් බිඳ වැටෙනවා.



ඊළඟට තවත් මතයක් එනවා, රූපය තුළ මම වෙමි කියල. ඉස්සෙල්ල රූපයයි, මමයි දෙකම එක වගේ කියන ඒ මතය ඒ අයගෙම තර්කවාදවලින් බිඳුනම, දැන් කියනව රූපය ඇතුළෙ මම ඉන්නව කියල. ඒ කියන්නෙ රූපය, මම හෙවත් ආත්මය කියන කෙනාට වඩා ලොකුයි කියල. එතකොට තවත් පිරිසක් අහනවා රූපය ඒකාකාර නෑ, ලොකු වෙනවා, වයසට යනවා, මැරෙනවා, එතකොට ආත්මයට මොකද වෙන්නෙ කියල. මේ රූපය ඇතුලෙ කොහොමද ඉන්නෙ? කවුරු වගේද? මොන හැඩයද? මොන පාටද? එතකොට කියනවා ආත්මය හෙවත් මම කියන කෙනා මේ හදවත ඇසුරු කර ගෙන ඉන්න අඟල් 2 ක් විතර ප්‍රමාණයේ කෙනෙක් කියල. නමුත් ඒකත් මතයක් විතරයි, ඔප්පු කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ආත්මය කියන එක අඟල් 2 ක් තරම්, ඇඟිල්ලක් තරම්, හදවත ඇසුරු කර ගෙන ඉන්න කෙනෙක් කියන මතය තවමත් සමහර බමුණො අතර තියෙනවා. ඒක තමයි රූපය ඇතුලෙ මම ඉන්නව කියල කියන්නෙ. නමුත් පෙන්වන්න කෙනෙක් නෑ. දැක්ක කෙනෙක් නෑ. ඒක සංකල්පයක් මිසක් යථාර්ථය කියල පෙන්වන්න හේතු නෑ. මොකකින්ද පෙන්වන්නෙ? අඟල් 2 ක් කියල දැන ගත්තෙ කොහොමද? කවුද ඒක දන්නෙ? දැන් ප්‍රශ්න ගොඩක් මතු වෙනවා. එතකොට මනුස්සයගෙ ආත්මය එහෙම ඉන්න කොට, සතුන්ගෙ ආත්මය කොහෙද තියෙන්නෙ? සතුන්ගෙ එකත් එච්චර ලොකුද? එතකොට කුරා කුඹි තරම් පොඩි එවුන් ඉන්නවා. උන්ගෙ ආත්මයත් අඟල් 2 ක් විතරද? ඉතින් රූපය ඇතුලෙ මම ඉන්නවයි කියන මතය ඔය විදියට ප්‍රශ්න කළාම බිඳිල යනවා.

දැන් ඊළඟට තවත් මතයක් එනවා. නෑ නෑ ආත්මය හෙවත් මම හුඟක් ලොකුයි, රූපය තියෙන්නෙ ඒ ආත්මය හෙවත් මම ඇතුළෙ කියල. ඒ කියන්නෙ ''මා තුළ රූපය වේ'' කියන මතය. දැන් එහෙම කියන අයගෙන් තවත් පිරිසක් ප්‍රශ්න කරනවා. කොහොමද එහෙම කියන්නෙ? කරුණු මොනවද? ඒ විසාල කෙනා කොහොම කෙනෙක්ද? මොන පාටද? කොච්චර ලොකුද? දැන් මේ විදියට විවිධ ප්‍රශ්න, මතවාද එනවා.

එතකොට ඔය 62 ක් අවිද්‍යාවේ දෘෂ්ටි / වාදවලදී මේ විදියට මම / ආත්මය ඇත කියන මතය මුල් කරගෙන 44 ක් සාස්වතවාද හැදුණා. එතනදී රූපය තුළ මම හෙවත් ආත්මය ඉන්නවයි කියන මතය හෝ ආත්මය හෙවත් මම තුළ රූපය තියෙනවයි කියල ගන්න මතය හෝ ධ්‍යානලාභීව ඉන්න සමහර අයත් වෙනත් විදියකට කියනවා. ඒ අයගෙ ධ්‍යාන තලයෙන් යම් කිසි ආලෝකයක් විහිදිලා චතුර්ථ ධ්‍යානය නැගිල ආලෝකය පැතිරෙන කොට, එක එක්කෙනාට එක එක විදියට පේන්න පටන් ගන්නවා. මොකද ඒ ධ්‍යාන ආලෝකයත් ඒකාකාර නෑ. සමහර කෙනෙකුට මේ ශරීරයේ හැඩයට යම් කිසි ප්‍රමාණයකට ඒ ආලෝකය පේනවා. ඒකට බුදුන් වහන්සේ උදාහරණයක් පෙන්වනවා. සුදු රෙද්දකින් කෙනෙක්ගෙ මුළු ශරීරයම වැහුවම කොහොමද පේන්නෙ, අන්න ඒ වගේ අඟ පසඟ නොපෙනෙන්න චතුර්ථ ධ්‍යානයේ ආලෝකයත් ප්‍රභාෂ්වර එළියත් ඒ විදියට පේනවා. එතකොට තම තමන්ට වැටහෙන්නෙ අඟ පසඟ නැතිව ඒ පේන විදියට. ඒ වගේ තත්ත්වයක් තමයි මෙතනදී එන්නෙ. ධ්‍යාන ලබන අය ඔය තත්ත්වය මේ විදියට දකිනවා. ඉතින් ඒ අය කියනවා අපි ආත්මය දැකල තියෙනවයි කියල. ඒ අය දැකපු දැකපු ආකාරයට තමයි මේ කියන්නෙ. ඒ අයම තමයි මේ වෙනස් මතවාද ගේන්නෙ. ආත්මය ඉන්නවා, මම ඉන්නවා කියන සාස්වතවාදය තමයි ඒ අය ඇත්ත විදියට සලකන්නෙ. ඒ මතයෙ ඉඳගෙන තමයි යම් යම් තර්කවාද ඉදිරිපත් කරන්නෙ.

දැන් මේ විදියට සමහර යෝගීන් එක අවස්ථාවක චතුර්ථ ධ්‍යානයට සමවැදිල බලන කොට, මේ ශරීරයේ ප්‍රමාණයට හිම් එළි කඳක් තියෙනවා. ඒකට ආත්මය කියල රැවටෙනවා. එහෙම රැවටිලා ආත්මය දීප්තිමත්, හරි එළියයි, ප්‍රභාෂ්වරයි, ඒ ආත්මය මේ ශරීරය වගෙයි ආදී වශයෙන් කියනවා. එතකොට තවත් (යෝගී) පිරිසක්, නෑ නෑ එහෙම නෙවෙයි කියනවා. මොකද සමහරක් යෝගීවරුන්ට මේ එළිය හුඟක් උඩට පේනවා.

නමුත් යටින් සහ වටින් පේන්නෙ නෑ. එතකොට ඒ අය කියනවා ඒ අය දකින විදියට.

ඒ විදියට මේ එළිය, ධ්‍යාන මට්ටම අනුව විවිධ අයට විවිධාකාරයෙන් පේනවා. ආත්මය වටෙන් නෑ, උසයි කියල තමන්ට පේන විදියට කියනවා. ලොකුවට දැකපු අය, ආත්මය හෙවත් මම ලොකුයි, ඒක ඇතුලෙ කය (රූපය) තියෙන්නෙ කියල කියනවා. තවත් කෙනෙක් මේ සිද්ධිය හරහට, පැතලියට, වට රවුමක් වගේ දකිනවා. ඒ අයට උඩින් යටින් පේන්නෙ නෑ. ඉතින් ඒ අය කියනවා, නෑ ආත්මෙ ඔහොම කෙලින් තියෙන එකක් නෙවෙයි, පැතලි රවුම් එකක් කියල. තවත් පිරිසක් ඒ අය දකින විදියට මේ උඩ යට විසාලෙට බෝලයක් වගේ කියනවා. ඒ අය කියනවා ආත්මය හෙවත් මම ඔහොම එකක් නෙවෙයි, ගෝලාකාර විසාල එකක්, අන්න ඒක ඇතුලෙ තමයි රූපය තියෙන්නෙ කියල. මම හෙවත් ආත්මය රූපය වගේ, රූපයේ මම හෙවත් ආත්මය ඉන්නවා, මම රූපයට වඩා හුඟක් පුංචියි, මම රූපයට වඩා විසාලයි .... මේ ආකාරයෙන් ඒ විසාලයි කුඩායි කියන එක තමයි පැතලියි, උසයි, රවුම් ආදී වශයෙන් තම තමන් දැකපු විදියට නොයෙක් ආකාරයෙන් කියන්නෙ.

දැන් මේ වගේ විවිධාකාර මත ඉදිරිපත් කරන කොට තවත් පිරිසක් මෙහෙම අහනවා. දැන් කවුරු කියන එකද ඇත්ත? විවිධ මත. එහෙම කියන්න බෑ. හරියට දන්නව නම් ඒක ඔප්පු කරල පෙන්වන්න ඕන. කොහොමද ඔප්පු කරල පෙන්වන්නෙ? කළුද සුදුද කියල ඇහුවම සුදුයි කියනවා. සුදු නම් කොහොමද ඔප්පු කරල පෙන්වන්නෙ? අපිට ඒක අරගෙන වෙන් කරල පෙන්වන්න. දැන් මෙහෙම තර්කවාද ගේනකොට මොකද වෙන්නෙ, ඒ මතවාදයන් ඔක්කොම පැටලිලි සහගත වෙනවා. එතකොට ඒ එකක්වත් ඔප්පු කරගන්න බැරිව පිළිගන්නෙ නැතිව යනවා.

ඒ නිසා මේ කියන කතා ආත්මෙ කියල ඔප්පු කරන්න කාටවත් පුළුවන්කමක් නෑ. එතකොට ඔය ආත්මය කියන එක ගමන් කරනවද? එහෙම ගමන් කරන කොට සතුන්ටත් ඒක තියෙනවද? බල්ලන්ට, බළලුන්ටත් ඒක තියෙනවද? කුරා කුඹින්ටත් ඒක තියෙනවද? මිනිස්සුන්ට තියෙන ආත්මෙ වයසට යන කොට නාකි වෙනවද? මෙහෙම අහන කොට එක් කෙනෙක්වත් මේකෙ අග මුල දන්නෙ නෑ. තමන් දැකපු පොඩ්ඩ විතරයි කියන්නෙ. ඒකෙන් අර ප්‍රශ්නවලට උත්තර දෙන්න බෑ. මොකද එයින් එහාට දෙයක් ඒ අයට පේන්නෙ නෑ. ඉතින් ඔප්පු කරන්න බෑ. එහෙනම් ඒ ආත්ම දෘෂ්ටියට මොකද වෙන්නෙ? ඒක මූලික සාස්වතවාදයට ගලපන්න බැරිව යනවා. මොකද මූලික සාස්වත වාදයට අනුව ඒ ආත්මය ස්ථිර නම්, වෙනස් වෙන්නෙ නැත්නම්, ඒ වගේම පෙලෙන්නෙත් නැත්නම්, සදාතනික නම්, විනාසයට පත් වෙන්නෙ නැත්නම් ඒක තිරිසන් සතුන්ටත් තියෙන්න එපැයි? බල්ල, බලල ළඟත් එහෙම තියෙන්න එපැයි? කුරා කුඹින්ටත් තියෙන්න එපැයි? නමුත් එහෙම තියෙනවද? දැන් ඉතින් ප්‍රශ්න ගොඩක පැටලිලා උත්තර දෙන්න කෙනෙක් නෑ. මේ විදියට ආත්ම සංකල්පය අරගෙන රූපස්කන්ධය පිළිබඳ දෘෂ්ටි හෙවත් මත 4 ක් ගෙනියනවා. ඒ මත 4 ඒ අය අතරින්ම ඔය විදියට බිඳිල යනවා.

දැන් ඊළඟට තවත් පිරිසක් කියනවා, නෑ නෑ ඕක වැරදියි, අපි කියන එක විතරයි හරි කියල. ඒකට තමයි ඉදමේව සච්චං මෝඝ මඤ්ඤං කියන්නෙ. ඒ කියන්නෙ මේකයි ඇත්ත, අනික්වා බොරුයි කියන මතය. ඉතින් තමන්ගෙ මතය දරන පිරිසක් හදාගෙන මෙහෙම කියනවා. ''වරෙල්ල යන්න අනික් එවුන් එක්ක තර්ක කරන්න, ගිහින් අහමු උන්ගෙන් ඕක කොහොමද වෙන්නෙ කියල.'' මේ විදියට තමන්ගෙ මතය හංග ගෙන අනුන්ගෙ එක ප්‍රශ්න කරනවා. ඉතින් මහා අවුලක්. කිසි දවසක විසඳුමක් නෑ. දැන් ඉතින් ඕක දන්න දන්න අය හොයා ගෙන තමයි මේ හැම තැනම දුවන්නෙ.



එතකොට රූපය අල්ල ගෙන ආත්ම සංකල්පය ජය ගන්න බැරි වුනාම, තවත් පිරිසක් කියනවා ඕක නෙවෙයි වේදනා ස්කන්ධය කියල දෙයක් තියෙනවා, අන්න ඒකයි මම හෙවත් ආත්මය කියන්නෙ කියල. එතකොට අනිත් අය ඒකට විරුද්ධව මෙහෙම තර්ක කරනවා. වේදනාව වෙනස් වෙනවනෙ, එකාකාරව තියෙන්නෙ නෑ. සැප වේදනා එනවා, දුක් වේදනා එනවා, මධ්‍යස්ථ වේදනා එනවා. ඒව එක එක විදිහයි. එතකොට ඒව ආවා ගියා. ස්ථිර එකක් කොහෙවත් තියෙනවද? දුක් වෙනකොට පෙලෙනවා. ඒ වගේම වේදනාව හට ගෙන බිඳුනම වෙනස් වෙනවා. එහෙනම් ඒක සදාතනික වෙන්නෙ කොහොමද? ඒ වේදනාව මම / ආත්මය කියල ගන්න බැරි වෙනවා. දැන් ඒ මතයත් මූලික ආත්ම සංකල්පයට ගලපන්න බැරි නිසා බිඳිල යනවා.

ඊළඟට තවත් මතයක් එනවා, වේදනාවෙහි මම / ආත්මය ඉන්නව කියල. ඒ කියන්නෙ මමයි වේදනාවයි එක වගේ, වේදනාවෙ මම ඉන්නව කියන එක. එතකොට අනිත් අය මෙහෙම අහනවා. මොන වේදනාවෙද? සැප වේදනාවෙද? දුක් වේදනාවෙද? මධ්‍යස්ථ වේදනාවෙද? දැන් ඉතින් තර්කවාද. සැප වේදනාවෙයි කිව්වොත්, හැම වෙලාවෙම සැප වේදනාව නෑ. දුක් වේදනාවෙයි කිව්වොත් ආත්මෙට මොකද වෙන්නෙ? එතකොට මම / ආත්මය කොහෙද ඉන්නෙ? දුක් වේදනාවෙ ඉන්නවයි කිව්වොත්, සැප වේදනාව එනකොට කොහෙද ඉන්නෙ? මධ්‍යස්ථ වේදනාවෙ ඉන්නව කිව්වොත් අනික් වෙලාවට කොහෙද ඉන්නෙ? එතකොට වේදනාව මම කිව්වත්, මම වේදනාව වගේ කිව්වත් ඒ අයගෙ මූලික ආත්ම සංකල්පයට ගලපන්න බෑ. මොකද වේදනාව වෙනස් වෙන දෙයක්. එතකොට, නෑ නෑ වේදනාව ඇතුලෙ ඉන්නවයි කියනවා. ඒ කියන්නෙ, වේදනාව තුළ මම වෙමි කියන මතය. ඒ වේදනාව වගේම තමයි, හැබැයි ආත්මය හෙවත් මම වේදනාවට වඩා පුංචියි කියනවා. ඊට පස්සෙ ඒ ගැන නොයෙක් තර්කවාද. ඒකෙ ආකාරය කොහොමද? කොහෙද ඉන්නෙ? වේදනාව කොතැනද තියෙන්නෙ? ඉන්න තැන කියන්න. වේදනාව හට ගත්ත තැන කියන්න. දැන් මෙහෙම ප්‍රශ්න කරන කොට ඒවට දෙන්න උත්තර නෑ.

ඊළඟට කියනවා වේදනාව තියෙන්නෙ විසාල වූ ආත්මය ඇතුලෙ හෙවත් මම තුළ කියල. ඒ තමයි මා තුළ වේදනාව වේ කියන මතය. ඒ කොහොමද? කොහෙද ඒක තියෙන්නෙ? කොච්චර ලොකුද? මොන පාටද? දැන් මෙහෙම අහන කොට දෙන්න උත්තර නෑ. නොදක්ක දේට මේ තර්කයක් ගේනව මිසක් දැකල කියනව නෙවෙයි.

ඒ වගේම සමහර අයට සුඛ ඒකාග්‍රතාවය කියන ධ්‍යානයට සමවැදුනම, ඒ සුවයෙන් ශරීරය පිරිල ඇතට කිරණ විහිදෙනව වගේ තමන්ට දැනෙනවා. දැන් අර සුවය පැතිරිලා පේනවා. හරියට පුළුං රොදක් උඩ ගෙනිච්ච වගේ දැනෙනවා. ඒ දැනෙන කොට ශරීරයේ ස්වභාවය බුදුන් වහන්සේ මෙහෙම පෙන්වා තියෙනවා.

නෙළුම්, මානෙල් පොහොට්ටුවක් වතුර මැද තියෙන කොට වටේට වතුරෙන් වැහිල, ඇතුළත් වතුරෙන් තෙත් වෙලා තියෙන්නෙ කොහොමද, සුඛ ඒකාග්‍රතාවය කියන තුන්වන දැහැනත් එහෙමයි. එතකොට අර වටේටත් වතුරෙන් වැහිල, ඇතුලෙත් වතුරෙන් වැහිල වගේ තමයි දැනෙන සුවය. ඒ සුඛ වේදනාව හරි සුවයි, අර ජලයෙන් වට වෙලා තියෙනව කියල කිව්ව වගේ ඒක තමයි සුව දෙන ආත්මය කියල නිගමනය කරනවා. එහෙම නිගමනය කරල කියනවා වේදනාව විසාලයි, ඒ වේදනාව ඇතුලෙයි මම හෙවත් ආත්මය ඉන්නෙ කියල. උඹල කොහොමද ඒක ඔප්පු කරන්නෙ කියල අහන කොට ඒකටත් කියන්න දෙයක් නැතිව යනවා. එතකොට වේදනාව නැති වෙලාවට ආත්මය කොහොමද පෙන්වන්නෙ? කොහෙද ඉන්නෙ? මොකද සුඛ වේදනාව කිව්වම ඒක කියන්න වෙන්නෙ ධ්‍යාන සුවය දැක්ක අයට විතරයි. එතකොට ඒකට ආත්මය කියල රැවටෙනවා. එහෙනම් දුක් වේදනාවෙදි කොහෙද ඉන්නෙ? නොදන්න දෙයක් නිසා ඒවට උත්තර දෙන්න බෑ. අවිෂය කරුණක් කෙරෙහි තර්ක කරන්න ගියාම, දත්තයන් පෙන්වන්න ගියාම, අහන අහන ප්‍රශ්නවලට පැටලෙනවා. එතකොට ඒකත් අර මූලික ආත්ම සංකල්පයත් එක්ක ඔප්පු කරන්න බැරිව යනවා. වේදනාව ඇතුලෙ ආත්මය තියෙනව කිව්වත් ඔප්පු කරන්න බෑ. වේදනාවට වඩා ආත්මය විසාලයි කිව්වත් ඔප්පු කරන්න බෑ. මොකද ඒකට කරුණු නෑ. ඉතින් බමුණො අතර ඔය ප්‍රශ්නය විසඳන්න ඒ කාලෙ මහා ගාල ගෝට්ටියක් තිබුණා. ඒ නිසා මේ හතර අවස්ථාවෙන්ම වේදනාව පිළිබඳ ආත්ම දෘෂ්ටියක් හට ගත්තා.

තවත් කොටසක් කියනවා මේ එකක්වත් නෙවෙයි, සංඥාවට තමයි මම / ආත්මය කියන්නෙ කියල. ඒක තමයි අරූපී සංඥාමය ආත්ම භාවය කියල ඉස්සර මතයක් තිබුණෙ. ඒ කියන්නෙ මුලින්ම තිබිච්ච අමුම අමු පුහු තර්කවාද බිඳිල ගියාට පස්සෙ, ඊට වඩා ටිකක් එහා ගිය ඕලාරික කරජ කාය ආත්ම භාවය, රූපීය මනෝමය ආත්ම භාවය, අරූපී සංඥාමය ආත්ම භාවය කියන මේ තුන තමයි ආත්මය කියල වැඩි හරියක් තර්ක කළේ. මේ 3 තමයි ආත්ම භාව 3 ක් තියෙනව කියල ඒ කාලෙ අරන් ගිය තර්කය. ඒවායින් සංඥාව ආත්ම භාවයයි කියල එක මතයක් තිබුණා. එතකොට කොහොමද ඒක ඔප්පු කරන්නෙ කියල සමහර බමුණො අහනවා.

සමහර ඍද්ධි බල තියෙන යෝගීවරු ඉන්නවා. ඒ අයට පුළුවන් කෙනෙක්ගෙ සංඥාව ශරීරයෙන් අහක් කරන්න. එතකොට ඒ පුද්ගලය විසඥ්ඥ වෙනවා, සිහි නැති වෙනවා. ඒ තමයි සංඥාව අහකට ගත්තම හැටි. ඉතින් ඒක ඔප්පු කරලත් පෙන්වනවා. සමහර අභිඥ්ඥාලාභීන්ට කෙනෙක් මෝහනයට පත් කරල සිහි නැති කරන්න පුළුවන්. එතකොට කියනවා මම සංඥාව අහක් කළා, ඒ පුද්ගලයට සිහි නැතිව ගියා කියල. සංඥාව කොහෙද තිබුණෙ කියල ඇහුවම පපුවෙ තිබුණයි කියනවා. සංඥාවත් පොඩියි, ආත්මයත් පොඩියි. ඒ ආත්මය සංඥාවක් විදියට තමයි තිබුණෙ. සංඥාවයි ආත්මයයි දෙකම එක නිසා තමයි ඒ පුද්ගලයගෙ සංඥාව අහක් කළාම සිහි නැතිව ගියේ. සංඥාව වශයෙන් ලැබුනෙ ආත්මය. සංඥාව අහකට ගත්තම ආත්මය නැතිව ගියා. නැවත සංඥාව ආවම ආත්මයත් ආවා, සිහිය ආවා. එතකොට දැනෙන්න පටන් ගත්තා. දැන් මේ විදියට සංඥාව මමයි/ආත්මයයි කියල ඒ අය තර්ක කරනවා.

එතකොට සමහර අය මෙහෙම අහනවා. ඒ සංඥාව ආත්මය නම් ඒක අරන් තිව්වම කොහෙද තිබුණෙ? ඒකට මොකද වුණේ? කොයි ආකාරද? මේ වගේ විවිධ ප්‍රශ්න අහනවා. ඒත් මේ සංඥාව ආත්මයයි කියන මතය හුඟක් පටලවා ගත්තු සංකීර්ණ එකක් නිසා තමයි කාලයක් බේරිලා තිබුණෙ. ඒ සංඥාව පිළිබඳ විග්‍රහ කරන්න දන්නෙ නැතිකම නිසා. එතකොට බුදුන් වහන්සේ තමයි රූප සංඥා, ශබ්ද සංඥා, ගන්ධ සංඥා, රස සංඥා, ස්පර්ශ සංඥා ආදිය විවිධ අවස්ථාවලදී එන බව පෙන්වා දුන්නෙ. ඒ කියන්නෙ වෙලාවකට රූප සංඥාවක් එනවා. ඒක ගෙවිල ගියාට පස්සෙ ශබ්ද සංඥාවක් එනවා. තවත් වෙලාවකට ගන්ධ සංඥාවක් එනවා. මේ ආදී වශයෙන් එකින් එක විග්‍රහ කරන කොට එක සංඥාවක් තියෙද්දි තවත් සංඥාවක් එන්නෙ නෑ. එතකොට මේ මොන සංඥාවටද ආත්මය කියන්නෙ? ඒක එකාකාරව පවතින දෙයක් නෙවෙයි.

මේ විදියට හේතුඵල ඇතිව විග්‍රහ කළාම තමයි සංඥාව කියන්නෙ හේතුඵල දෙයක් මිසක් ආත්මයක් කියල දෙයක් නෙවෙයි කියල තහවුරු වුණේ. ඒ කාරණය බුදුන් වහන්සේ පෙන්වන කල් ඒ අයට තෝර ගන්න බැරි වුණා. මොකද ඒක අති සියුම් දෙයක් නිසා. එතකොට අපේ සංඥාව යම් ආකාරද, ඒ සංඥාවට තමයි ඒ අය ආත්මය කිව්වෙ. ඊළඟට අනිත් සැරේ සංඥාව වෙනස් වුනාම, මම (ආත්මය) සංඥාව වගේ නම්, ඒ කියන්නෙ සංඥාවෙහි මම (ආත්මය) ඉන්නව නම්, දැන් ඒ ආත්මයට මොකද වෙන්නෙ? මොකද විවිධ අවස්ථාවල විවිධ සංඥා එනවා. ඉතින් කොයි සංඥාවෙද ඔය ආත්මය ඉන්නෙ? කොයි සංඥාව වගේද? දැන් මෙතනදි පැටලෙනවා. එතකොට ඒ මතයත් බිඳ වැටෙනවා.

ඊළඟට සංඥාව ඇතුලෙ මම/ ආත්මය ඉන්නවයි කියල තවත් මතයක් එනවා. එතනදිත් අර ප්‍රශ්නයම මතු වෙනවා. සංඥාව වෙනස් වෙන කොට, නැති වෙන කොට ඇතුලෙ හිටපු ආත්මය කොහෙද යන්නෙ? ඒකට උත්තර නෑ. මොකද මේ ආත්ම සංකල්පයෙදි සැප දුක් විඳින්නෙ, යන්නෙ එන්නෙ, කන්නෙ බොන්නෙ, කතා කරන්නෙ, පින් පවු කරන්නෙ, විපාක විඳින්නෙ මේ ආත්මය කියල තමයි මුල් බැස ගෙන තිබුනෙ. ඒක තමයි සියලු බමුණන්ගෙ ආත්ම සංකල්පයේ පොදු මූල සිද්ධාන්තය.

හැබැයි මම සැප විඳිනවා, මම දුක් විඳිනවා, මම මැරෙනවා... ආදී වශයෙන් කිව්වට අන්තිමට බලන කොට ඒව විඳල තියෙන්නෙත්, මැරිල තියෙන්නෙත් කය. ඒ අය කියන්නෙ මේ කයට තමයි සැප දුක් දැනෙන්නෙ කියල. ඒ වගේම මැරෙන්නෙත් කය කියල කියනවා. ඒ කය ඇතුලෙ ඉන්න මම ඒව දැන ගන්නව කියල අදහස් ගන්නවා. උදාහරණ විදියට බෙල්ල කපල මැරුවොත් ඒ පුද්ගලය කියන්නෙ කැපුනෙ කය, මම වෙනත් තැනකට ගියා කියල. ඒ නිසා මගේ බෙල්ල කැපිල නෑ, කයේ බෙල්ල කැපිල තියෙන්නෙ කියල අදහස් ගන්නවා. මම කියන කෙනා සංඥාවෙන් ගත්තම මම කැපිල නෑ, කය තමයි කැපුනෙ කියනවා. එතකොට දුක් විඳින්නෙ කය මිසක් මම කියන සංඥාව නෙවෙයි. නමුත් ඒ විඳීම ගැන දැන ගන්නෙ ආත්මය හෙවත් මම. ඒ කියන්නෙ කය විඳින දේ ආත්මය දැනගන්නව කියන අදහසේ තමයි ඒ අය ඉන්නෙ.

දැන් මේ ආත්ම සංකල්පය ඔප්පු වෙන තැනක් තමයි භගවත් ගීතාවෙ පළවෙනි ශ්ලෝකය. ''එම්බා ආත්මය, කඩුවකින් තොප කැපිය නොහැක. ගින්නකින් තොප දැවිය නොහැක. කුරුල්ලා පරණ කූඩුව හැර අලුත් කූඩුවක් තනන්නා සේ තොප කයක් හැර කයක් තනන්නේය.''

☞

මේ අදහසේ ඉඳගෙන තමයි ආත්මෙ ඉන්න තැන හොයන්නෙ. එතකොට තමයි අහන්නෙ, මේ සංඥාව ඇතුලෙ ඉන්නව නම් සංඥාව නැති වෙන කොට කොහෙද ඉන්නෙ? ඇයි යන්න එන්න බැරි? ඇයි කතා කරන්න බැරි? කොහාටද ගියේ? දැන් මෙහෙම අහනකොට දෙන්න උත්තර නෑ. එතකොට සංඥාව ඇතුලෙ මම / ආත්මය ඉන්නව කියන මතයත් ප්‍රතික්ෂේප වෙනවා.

ඊළඟට තවත් මතයක් එනවා, ආත්මය හෙවත් මම විසාලයි, ඒ විසාල ආත්මය හෙවත් මම ඇතුලෙ තමයි මේ සංඥාව තියෙන්නෙ කියල. දැන් ප්‍රශ්න අහනවා. එතකොට සංඥාව අහක් කළාම ආත්මෙට මොකද වෙන්නෙ? මොකද සංඥාව අහක් කරන්න පුළුවන් කියලත් කියනවා. සංඥාව අහක් කළාම යන්න එන්න, කන්න බොන්න පුළුවන් ආත්මය මොකද කරන්නෙ? සංඥාව නැතිව ඒව කරන්න පුළුවන්ද? උත්තර නැති නිසා ඒ මතයත් ප්‍රතික්ෂේප වෙනවා. එතකොට සංඥාව මම වෙමියි (සංඥාව = මම) කිව්වත්, සංඥාවෙහි මම වෙමියි කිව්වත්, සංඥාව ඇතුලෙ මම ඉන්නව කිව්වත්, මම ඇතුලෙ සංඥාව තියෙනව කිව්වත් මේ හතර ආකාරයම ඔප්පු කරන්න බෑ.

ඊළඟට තවත් පිරිසක් මතයක් ඉදිරිපත් කරනවා ඔය ඔක්කොම බොරු, සංඛාර තමයි ආත්මය/මම කියන්නෙ කියල. මොකද යනව එනවා, කතා කරනවා, කනව බොනවා, චේතනා පිහිටුවනවා, හිතවත්කම් ඇති කර ගන්නවා... මේ ආදී සියල්ලම කරනවා. අන්න ඒ ක්‍රියාකාරීත්වය තමයි සංඛාර. ඒ සංඛාර තමයි මම (ආත්මය) කියන්නෙ. දැන් ඊළඟට ඒක ප්‍රශ්න කරනවා. සංඛාර කොච්චරවත් වෙනස් වෙනවනෙ! එකාකාරව නැනෙ! එතකොට අර කියන ස්ථිරයි, සදාතනිකයි, වෙනස් වෙන්නෙ නෑ.... ආදී වශයෙන් එන ඒ අයගෙ මූල ධර්මයට ගලපන්න බෑ. ඒ නිසා ඒ මතයත් බිඳෙනවා.

ඊළඟට, සංඛාරයෙහි මම වෙමි හෙවත් මම සංඛාර වගෙයි කියනවා. කොයි සංඛාර වගේද කියල ඇහුවම සංඛාරයේ හැටි කියන්න දන්නෙ නෑ. මොකද සංඛාර කියන්නෙ එකක් නෙවෙයි, නිරන්තරයෙන් වෙනස් වෙන දෙයක්. ඒ නිසා ඒක ඔප්පු කරන්නත් බෑ. ඊළඟට සංඛාර ඇතුලෙ මම ඉන්නවයි කියනවා. මොන සංඛාර ඇතුලෙද, මොන ක්‍රියාව ඇතුලෙද කියල ඇහුවම ඒකත් ඔප්පු කරන්න බෑ. ඊළඟට මම ඇතුලෙයි සංඛාර තියෙන්නෙ, මම සංඛාරවලට වඩා ලොකුයි කියල කියනවා. එහෙනම් සංඛාර වෙනස් වෙනකොට මම කොතැනද ඉන්නෙ? ඒ අයගෙ දත්තවලට අනුව නිදාගත්තම සංඛාර නැති වෙලා යනවා. ඒ නිසා එතකොට අර මහ ලොකුවට ඉන්න කෙනා කොහෙද අහනවා ඉන්නෙ.

ඒ වගේම ආශ්වාස ප්‍රාශ්වාස කරන කොට ඒ තුල දිවැසට පේන සියුම් දෙයක් තියෙනවා. සමාධියට පේනවා විසාල බෝලයක් වගේ දෙයක්. ඒක ඇතුලෙ තමයි හුස්ම ඇද ඇදා ගන්නෙ. හුස්ම අදිනකොට කිරණයක් ඇදෙනවා. ඒක තමයි ජීව ශක්තිය, ජීව ධාතුව, ජීවිත රූපය කියල කියන්නෙ. ඒක ඇති කරන්නෙ අර විසාල කිරණ ධාරාවෙන්. ඒක තමයි මේ ජීවත් වෙනකොට ගේන ආයුස කියන්නෙ. මොකද කර්ම ශක්තියේ ප්‍රමාණයෙන් පුද්ගලයගෙ ජීවිත කාලය නිර්මාණය වෙනවා. ඒ නිර්මාණය වෙච්ච එකෙන් තමයි ජීවිතයට හුස්ම ගන්න වාරයක් පාසා සූක්ෂම කයේ කිරණක් නිර්මාණය කරන්නෙ. ඒකෙන් තමයි කය සුද්ධ කරන්නෙ. එතකොට මේ කයට ඔක්සිජන් යනවා. මේ දෙකම එකට එන්නෙ. දැන් මේ සම්පූර්ණ ක්‍රියාවලිය ප්‍රත්‍යවේක්ෂා ඥානය තියෙන ආර්යන්ගේ සියුම් දිවැසට, පටිසම්භිදා ඥානයන්ට ගෝචර වෙනවා. නමුත් ඒ තරම් සියුම්ව පේන්නෙ නැති සමහර ලෞකික ධ්‍යාන ලබපු උදවිය මේ අවස්ථාවෙදි ලොකුවට පේන කිරණ නිසා ඒකට තමයි රැවටිලා මම/ආත්මය කියන්නෙ. නමුත් ඒ තියෙන්නෙ ජීවිතය ක්‍රියාත්මක කරන්න අවශ්‍ය කර්ම ශක්තියේ කර්මජ රූපය. ඒක නිපදවෙන්නෙ කර්ම ශක්තියෙන්.

නමුත් මේ කාරණා එකක්වත් දන්නෙ නැතිව අර ශක්තිය ආත්මයකට ඇඳ ගන්නවා. මේ ක්‍රියා කරන ඒවා සියල්ල කරන්නෙ ඒකෙන් (ආත්මයෙන්) කියල හිතනවා. ඒ දෘෂ්ටියට බහින්න හේතුව ඒකයි. නමුත් අන්තිමට ඒ ගැනත් ඒ අයම තර්ක කරනවා. වයසට යන්න යන්න, ආයුස ගෙවෙන්න ගෙවෙන්න ඒක කුඩා වෙලා විනාස වෙනවා. එතකොට අර ආත්ම සංකල්පයේ මූල ධර්මය විදියට එන වෙනස් වෙන්නෙ නෑ..... ආදී වශයෙන් කියන කාරණාවලට ගලපන්න බැරිව යනවා. ඒ වගේම ආත්මය සදාතනිකයි කිව්වම කුඩා වෙන්න බෑ, වෙනස් වෙන්න බෑ. එතකොට මම / ආත්මය කියන කෙනා සංඛාර (ක්‍රියාකාරීත්වය) කිව්වත්, සංඛාර වගේ කිව්වත්, සංඛාර ඇතුලෙ ඉන්නව කිව්වත්, මම ඇතුලෙ සංඛාර තියෙනව කිව්වත් ඒ හතරෙන් එකක්වත් ඔප්පු කරන්න බෑ.

අන්තිමට තවත් මතයක් එනවා, ආත්මය හෙවත් මම කියන්නෙ විඤ්ඤාණය කියල. එතකොට විඤ්ඤාණය කියන්නෙ දැනීම. දැනීමට තමයි මම/ආත්මය කියන්නෙ. නමුත් දැනීම කියන එකත් වෙනස් වෙනවා, නැති වෙනවා. නින්ද ගියාම දැනීම නැති වෙනවා. සිහි නැති වුනාමත් දැනීම නැති වෙනවා. එතකොට ඒකත් එකාකාරව පවතින්නෙ නැත්නම්, නැති වෙනව නම්, ඒක මම/ආත්මය වෙන්නෙ කොහොමද? මොකද සදාතනික, වෙනස් කරන්න බැරි එකක් තමයි ''මම'' කියන්නෙ. එතකොට විඤ්ඤාණය කියන දැනීමත් නැති වෙනව නම්, ඒක කවදාවත් මම/ආත්මය විදියට ගන්න බෑ.

ඊළඟට මම විඤ්ඤාණය වගේ කිව්වම (විඤ්ඤාණයෙහි මම වෙමි), දැනෙන්නෙ නැති වෙලාවට ආත්මයත් එහෙමද? මොකද විඤ්ඤාණය මතු වෙනවා, ගෙවිල යනවා. ඇහැ ඇරල ඉන්නකොට තියෙන්නෙ චක්ඛු විඤ්ඤාණය. කන් ඇහෙනකොට සෝත විඤ්ඤාණය. මේ ආදී වශයෙන් විඤ්ඤාණයත් වෙනස් වෙනවා. ඉතිං මම කොයි විඤ්ඤාණය වගේද කියල ඇහුවම දෙන්න උත්තරයක් නෑ. එතකොට ඒ විඤ්ඤාණය නැති වෙනකොට මම කොහෙද ඉන්නෙ? ඊළඟට විඤ්ඤාණයට වඩා ආත්මය පොඩියි (විඤ්ඤාණය තුළ මම වෙමි), විඤ්ඤාණය ඇතුලෙ ආත්මය තියෙනවයි කියල කියනවා. එතකොට කොහොමද ඔප්පු කරන්නෙ ? ඒක මොන වගේද ? මොන විඤ්ඤාණයේද ? දැන් මේ එකක්වත් ඔප්පු කරන්න බෑ.

ඊළඟ සැරේ විඤ්ඤාණයට වඩා ආත්මය ලොකුයි (මා තුළ විඤ්ඤාණය වේ) කිව්වම ඒක කොහෙද තියෙන්නෙ, කොච්චර ලොකුද, කොහොමද ඔප්පු කරන්නෙ කියල අහනවා. දැන් ඉතිං ප්‍රශ්න, තර්කවාද ගොඩයි. එතකොට විඤ්ඤාණ පිළිබඳවත් ඔය හතර ආකාරයටම තමයි අදහස් එන්නෙ. නමුත් විඤ්ඤාණය ආත්මයයි කිව්වමත් ඔප්පු කරන්න බෑ. විඤ්ඤාණය වගේ කිව්වත්, විඤ්ඤා-ණයෙහි කියල කිව්වත්, විඤ්ඤාණයට වඩා පොඩියි කියල කිව්වත්, ලොකුයි කිව්වත් ඒ එකක්වත් ඔප්පු කරන්න බෑ. දැන් මේ විදියට පංචස්කන්ධයේ එකකට දෘෂ්ටි හතර ගානෙ දෘෂ්ටි විස්සක ඉඳගෙන තමයි ආත්මයක් ගැන මතවාද ඉදිරිපත් කරන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# කාලික සහ අකාලික දහම්

*(පසුගිය කලාපයෙන්: "අරමුණ" යන්නෙහි ගැඹුරු දහම් අරුත...)*

අකාලිකයි කියන වචනය අපිට නිතර අහන්න ලැබුනත්, ඒකෙන් කියවෙන නියම ලෝකෝත්තර අර්ථය බොහෝ දෙනෙක් දන්නෙ නෑ. ඒ ගැන හරියට විග්‍රහ වෙන්නෙ නෑ. කාලයක් නෑ කියල මතු පිටින් කියනව මිසක් ඒ ගැන හරි අර්ථ දැක්වීමක් අහන්න ලැබෙනව අඩුයි. ඒ නිසා මේ කාලික සහ අකාලික දහම්වල වෙනසත්, ඒවට උදාහරණත් තමයි මේ ලිපියෙන් පැහැදිලි කරන්නෙ.

මෙතනදි නාම ගොත්තං නජීරතී - නාම ගෝත්‍ර දිරන්නෙ නෑ කියල අපි අහල තියෙනවා. ඒක බුද්ධ දේශනාවක්. නාම ගෝත්‍ර කියන්නෙ මතක සටහන්. උදාහරණ විදියට ගෞතම බුදුන් වහන්සේ පෙරුම් පුරන බෝසත් කාලෙ දීපංකර බුද්ධ පාමුල සුමේධ නම් තාපසයෙක් වෙලා මඩ වලක දිගා වෙලා, බුදුන් වහන්සේ ඇතුළු රහතන් වහන්සේලාට බාධාවකින් තොරව තමන්ගෙ පිට මතින් වඩින්න සලස්වපු අතීත කතාව, බුදු වුනාට පස්සෙත් උන් වහන්සේම දිවැසින් දැකල ප්‍රකාශ කළා.

එදා මම මේ විදියෙ රූප ස්වභාවයකින් යුක්තව, මේ විදියෙ ඇඳුම් ඇඳගෙන, මේ වගේ ස්ථානයක, මේ මේ ආකාරයට කටයුතු කරල දීපංකර බුදුන් වහන්සේගෙන් පළවෙනි නියත විවරණය ගත්තු හැටි විදහා දැක්වෙන ඒ සිදුවීම් මාලාව උන් වහන්සේ ඒ විදියටම ප්‍රකාශ කළා. එදා කතා බහ වෙච්ච වචන පවා ඒ ආකාරයෙන්ම මතකයට නැගිල ආවා. ඒ අදින් සාරා සංඛ්‍ය කල්ප ලක්ෂයකට ඉහත දී සිදු වෙච්ච දෙයක් තමයි ඒ විදියට දැකල කිව්වෙ. එතකොට එච්චර කාලයක් ගිහිල්ලත් ඒ සිදුවීම සිහි කරන්න පුළුවන් වුනේ, එදා වෙච්ච ඒ සිදුවීමට අදාළ මතක සටහන් හෙවත් නාම ගෝත්‍ර දිරාපත් වෙලා, විනාස වෙලා නොතිබ්බ්ච නිසා. ඒ නිසා අදත් කවුරු හරි ඒ වගේ දිවැසින් බලන්න පුළුවන් කෙනෙක් ඉන්නව නම්, ඒ වගේ අතීත සිදුවීම් තම තමන්ගෙ මට්ටම්වලින් නැවත මතක් කර ගන්න පුළුවන්.

හැබැයි මෙතනදි නාම ගෝත්‍ර දිරන්නෙ නැති වුනාට ඒ අවස්ථාව ගෙවිල යනවා, ඉක්මවා යනවා, අවස්ථා භංගයට හෙවත් අවස්ථා මරණයට පත් වෙනවා. මොකද නාම ගෝත්‍ර කියන්නෙත් විද්‍යමාන වෙන දෙයක්. එතකොට මොනව හරි දෙයක් ලෝකයේ විද්‍යමාන වුනා නම්, කාලය අත් හැරල විද්‍යමාන වෙන්න බෑ. ඒක කාලයත් එක්ක සම්බන්ධයි. ක්‍රමයෙන් අතීතයට යන කොට ඒක මතක් කරල ගන්න ඕන. එතකොට ඒක කාලිකයි. යමක් කාලයත් එක්ක සම්බන්ධ නැත්නම් ඒක ලෝකෝත්තරයි (ලෝකයෙන් එතෙර), අකාලිකයි. ලෝකෝත්තර නොවන ලෞකික සියල්ලම කාලයත් එක්ක සම්බන්ධයි. ඒවා කාලික දහම්. යමක් කාලයත් එක්ක සම්බන්ධ නම්, ඒකාකාරව මොහොතක්වත් තියෙන්නෙ නෑ. නමුත් එහෙම දෙයක් ලෝකෙ නෑ. නාම ගෝත්‍රත්



එහෙමයි. නාම ගෝත්‍රත් එක්ක ඒකාකාරව තියෙන දෙයක් කියන්නෙ, කාලයත් එක්ක නිශ්චලව තියෙන දෙයක් වෙන්න ඕන. නමුත් නිශ්චලව තියෙන කිසිම දෙයක් ලෝකෙ නැති නිසා ඒකාකාරව පවතින කිසිවක් ලෝකෙ නෑ. එතකොට මේ නාම ගෝත්‍රත් ඒකාකාරව පවතින්නෙ නෑ. මොකද ඒකත් කාලයත් එක්ක අතීතෙට යනවා. අතීතයට යන්න යන්න ඒක නැවත නැවත ආවර්ජනය කරන්න වෙහෙස වෙනවා. කාලයත් එක්ක ඒකාකාරව පවතින්නෙ නැති නිසා දැන් තියෙන මේ මතකය තවත් සුළු මොහොතකින් තත්පර දහයක විතර මතකයක් වෙනවා. ඒකම තවත් පැයක් යන කොට පැයකට ඉස්සෙල්ල මතකයක් වෙනවා. තවත් පැය දෙකකින්, පැය දෙකකට පෙර වෙච්ච මතකයක් වෙනවා. ඊළඟට දවසක් ගියාම ඊයෙ සිදුවීමක් කියල මතකයත් එක්ක සම්බන්ධ වෙනවා. දවස් දෙකක් ගියාම පෙරවිදා සිදුවීමක් කියල මතකයට එනවා. ඒ වගේ ක්‍රමයෙන් අතීතයට යනවා. එහෙම අතීතයට යන්න යන්න ඒක දුරස් වෙනවා.

ඒ කියන්නෙ මතකය කියන එක කාලයත් එක්ක සම්බන්ධයි. මතකය කොතැනකවත් නවතින්නෙ නෑ. මොහොතක් මොහොතක් පාසා අතීතයට යනවා. ඒ අතීතයට යන්නෙ කාලයත් එක්ක සම්බන්ධ නිසාමයි. අවස්ථා භංග වෙනවයි කිව්වෙත් ඒකයි. අවස්ථාවක් හෙවත් මොහොතක් නැත්නම්, කාලයත් එක්ක නිශ්චලව තියෙන්න ඕන. නිශ්චලව තියෙන දෙයක් ලෝකෙ නැති නිසා තමයි හැම දෙයක්ම භංග වෙනව කියන්නෙ. ඒ කියන්නෙ විනාස වෙලා, නැති වෙලා යනව කියන එක නෙවෙයි. අවස්ථාව ඉක්මවා යනවා. මතක සටහන් හෙවත් නාම ගෝත්‍රත් අවස්ථාවත් එක්ක/කාලයත් එක්ක ඉක්මවා යන නිසා භංග වෙනවයි කියනවා. ඒ කියන්නෙ සම්පූර්ණයෙන්ම විනාස වෙලා නැති භංග වෙන දෙයක් නෙවෙයි. මොකද එහෙම වුනා නම් නැවත මතක් කර ගන්න බෑ. මොහොතක් පාසා අතීතයට යනවයි කියන එක තමයි මේ කියන්නෙ. ඒ නිසා කාලිකයි.

එතකොට **කාලයත් එක්ක සම්බන්ධ නොවන දහම් කොටස් දෙකයි තියෙන්නෙ. ඒ තමයි නිවන සහ ධර්මතා (සිද්ධාන්ත හෙවත් නියම).** ඒ නිසා නිවන අකාලිකයි. ඒ වගේම ධර්ම සිද්ධාන්ත හෙවත් ධර්ම නියම (ධර්මතා) කියන ඒවත් අකාලිකයි. හැබැයි නිවන ලෝකෝත්තර වුනාට ධර්මතා ලෝකෝත්තරත් නෑ, ලෞකිකත් නෑ. ඒ වගේම ධර්ම සිද්ධාන්ත හෙවත් ධර්ම නියම කියන්නෙ ධර්ම නෙවෙයි. මේ දෙකේ ලොකු වෙනසක් තියෙනවා. අද වෙනකොට වැහිල තියෙන තවත් කාරණයක් තමයි මේ. නියාම ධර්මයි, ධර්ම නියාමයි කියන්නෙත් ඒ වගේම කාරණා දෙකක්. නියමයන්ට අනුකූලව පවතින ධර්ම - නියාම ධර්ම. ධර්මයන් පවත්වන නියමයන් - ධර්ම නියාම. එතකොට පංච නියාම කියන්නෙ එකක්. පංච නියාම ධර්ම කියන්නෙ තව එකක්. ඒ වගේම පටිච්ච සමුප්පාදය එකක්, පටිච්ච සමුප්පාද ධර්මය කියන්නෙ තව එකක්. ධර්ම කියන්නෙ යමක් දරනවා, පවත්වනවා කියන එක. නියාම කියන්නෙ ඒ පවත්වන රටාව. සිද්ධාන්තය හෙවත් ධර්මතා ☞

කියන්නෙත් ඒ රටාවට. එතකොට ඒ පවත්වන රටාව හෙවත් සිද්ධාන්තය, පවත්වන ඒවත් එක්ක තමයි ධර්ම විදියට විද්‍යාමාන වෙන්නෙ. පවත්වන ඒවා තුළ ක්‍රියාත්මක වන සිද්ධාන්තයක් තියෙනවා. අන්න ඒ සිද්ධාන්තය ධර්ම නෙවෙයි. ඒවට නාම කියල කියන්නත් බෑ. සිද්ධාන්තයට අනුවම පැවැත්ම විද්‍යාමාන වෙන දෙයක්. ඒ නිසා මේ සිද්ධාන්ත / නියම කියන ඒවා තියෙන්න තැනක්, ස්ථානයක් නෑ. ඒ නිසාම තමයි ඒවා කාලයත් එක්ක සම්බන්ධ නැත්තෙ. කාලයත් එක්ක අතීතයට යනවා, වෙනස් වෙනවා කියල දෙයක් ධර්ම නියාමවලට / සිද්ධාන්තවලට නෑ.

මේ කාරණය තවත් පැහැදිලි කළොත්, යම්කිසි හේතුවක් නිසා ඵලයක් දරනවා. දරන්නෙ යමකින් දීපු ශක්තිය නිසා. උදාහරණ විදියට බඹරයක් කරකවන කොට ඒකට ශක්තියක් දෙනවා. ඒ ශක්තිය තියෙන කල් බඹරය කැරකෙනවා. ඒ කැරකීමේ ක්‍රියාවලිය දරන්නෙ දුන්න ශක්තිය නිසා. ඒ ශක්තිය නැත්නම්, ශක්තිය ගෙවුන නම් කැරකෙනවා කියන ක්‍රියාවලියත් නතර වෙනවා. එතකොට බඹරය නැවත කරකවන්න නම් නැවත ශක්තියක් දෙන්න ඕන. අන්න ඒ ශක්තිය නිසා තමයි ඒ ක්‍රියාවලිය දරා ඉන්නෙ. එතකොට මෙතනදි ධර්ම කියන්නෙ බඹරය ක්‍රියාත්මක වීම හෙවත් කැරකීම කියන ක්‍රියාවලිය. ඒ කැරකීම දරන්නෙ ශක්තිය නිසා. කැරකෙන ද්‍රව්‍යයත්, ඒ සඳහා දුන්නු ශක්තියත් අයිති වෙන්නෙ ධර්මවලට. නමුත් ශක්තියක් දුන්නම කැරකීම කියන එක ධර්මතාවයක්. කැරකීමට හේතුව තමයි ධර්ම, දුන්නු ශක්තිය. මොකද ඒ කැරකීම හේතුවක් නැතිව වෙන්නෙ නෑ. ඒ වගේම කැරකෙන කොට ශක්තිය ගෙවෙනවා. ගෙවෙනවයි කියන්නෙ ඒ ශක්තිය ධර්මතාවයක් (නියමයක් / සිද්ධාන්තයක්) නෙවෙයි. ඒ කැරකීමේ ක්‍රියාවලිය යම් හේතුවක ඵලයක් නිසා ගෙවෙනවා. හේතුව තියෙන කල් විතරයි ඒ ඵලය තියෙන්නෙ. කැරකීම ඵලයක්. කරකවන්න යොදපු ශක්තිය නම් හේතුව නිසාමයි ඒ දරන ඵලය තියෙන්නෙ. නමුත් කැරකෙන කොට ශක්තිය ගෙවීම ධර්මතාවයක් හෙවත් සිද්ධාන්තයක්.

ඒ වගේම පටිච්ච සමුප්පාදය කියන එකත් කාලයත් එක්ක සම්බන්ධ කරන්න බෑ. කොයි කාලෙක හරි ධර්මයක් ක්‍රියාත්මක වෙනව නම්, පටිච්ච සමුප්පාද සිද්ධාන්තයට අනුව තමයි ඒක ක්‍රියාත්මක වෙන්නෙ. එතකොට ඒ සිද්ධාන්තය කොහෙද තියෙන්න කියල ඇහුවොත්? ධර්ම තුළින් විද්‍යාමාන වෙනව මිසක් තවත් තියෙන තැන් පෙන්වන්න පුළුවන්කමක් නෑ. ධර්මයක් ගොඩනැගිච්ච සිද්ධාන්තයට අනුව තමයි ක්‍රියාත්මක වෙන්නෙ. ක්‍රියාත්මක වෙනකොට එහෙම ධර්ම සිද්ධාන්තයක් තියෙනව කියල දැන ගන්නව මිසක්, තියෙන බවට දැන ගන්න වෙනත් ක්‍රමයක් නෑ. එතකොට ඒක කාලයත් එක්ක අතීතයට යන්නෙ නෑ, ඒ නිසා ඒකත් අකාලිකයි.

මේ නිසා බුදුන් වහන්සේ දේශනා කරනවා, ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ සංදිට්ඨිකෝ අකාලිකෝ කියල. හැබැයි මේ අකාලිකයි කියල කිව්වෙ ධර්ම නෙවෙයි, ධර්ම සිද්ධාන්ත හෙවත් ධර්ම නියම. නමුත් විග්‍රහ කරන කොට ව්‍යවහාරයෙදි කියන්නෙ ධර්මය අකාලිකයි කියල. බුද්ධ ධර්මය කියල කතාවට කිව්වට මේ කියන්නෙ සිද්ධාන්තයක්, නියමයක්. නමුත් අපි කතා කරන්න පුරුදු වෙලා තියෙන්නෙ බුද්ධ ධර්මය (බුදු දහම) කියල. හැබැයි ඒකෙන් අදහස් කරන්නෙ නියමයක්, සිද්ධාන්තයක්. ඒ නියමය විද්‍යාමාන වෙන්නෙ ධර්මයත් එක්ක එකතු වුණාම.



උදාහරණ විදියට ආර්ය අෂ්ටාංගික මාර්ගය නමැති නියමයක් හෙවත් සිද්ධාන්තයක් තියෙනවා. ඒක කොයි කාලෙකවත් වෙනස් වෙන්නෙ නෑ. වෙනස් නොවෙනවා කියන්නෙ ඒක හේතු ඵලයක් නෙවෙයි. නමුත් සම්මා දිට්ඨි කියන්නෙ ප්‍රඥා චෛතසිකයක් (ප්‍රඥා සිත සමග එකතු වූ). ඒක චිත්ත චෛතසිකවලට අයිතියි. ඒ කියන්නෙ නාමයක්. ඒ නිසා ලෞකිකයි. සම්මා සංකප්පය කියන්නෙ සංකල්පනා. ඒවත් චිත්ත චෛතසිකවලට අයිතියි. සම්මා වාචා (වැළකීම) කිව්වමත් චිත්ත චෛතසික සමග ක්‍රියාත්මක වෙන්නා වූ නාම කොටසට අයිතියි. වැළකීම නිසා ඒක විරති චෛතසිකයක්. සම්මා කම්මන්ත කියන්නෙත් ක්‍රියාව නෙවෙයි, වැළකීම. ඒකත් චිත්ත චෛතසිකවලට අයිතියි. සම්මා ආජීව කිව්වම කායික, වාචසික දෙකම අයිති වෙනවා. ඒ කියන්නෙ මිථ්‍යා ආජීවයෙන් වැළකීම. වැළකීමක් නිසා ඒකත් විරති චෛතසිකයක්. ඒවත් චිත්ත චෛතසික (නාම) කියන සියල්ලටම අයිතියි. සම්මා වායාමයත් ඒ වගෙයි. සම්මා සතිය කිව්වමත් චිත්ත, චෛතසිකත් එක්ක සම්බන්ධයි. සම්මා සමාධියත් එහෙමයි. එතකොට යමක් නාම (චිත්ත + චෛතසික) එක්ක සම්බන්ධ නම් ඒක ලෞකිකයි. ඒ කියන්නෙ කාලයත් එක්කත් සම්බන්ධයි. ඒ නිසා ඒවත් කාලිකයි, අවස්ථා භංගයට පත් වෙනවා.

හැබැයි ආර්ය අෂ්ඨාංගික මාර්ගය කියල සිද්ධාන්තයක් හෙවත් නියමයක් තියෙනවා. අන්න ඒ සිද්ධාන්තය අනුව තමයි මේ කියන අංග වැඩෙන්නෙ. එතකොට ඒ සිද්ධාන්තය අකාලිකයි. මොකද ඒක කාලයත් එක්ක පෙර පසුවන දෙයක් නෙවෙයි, අතීතයට යන එකක් නෙවෙයි. එතකොට ඒ සිද්ධාන්තය අනුව තමයි මේ ධර්ම ක්‍රියාත්මක වෙන්නෙ. ඒ සිද්ධාන්තය ලෞකිකද ලෝකෝත්තරද කියල ගන්නත් බෑ, ඒ දෙකටම අයිති නෑ. නමුත් ලෞකික ලෝකය ක්‍රියාත්මක වෙන්නෙ සිද්ධාන්තවලට අනුව. ඒ නිසා ලෞකික වශයෙන් වෙන් කරල ගන්න බැරි වුනාට ඒව ක්‍රියාත්මක වෙන්නෙ ලෞකික දහම් එක්ක.

හැබැයි ඒ සිද්ධාන්තවල නාම රූප කියන මේ එකක්වත් නෑ. නාම, රූප ආදිය ක්‍රියාත්මක වෙන යම් රටාවක් / ක්‍රමවේදයක් ඇත්ද, ඒක තමයි අර කිව්ව නියාම හෙවත් සිද්ධාන්ත. එතකොට සබ්බේ ධම්මා අනත්තා කිව්වොත්, අනත්ත ධර්ම තමයි අනිච්චෝ අද්ධුවෝ විපරිණාම ධම්මෝ කියල කියන්නෙ. ඒ තමයි ලෝකයට සම්බන්ධ ලෞකික දහම්. ඒ කියන්නෙ ඒවා කැමති සේ පවත්වන්න බෑ, පෙළෙනවා, විපරිනාමයට භාජනය වෙනවා. හැබැයි ඒ ධර්ම මිසක් ධර්ම සිද්ධාන්ත හෝ නියාම නෙවෙයි. නමුත් සමහරු ඒකත් නියාම / සිද්ධාන්ත කොටසටම ගන්නවා. නමුත් නියාම ධර්ම (ධර්ම) වෙනයි, ධර්ම නියාම (සිද්ධාන්ත) වෙනයි. සබ්බේ ධම්මා කිව්වම ඒකට ධර්ම නියාම අයිති වෙන්නෙ නෑ. නියාම, නියාම නොවන ඒවාට දාන්නත් බෑ, ලෝකයට දාන්නත් බෑ. ලෝකයේ ක්‍රියාත්මක වෙන සිද්ධාන්ත තමයි නියාමවලින් කියන්නෙ. ඒවට ධර්ම කියන්න බෑ. ඒ නිසා තමයි පටිච්ච සමුප්පාද ධර්මයයි, පටිච්ච සමුප්පාදයයි කියල දෙකක් වෙන් කරල කිව්වෙ.

එතකොට පටිච්ච සමුප්පාදය ලෞකිකද කියල ඇහුවොත්, ලෞකික දහම් ක්‍රියාත්මක වෙන ක්‍රමවේදය තමයි ඒකෙන් කියන්නෙ. පටිච්ච සමුප්පාද නිරෝධය කියන්නෙ ලෝකයට ☞

දාන්න බැරි එකක්. පැවැත්ම සහ පැවැත්මේ ක්‍රමවේදය එකක්. පවතින්නෙ ධර්මය. නැවැත්වීමේ ක්‍රමවේදය තව එකක්. ඒක සිද්ධාන්තයක්. ඒක තමයි පටිච්ච සමුප්පාද නිරෝධ සිද්ධාන්තය කියන්නෙ. හැබැයි ඒ නැවැත්වීමේ ක්‍රමවේදය ක්‍රියාත්මක කරන්නෙ ධර්මවලින්. එතකොට ධර්මවල වෙනස්වීම් තියෙනවා. ඒ නිසා ධර්ම අනත්තයි.

ඒ වගේම අනිච්චෝ අද්ධුවෝ විපරිනාම ධම්මෝ කියන කොටසට ක්‍රමවේද (සිද්ධාන්ත / නියාම) අහුවෙන්නෙ නැති වුනත් ඒවත් අනත්තයි. මොකද ඒකෙත් අල්ලන්න වටින දෙයක් නෑ. මේ ලෝකෙ පවතින ධර්ම නියාම / සිද්ධාන්තවල මොනවද අල්ලන්න තියෙන්නෙ? හරයක් තියෙනවද? ඒවායින් හදන්නෙත් ලෝකයක් නම් අල්ලන්න වටින දෙයක් නෑ. යම් දහමක් ගෙවෙනව නම් ඒ ගෙවෙන ක්‍රමවේදය හෙවත් සිද්ධාන්තවල අපිට අල්ල ගන්න දෙයක් නෑ. අනික් කාරණය තමයි දහම් සිද්ධාන්තවල විදර්ශනා කරන්න දෙයක් නෑ. මොකද යමකින් දුක ගෙන දෙනවද ඒක තමයි විදර්ශනා කරන්න ඕන. නමුත් දහම් සිද්ධාන්ත කාටවත් දුක ගෙන දෙන්නෙ නෑ. ඒක ත්‍රිලක්ෂණයට දාල බලන්න දෙයක් නෑ. සිද්ධාන්ත ගොඩ නගපු ධර්ම තමයි දුක ගෙන දෙන්නෙ. ඒ අනුව හරයක් නැති නිසා සිද්ධාන්ත කියන ඒවත් අනත්තයි. නමුත් නිවන අනත්ත නෑ. පරමත්ථ කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ පවත්වන්න දෙයක් නෑ. පරම කිව්වම අර්ථ 2 ක් තියෙනවා. ''උපරිමයි, එකම'' කියන්නෙ එක අර්ථයක්. ඒ වගේම අති උතුම් හරවත් දේ කියන අදහසිනුත් පරම කියනවා. නිවන හැර වෙන කිසිම දෙයක් පරමත්ථ නෑ. අනික්වා ඔක්කොම අනත්තයි. ඒ කියන්නෙ අල්ල ගන්න හරයක් නෑ.

එතකොට සිද්ධාන්ත කියන්නෙ නිවන නෙවෙයි. නිවන නොවන තවත් අකාලික දෙයක් තියෙනවා. ඒක තමයි සිද්ධාන්ත / නියම හෙවත් ලෝක ධර්මතාවය කියන්නෙ. මේ නිසා අකාලික දහම් 2 යි තියෙන්නෙ. ඒ තමයි නිවන සහ සිද්ධාන්ත (ධර්මතා). ධර්මතාවය එකක්, ධර්මය තව එකක්. මේ කාරණා 2 ක්. නමුත් මේ දෙකම අනත්තයි. හැබැයි මේ ධර්මතා හෙවත් සිද්ධාන්තවල තථ, අවිතථ, අනඤ්ඤථ, ඉදප්පච්චේතා කියන ලක්ෂණ තියෙනවා. ඒ කියන්නෙ මේ පටිච්ච සමුප්පාද ධර්මතාවය එසේමයි, වෙනස් වෙන්නෙ නෑ, අන්‍යතාවයකට පත් වෙන්නෙ නෑ. ඒවා ලෝක ධර්ම නෙවෙයි, ධර්මතා. උදාහරණ විදියට අපි දන් මතක් කරගෙන කියන විවිධ කතා අයිති වෙන්නෙ ධර්මවලට. මොකද ඒව කාලයත් එක්ක සම්බන්ධයි. ඒ නිසා කාලයත් සමග ක්‍රමයෙන් අතීතයට යනවා. අවස්ථාභංගයි. එතකොට මතක් කරල තමයි ඒව කියන්න වෙන්නෙ. ඒ නිසා තමයි ඒවා තථ, අවිතථ ආදී වශයෙන් කියන්නෙ නැත්තෙ. කාලයත් එක්ක මොහොතක් හරි අතීතයට යන නිසා කාලිකයි. උදාහරණ විදියට අවිද්‍යා, සංඛාර කියන්නෙ ධර්ම. නමුත් ධර්මතා කිව්වම කොයි කාලෙකවත් අතීතයට යාමක් නෑ. උදාහරණ විදියට අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ කිව්වොත් ඒක ධර්මතාවයක්.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 33 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** - ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඇල්. අමරසිංහ මහතා - පිළියන්දල ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** - ♦ඇමරිකාවේ පදිංචි රොඩ්නි කෲස් දබ්රේරා මහතා ඇතුළු පවුලේ සැම - රු. 22,500/- ♦සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම- කුරුණෑගල - රු. 10,000/- ♦ චන්ද්‍රසීලි ඒකනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - කුරිපොත්ත - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව -ගල්කිස්ස - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා සහ ඉරෝෂානි ලොකුමාන්න මහත්මිය - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනෙවිය - මහරගම - රු.5,000/- ♦ඉතාලියේ කටානියෝ නුවර ශ්‍රී ලාංකික තරුණ පිරිසක් - රු. 5,000/- ♦එච්.ඒ. නිමාලිකා සඳරුවන් මහත්මිය - නුගේගොඩ - රු. 5,000/- ♦ජේ.ඩී. ගුණසේන මහතා - දූල්ලෑව, මාතලේ - රු. 5,000/-♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 3,500/- ♦ එච්.ඩී. සරිත් මහතා - ගාල්ල - රු.3,350/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ නන්ද සුදුසිංහ මහතා ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500/- ♦ ඩබ්.කේ. නලිනසේකර මහතා සහ ඩබ්.ප්‍රේමවතී මහත්මිය - වළල්ලාවිට - රු. 2,500/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 2,500/- ♦ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු. 2,500/-♦ රොෂාන් කුමාර මහතා - පැලවත්ත - රු. 2,500/-♦ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ ඩබ්.ටී. අමරදාස මහතා - පාදුක්ක - රු. 2,000/- ♦ ගීත්මාලා ආරියවර්ධන මහත්මිය - මහරගම - නැසීගිය පියාණන්ට පිං පිණිස - රු. 2,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා - මාලබේ - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ රත්න ශ්‍රී ද සිල්වා මහතා - කෝට්ටේ - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ග්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ සී. එම්. පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත තිලකරත්න පුතා - හොරණ - රු. 1,000/- ♦ පී.ඩී. ජිනදාස මහතා - වළල්ලාවිට - රු. 1,000/- ♦ මාලනී සිරිමාන්න මහත්මිය - රදාවාන - රු. 1,000/- ♦ පුබුදු කමල් දසනායක මහතා - හොරණ - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න

ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සුනිමල් කුමාරතුංග මහතා - අවිස්සාවේල්ල -1,000/- ♦ එස්. පද්මලතා මහත්මිය - යටවක - රු. 1,000/- ♦ සෝමා කස්තුරිආරච්චි මහත්මිය ඇතුළු පවුලේ සැම - රු. 1,000/- ♦ විමලා සේනාරත්න මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ♦ සේනානි පට්ටිආරච්චි මහත්මිය - දකුණු උඩුව - රු. 1,000/- ♦ ස්වර්ණා සෝමරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - දඹුටුව - රු. 1,000/- ♦ එල්.එස්.කේ. චන්ද්‍රසේන මහතා - වරපලාන - රු. 1,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු.1,000/- කේ.ජී. ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - හොරතුඩුව - රු.1,000/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ ජයනාත් සුහසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු.1,000/- ♦ ඩබ්.විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු.1,000/- ♦ ජනිඳු බිම්සර පුතා - මීරිගම - රු. 1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මෙනවිය, කුසුමාවතී ගුණතිලක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, දීපශිකා වීරසූරිය මහත්මිය, හෙසඳ සත්කුමාර මහතා - මල්කඩුවාව, රසික තුශාන්ත මහතා - හෝමාගම, ජනිත හසාර ජයකොඩි පුතා - අත්තිඩිය, ගාමිණී සිරිමාන්න මහතා - රදාවාන, ජීවා මහත්මිය - රාජගිරිය, දිනුල රන්ධීර පුතා, යශෝධා ගීතාංජලී, මහේෂිකා රන්මලී, අරුණ නිශාන්ත මහතා - රු.12,300/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 172,150/- ♦ පළමු පිටපත් 10,000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 11,320/- ♦ සම්පූර්ණ වියදම - රු. 243,820/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර් පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට් අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල.
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**
**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# අල්වා ගත් තරමටයි දුක...

දකින දකින ලොව නෙක දෑ සිත බඳවා
රකින අදහසින් තම රිසි ලෙස හදවා
සිටින තැනද හැර සත සිත කය රිදවා
හැඳින නොගෙන ලොව මියයයි දුක විඳවා

බදා ගත්තු තරමට එන දුක් ගින්න
බෙදා නොබල නොපෙනෙයි කවරක් වැන්න
වදා හැදුව නෙක දෑ සුවයක් ගන්න
සදා නොමැත පවතින සතුටක් දුන්න

මම මගෙ කියා අල්වා ගත් අනත භවේ
මෙම කල තවත් එක් භවයකි ඉවර නොවේ
හැම විට බදා ගත් නෙක දෑ ගෙවෙන ලොවේ
ඇම ලෙස දුකම දෙනු මිස නැත පරම සුවේ

සොර බිය සතුරු බිය නෙක බිය සමග එන
මර බිය නොයෙක ගිනි ගෙන දෙන ලොවක තැන
කර ගෙන මම මගේ ලෙස මළ විටදී දෙන
සරණය කිමද අල්වා ගත් තැනක වන

දේපල මිල මුදල් නෑ සිය අඹු දරුවා
මේ බලපන් කියා ලෝකය ගෙන දැරුවා
කෝ එල එ හැම කල් ගත වෙන විට දිරුවා
ලෝ තුළ වුවොත් මේ වෙයි නොපෙනෙන මරුවා

හත් මුතු පරපුරම රැක දෙනු පිණිස කියා
අත් කර තබන දේපල උන් නමට ලියා
වත් පිළිවෙත් නොපුර ඉඳ තව ධනය සොයා
සිත් සැනසුමක් නැත යන විට දෙනෙත පියා

තම කය නිසා පමණක් එන දුක දාහේ
හැම අය කෙරෙහි ඇත අත් දැකුමට සෑහේ
පෙම කර ලොවට කඳුළැලි කොපමණ වෑහේ
නිම නැත විඳින දුක තිබෙනා තුරු මෝහේ

ගතින් නොව සිතින් අත හැර ලබන සුවේ
වෙතින් ලැබෙන නිදහස යළි පළුදු නොවේ
නිතින් ධනය තිබුණද කෙළ ලෙසට ලොවේ
සිතින් නොහැරියොත් යළි යළි සසර දැවේ

අත හැර මිදෙන විට ඇති වන සැනසීම
සිතකට දැනෙයි කළ යුතු නැත වෙහෙසීම
ගතකට නොදැනෙනා ඒ සුව පැවසීම
නැත වැටහුම් නිසා අවිදුවෙ ගැවසීම

සියයක් බදා ගත් කෙනෙකුට නොමැති තුට
දහයක් බදා ගත් කෙනෙකුට දැනෙන විට
කිසිවක් සිතින් නොබදා ගත් කෙනෙකු හට
සුවයක් දැනේ මිහි පිට නැති විලසකට







පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# හේතුඵල දහම













හයකින් එතුනේ හේතුව යන දම් අරුත දැනන් වැඩ කරන කලා<br>
ළයකින් එන දුක් දාහය දුරු වී ගෙන යයි අරමුණ නිවන බලා<br>
මියකින් සත සෙත පතුරා මොහොතක් හිටියත් හේතුව හැරෙති සලා<br>
නියකින් දම් හේතුව නැති තැන ඉන් දුක් විඳිනට ඉඩ නොමැත පෙලා

තුන් දොස සහ තුන් නිදොස කියන මේ කරුණු හයෙන් භව ගමන තනා<br>
ඉන් සත උපදී දුගති සුගති යන තිස් එක් තලයක නොයෙක තැනා<br>
පින් පවු මුල් වී විඳිනා දුක් සැප ඒ ඒ අත් බැව ගෙවන දනා<br>
නන් ලෙස සිතමින් ඇසුරට වටිනා දෙයකැයි සලකති නැතිව නැණා

නොව අහඹුව කිසිවක් ලොව සිදු වන හේතු ඵල දහම් නියම යෙනා<br>
තව තව නව දෑ කියමින් සෙව්වද ඒ හැම දම් නිය අනුව වෙනා<br>
ලොව ඇති නෙක නෙක ආගම් මොනවා කීවත් සත සිත මුලට එනා<br>
පවතින දම් පිළිසමුපන්නම වෙයි දැක ගත හැක ඇති විටදී නැණා

පෙර කළ හේතුව නොදැන නොවිමසා ලැබුණු ඵලය ගැන කුමන කතා<br>
දරනට අකමැති වුවද ඵලය හේතුව තම සිත බව දැකිය යුතා<br>
කරනට පෙර සංකර වැඩ ගැන ඉන් ලැබෙන ඵලය ගැන නොදැන යතා<br>
දුර දිග ගිය විට වැළපෙන්නට වෙයි විසඳුම් දෙන එක පහසු නැතා

නැති තැන හේතුව ඵලය නිරුධ වී ඉන් ගෙන දුන් දුක යළි නොඑනා<br>
ඇති නැති වාදය ඉවත දමා තුන් ලොවින් එතෙර වන හැටි දකිනා<br>
හති වැටෙනා තෙක් සසර සැරී සැරූ හේතු අඳුන ගෙන යළි නොතනා<br>
සිතිවිලි එන විගසම සිහියෙන් දැන තෝරා ගනු හිටියද කොතැනා

හොඳ නරකද යන මෙ දෙකින් හැදෙනා හේතු ඵල දහම් නිය ගාවා<br>
බැඳ ගෙන ඇති ලොව අත් හරිනට රුකුලක් දෙන යහ දම් මග වේවා<br>
විඳවන දුක් කඳ සදහට උදුරා දමන දහම් හඬ යළි ඒවා<br>
අඳ ගොළු බිහිරන් ලෙසට නොඉඳ තව මිදෙන දහම ගෙන සැන සේවා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී